සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2559ක් වූ නිකිණි මස (ව්‍යවහාරික වර්ෂ 2015 අගෝස්තු)

47 වෙනි කලාපය



## නවග්‍රහයින්ගේ බිහිවීම දහම් ඇසින්...

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 20/-

# ආස්වාදය ගෙනෙයි භව දුක



වේ නම් ආස්වාදය බාහිර දේක
නෑ කිසි වෙනස හැමටම ගෙන දෙති ඒක
පෑ හිත මිසක අස්වාදය දෙන නේක
බෑ පවතින්න තිර ලෙස එය කිසි දාක



එකම ගැහැණියක හෝ පිරිමියෙකු දෙස
දැකල ගන්න අස්වාදය කෙනෙකු බැස
දුකම ගෙනෙයි තවකෙකු එය දකින ඇස
මෙකය නෙවෙයි අස්වාදය හිතම මිස



බහු විධ ආස්වාදය ලොව සතට ඇතී
අහු වෙත හිතට එකිනෙක හට සමව නැතී
පහු වෙන විටදි එය නොදැනම ගෙවිල යතී
පුහු දන මෙබව නොම දැන මහ අගය දෙතී



තිබුනොත් ආස්වාදය සිව් දහතු වල
නැති වෙත් වෙනස හැමටම දෙති එකම එල
අරිහත් විටදි අස්වාදය නොමැති කල
නොම වෙත් හිතෙහි මිස බාහිර දෙයක තුළ



දැනෙන සැප නෙවෙයි සත හට දුක දෙන්නේ
ගැනෙන ආස්වාදයමයි රවටන්නේ
නිවන දුටු රහත් තුමටත් සැප එන්නේ
නැණෙන වටහ ගත් විට හිත නොබැඳෙන්නේ



වැනසිය නොහැකි වෙයි බාහිර ලොවෙහි සුවේ
මනසට නොබැඳි සිටිතැක දැන ගෙනම ලොවේ
එනමුදු දැනෙන සුව කිසි ලෙස අඩුද නොවේ
නැණසින් නොගත් විට වැනසෙන විටදි තැවේ



හොඳයි වටිනවයි කියමින් දුවන කලේ
බැඳෙයි ඊට හිත තව තව සොයති ලොළේ
හදයි රකින්නට රිසි ලෙස ලැබෙන එලේ
මදැයි ගෙවුන විට වැළපෙයි වැටිල වලේ



පිරවිය නොහැකි අස්වාදය සතගෙ සිතේ
වරදකි නොදකිනා කල් එය දුකම දෙතේ
පෙර කල පිරුණ නම් අද සත මෙතැන නැතේ
හර බර දහම දුටු විට අම සුවය ඇතේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# සද්ධර්ම ප්‍රතිරූපක පහළ වීමෙන් ශ්‍රී සද්ධර්මය වැනසෙන හැටි



අති දීර්ඝ කාලයකට පසු තථාගතයන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙලා, වැසී ගිය ලෝකයේ යථාර්ථය මතු කරල දෙනවා. ඒ තමයි ශ්‍රී සද්ධර්මය. ඒ උතුම් සත්‍යය කාලයෙන් කාලයට යටපත් වීම, නැවත මතු වීම, නැවත යටපත් වීම වරින් වර සිද්ධ වෙනවා.

සද්ධම්මෝ පරම දුල්ලභෝ කියන දම් පද දේශනාව අනුව, මේ ලෝකයේ දුර්ලභ කාරණා අතර සද්ධර්මය පරම දුර්ලභයි. ''යාවතා භික්ඛවේ ධම්මා සංඛතා වා අසංඛතා වා විරාගෝ තේසං ධම්මානං අග්ගමක්ඛායති'' කියන තථාගත දේශනයෙන්, මේ ලෝකයේ පහළ වන සංඛත, අසංඛත ධර්ම අතර විරාගී වූ ශ්‍රී සද්ධර්මය අග්‍ර බව පැහැදිලි කරල තියෙනවා. යමෙක් ඒ ශ්‍රී සද්ධර්මය කෙරෙහි සිත පහදවා ගන්නවද, ඒ පුද්ගලයා මේ ලෝකයේ පැහැදෙන්න තියෙන කරුණු අතර අග්‍රස්ථානයේ සිත පහදවා ගත්ත කෙනෙක් බවට පත් වෙන අතරම, අග්‍රවූම සැප විපාක ලබන කෙනෙකුත් වෙනවා. (යේ භික්ඛවේ ධම්මේ පසන්නා, අග්ගේ තේ පසන්නා, අග්ගේ ඛෝ පන පසන්නානං අග්ගෝ විපාකෝ හෝති)

මේ වගේ උත්තම ශ්‍රී සද්ධර්මය කාලයාගේ ඇවෑමෙන් යටපත් වෙලා යාමත් ස්වභාවිකයි. බුදු රජාණන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලයේම ධර්මය විකෘති කිරීම් සිද්ධ වෙලා තියෙනවා. බුද්ධ පරිනිර්වාණයෙන් පසු ඒ විකෘතිය තවත් වර්ධනය වූ බව සාසන ඉතිහාසය දෙස විමසා බැලීමෙන් පෙනී යනවා. ඒ ඒ යුගවල වැඩ හිටපු සිවු පිළිසිඹියාපත් මහ රහතුන් වහන්සේලා ධර්ම සංඝායනා කරල, අධර්මය යටපත් කරල ධර්මය නගා සිටුවන්න කටයුතු සම්පාදනය කළා.

සිවු පිළිසිඹියාපත් ආර්ය උත්තමයන් වහන්සේලා නැති යුගවල යම් සදහම් ප්‍රතිරූපක (සද්ධර්මය වගේ දේවල්) පහළ වුනොත්, ඒවායේ සත්‍ය අසත්‍ය බව නිරාකරණය කරල, අධර්මය යටපත් කරල, ධර්මය නගා සිටුවන්න අවස්ථාවක් ලැබෙන්නෙ නෑ. ධර්මයේ මුහුණුවරින් පහළ වන ඒ වගේ අධර්මයන් ධර්මය විදිහටම සමාජගත වෙනවා. දිගු කාලයක් මේ විදිහට පැවතිලා, **යම් කාලයකට පසු ධර්මය විග්‍රහ කරන්න පුළුවන් උතුමෙක් පහළ වෙලා, මෙතෙක් පැවති සද්ධර්ම ප්‍රතිරූපකවල වරද, ධර්ම විනයට අනුව පෙන්වා දෙන්න වෑයම් කළොත්, ඒ උතුමා ධර්මය විකෘති කරන්නෙක් විදිහට හංවඩු ගහන්න, සද්ධර්ම ප්‍රතිරූපක ධර්මය විදිහට පිළිගත්තු ඇතැම් අය විරුද්ධව පෙළ ගැහෙනවා.** මේ ගැටළුව තථාගතයන් වහන්සේ ලෝකයට පහළ වෙලා සත්‍යය ප්‍රකාශ කරන කොටත් සිද්ධ වුනා. ''සත්‍ය මේව ජායතේ'' කියන කියමන අනුව, ටික කාලයක් ඒ විදිහට විරෝධතා මතු වුණත් ඒ සියල්ල හිරු දුටු ගණ අඳුරක් වගේ යටපත් වෙලා සත්‍යය ජයගෙන ධර්මය ලෝකයේ විරාජමාන වෙනවා.

වර්තමානයෙත් සද්ධර්ම ප්‍රති-රූපකවලින් ධර්මය යටපත් වෙලා තියෙනවා. ඒ නිසා සියවස් ගණනාවක පටන් මහ රහතන් වහන්සේලාගේ, මගඵල ලාභී උතුමන්ගේ පහළ වීම නතර වෙලා තියෙනවා. තථාගත දේශනාවක මේ විදිහට සඳහන් වෙනවා. ''වරදවා පිහිටුවන ලද හැල් නංඩුව පාදයේ ඇනී තුවාල වෙනවා යනු සිදු නොවන්නකි. එමෙන් වරදවා පිහිටුවන ලද මාර්ග ප්‍රතිපදාවෙන් මගඵල නිවන් සාක්ෂාත් කරනවා යනු සිදු නොවන්නකි'' වර්තමානයේ සිද්ධ වෙලා තියෙන්නෙත් මේ තත්ත්වයමයි.

දැනට සිද්ධ වෙලා තියෙන මේ සාසන පරිහානිය නැවත නගා සිටුවන්න නම්, ඒ සඳහාම පැමිණි සත් පුරුෂ උතුමෙකුගේ පහළ වීමක් සිද්ධ විය යුතුයි. අතීත බුදු රජාණන් වහන්සේලාගෙන් ශ්‍රාවක විවරණ ලබාගෙන, යටපත් වෙලා ගිය ධර්මය නැවත නගා සිටුවන්න ඒ වගේ උතුමන් කලින් කලට ලෝකයට පහළ වෙනවා. ඒ වගේ ක්‍රමයකින්ම, නැවත යටපත් වෙලා ගිය සද්ධර්මය මතු වෙලා ආර්ය උතුමන් බිහි වෙනවා හැර, වෙනත් කිසිදු ක්‍රමයකින් වැසී ගිය නිවන් මග නැවත එළි පෙහෙළි කරන්න බෑ. දැනට වසර දෙදහස් හයසීයකට පෙර, අනාගතයේ සද්ධර්මය අතුරුදන් වෙන බව දැකල, සාසනය පිරිහෙන හේතු කාරණා රාශියක් සූත්‍ර දේශනාවලින් තථාගතයන් වහන්සේ පෙන්වා දීල තියෙනවා. ඒ වගේ බුද්ධ දේශනා ඇසුරෙන්, ශ්‍රී සද්ධර්මය යටපත් වෙලා තියෙන හැටි පැහැදිලි කිරීම තමයි මේ දහම් ලිපියෙන් බලාපොරොත්තු වෙන්නෙ.

සංයුක්ත නිකායේ කස්සප සංයුක්තයේ සද්ධර්ම ප්‍රතිරූපක සූත්‍රයෙන්, කාශ්‍යප තෙරුන්ට බුදුන් වහන්සේ මේ විදිහට පැහැදිලි කරනවා. ''කාශ්‍යපය, සත්වයා පිරිහෙන විට, සද්ධර්මය අතුරුදන් වන විට ශික්ෂා පද බහුල වේ. ඒ කාලයේ අරිහත්වයට පත්වන භික්ෂූන්ද අඩු වී යයි. කාශ්‍යපය යම් තාක් සද්ධර්ම ප්‍රතිරූපක පහළ නොවෙයිද, ඒ තාක් සද්ධර්මය අතුරුදන් නොවේ. යම් කලෙක

සද්ධර්ම ප්‍රතිරූපක පහළ වෙයිද එදාට තථාගත ශ්‍රී සද්ධර්මය අතුරුදන් වේ.'' (යථෝච බෝ කස්සප සද්ධම්ම පතිරූපකං ලෝකේ උප්පජ්ජති, අථ සද්ධම්මස්ස අන්තරධානං හෝති

තථාගතයන් වහන්සේ මේ කාරණය උපමාවකින් මේ විදිහට පැහැදිලි කරනවා. රත්රන් හා සමාන දේවල් ලොව පහළ නොවන තාක් නියම රත්රන් අතුරුදන් නොවේ. යම් කලෙක රත්රන් වගේ දේවල් පහළ වෙයිද, එවිට නියම රත්රන් අතුරුදන් වේ. රත්රන් නොවන දේවල් රත්රන් ලෙස භාවිතයට පැමිණේ. තථාගත ශ්‍රී සද්ධර්මයට සිදු වන්නේද මෙවැනිම දෙයකි.

සද්ධර්මය අතුරුදන් වීමට හේතු වන කරුණු පහක්, කාශ්‍යප හිමියන්ට බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. කාශ්‍යපය, මේ ශාසනයෙහි භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා යන සිවු පිරිස බුදු රජාණන් වහන්සේ කෙරෙහි ගෞරවය, යටහත් පැවතුම් නැත්තේද, ධර්මය කෙරෙහි ගෞරවය, යටහත් පැවතුම් නැත්තේද, සංඝයා කෙරෙහි ගෞරවය, යටහත් පැවතුම් නැත්තේද, ශික්ෂාව කෙරෙහි ගෞරවය, යටහත් පැවතුම් නැත්තේද, සමාධිය කෙරෙහි ගෞරවය, යටහත් පැවතුම් නැත්තේද, මේ කරුණු පහෙන් යුක්ත වීමෙන් සද්ධර්මය අතුරුදන් වේ. සිවු පිරිස බුද්ධ, ධම්ම, සංඝ යන තුනුරුවන් කෙරෙහි ගෞරවය, යටහත් පැවතුම් ඇති බව, ශික්ෂාව සහ සමාධිය කෙරෙහි ගෞරවය, යටහත් පැවතුම් ඇති බව කියන කරුණු පහෙන් යුක්ත වීමෙන් සද්ධර්මය අතුරුදන් නොවීමට, ආරක්ෂා වීමට, සසුන නොනැසීමට හේතු වේ.

දවසක් ධර්ම භාණ්ඩාගාරික ආනන්ද හාමුදුරුවන්ගෙන්, ස්වාමීනි තථාගතයන් වහන්සේ පිරිනිවීමෙන් පසු සද්ධර්මය බොහෝ කලක් නොපැවතීමට හා දිගු කලක් පැවතීමට හේතු මොනවද කියල භද්‍ර කියන භික්ෂුව ප්‍රශ්න කළාම, ආනන්ද හාමුදුරුවො මේ විදිහට පැහැදිලි කළා. ඇවැත්නි කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා යන සතර සතිපට්ඨානය නොවැඩීම, බහුල වශයෙන් නොවැඩීම නිසා බුද්ධ පරිනිර්වාණයෙන් පසු සද්ධර්මය බොහෝ කලක් නොපැවතීමට හේතු වන අතර, සතර සතිපට්ඨානය වැඩීම, බහුල වශයෙන් වැඩීම නිසා සම්බුද්ධ පරිනිර්වාණයෙන් පසු සද්ධර්මය බොහෝ කලක් පැවතීමට හේතු වේ. (ස.නි. සතිපට්ඨාන සංයුක්තය - <u>ඨිති හා පරිහාන සූත්‍ර</u>)

මහණෙනි, මේ සුගත විනය දෙව් මිනිසුන්ට හිත සුව පිණිස වෙයි. මහණෙනි සද්ධර්මය විනාශ වීමට, අතුරුදන් වීමට කරුණු 4 ක් හේතු වේ. ඒ හතර මෙසේය.

(1) වැරදි ලෙස ඉගෙන ගත් සූත්‍රාන්ත වැරදි පද ව්‍යඤ්ජන ඇතිව ඉගෙනීම, වැරදි පද ව්‍යඤ්ජනවල අර්ථයද වැරදි වේ. මේ පළමු කරුණයි.

(2) භික්ෂූන් අකීකරු වෙති. අවවාද අනුශාසනා නොපිළිගන්නේ වෙයි. ඉවසීමෙන් තොරව අනුශාසනා ගෞරවයෙන් නොපිළිගන්නේ වෙයි. මේ දෙවන කරුණයි.

(3) මහණෙනි, බහුශ්‍රැත, ධර්මධර, විනයධර, මාතෘකාධර තෙරවරුන් සකසා (මනා ලෙස, පිළිවෙලට, පැහැදිලිව) සූත්‍රාන්ත අනුන්ට නූගන්වති. ඔවුන්ගේ ඇවෑමෙන් සූත්‍රාන්ත විනාශ වෙයි. පිළිසරණ නැති වෙයි. මේ තෙවන කරුණයි.

(4) මහණෙනි, ස්ථවිර භික්ෂූන් ප්‍රත්‍ය බහුලව ලැබීම පිණිස සසුන් පිළිවෙත ලිහිල් කොට ගනිති. පංච නීවරණවලින් යුක්ත වී විවේකයෙහි වීර්ය බැහැර කරති. නොපැමිණි ඵලයට පැමිණීමට, නොලත් සසුන් ප්‍රතිඵල ලැබීමට, පසක් නොකළ දහම් පසක් කිරීමට විර්යාරම්භ නොකරති. පශ්චිම ජනතාවද ඔවුන් අනුව යති. ඔවුන්ද ධර්මය ලිහිල්ව ගෙන වීර්ය නොවඩති. මේ සතර වන කරුණයි. (අ.නි. චතුක්ක නිපාතය - <u>සුගතවිනය සූත්‍රය</u>)

මහණෙනි සද්ධර්මයේ පැවැත්මට, අවිනාශයට හේතු වන කරුණු සතරකි.

1. මේ ශාසනයේ භික්ෂූන් නිවැරදි වැදගත් සූත්‍රාන්ත, නිවැරදි පද ව්‍යඤ්ජන සහිතව ඉගෙන ගනිති. නිවැරදි පදවල, ව්‍යඤ්ජනවල අර්ථයන් පහසු වේ. මේ පළමු කරුණයි.

2. භික්ෂූන් සුවච (කීකරු) වෙති. ඉවසීමෙන් යුක්ත වෙති. අවවාද අනුශාසනා ගෞරවයෙන් පිළිගනිති. මේ දෙවන කරුණයි.

3. භික්ෂූන් බහුශ්‍රැතව, විනයධරව, ධර්මධරව ධර්මය සකසා අනුන්ට උගන්වති. එම භික්ෂූන්ගේ අභාවයෙන් පසු සූත්‍රාන්ත විනාශ නොවෙයි. පිහිට සහිත වෙයි. මේ තෙවන කරුණයි.

4. ස්ථවිර භික්ෂූන් සිවුපසයට කෑදර නොවී ශාසන ප්‍රතිපදාව ලිහිල් කොට නොගෙන පංච නීවරණවලට නොඇලී විවේකය මුල් කර ගෙන, නොපැමිණි ඵලයට පැමිණීමට, නොලත් සසුන් ප්‍රතිඵල ලැබීමට වීර්ය කරති. පශ්චිම ජනතාවද එම භික්ෂූන් අනුගමනය කරමින් ශාසන මාර්ගයට වීර්ය කරති. මේ සතර වන කරුණයි. මේ සතරාකාර දහම ශාසනයේ පැවැත්ම පිණිස අවිනාසය පිණිස හේතු වේ. (අ.නි. සුගතවිනය සූත්‍රය)

මීට අමතරව සද්ධර්මයේ ආරක්ෂා වීමට හේතු වන කරුණු දෙකක් හා සාසනයේ විනාසයට හේතු වන කරුණු දෙකක් අංගුත්තර නිකායේ දුක නිපාතයේ සඳහන් වෙනවා.

මහණෙනි, මේ ධර්මතා දෙක සද්ධර්මයේ පැවැත්ම පිණිස, විනාශ නොවීම පිණිස, අතුරුදන් නොවීම පිණිස පවතී. ඒ කාරණා දෙක නම්, පිළිවෙල නොඉක්මවා නිවැරදිව ගත් පෙළ දහම හා පිළිවෙල නොඉක්මවා නිවැරදිව ගත් අර්ථ විවරණද යන කරුණු දෙකයි. එසේම සද්ධර්මය විනාශ වීමට හේතු වන කරුණු දෙකක්ද පවතී. එනම් පිළිවෙල ඉක්මවා වරදවා ගත් පෙළද, වරදවා ගත් අර්ථ විවරණද යන කරුණු දෙකයි.

ගෞතම සම්බුද්ධ සාසනයට අනාගතයේ සිද්ධ වන නොයෙකුත් උපද්‍රව කල් තියාම අනාගතංශ ඤාණයෙන් තථාගතයන් වහන්සේ දැක්කා. ඒ නිසා සාසනයේ පැවැත්ම උදෙසා, සාසනය ආරක්ෂා කර ගන්න විවිධ දේශනා තුලින් කරුණු පැහැදිලි කළා. අනාගත භය නමින් සූත්‍ර හතරකින් සාසනයට ඇති වන බය උපද්‍රවයන් පිළිබඳ සියලු දෙනාටම සිතා බැලිය යුතු කරුණු රාශියක් දේශනා කළා.

මහණෙනි, දැනට පහළ වී නැති, මතු අනාගතයේ සාසනය තුල පහළ වන භය පහකි. (අං. නි - පංචක නිපාතය - <u>තතීය අනාගත භය සූත්‍රය</u>)

(1) මහණෙනි මතු කාලයෙහි කාය භාවනා, සීල භාවනා, චිත්ත භාවනා, පඤ්ඤා භාවනා නොවැඩූ භික්ෂූන් අනුන් උපසම්පදා කරති. ඔවුහු අධි සීල, අධි චිත්ත, අධි පඤ්ඤාවෙහි හික්ම වීමට අසමත් වෙති. ඒ භික්ෂූන්ද කාය, සීල, චිත්ත, පඤ්ඤා භාවනා නොවැඩූ අය වෙති. ඔවුන්ද අනුන් උපසම්පදා කරති. ඒ අයද අධි සීල, අධි චිත්ත, අධි පඤ්ඤාවෙහි හික්ම වීමට අසමත් වෙති. ඒ භික්ෂූන්ද කාය, සීල, චිත්ත, පඤ්ඤා භාවනා නොවැඩූ අය බවට පත් වෙති. මහණෙනි මෙසේ ධර්මය පිරිහීමෙන් විනය පිරිහේ. විනය පිරිහීමෙන් ධර්මය පිරිහේ. මේ පළමු අනාගත බියයි.

(2) මහණෙනි අනාගතයේ කාය, සීල, චිත්ත, පඤ්ඤා භාවනා නොවැඩූ භික්ෂූන් අනිත් අයට නිස දෙති (අවවාද අනුසාසනා කරමින් ඇසුරු කිරීම). ඒ භික්ෂූන්ද තවත් අයට නිස දෙති. ඔවුහු ද කාය, සීල, චිත්ත, පඤ්ඤා භාවනා නොවැඩූ අය වෙති. මෙසේ ධර්ම පරිහානියෙන් විනය පරිහානියත්, විනය පරිහානියෙන් ධර්ම පරිහානියත් සිදු වේ. මේ දෙවන අනාගත බියයි.

(3) මහණෙනි කාය, සීල, චිත්ත, පඤ්ඤා භාවනා නොවැඩූ භික්ෂූන් අභිධර්ම කථා, වේදල්ල කථා කියන විට අකුසල ධර්මවලට වැදී අවබෝධ නොකරති. මෙසේ ධර්ම පරිහානියෙන් විනය පරිහානියද, විනය පරිහානියෙන් ධර්ම පරිහානියද සිදු වේ. මේ තෙවන අනාගත බියයි.

(4) මහණෙනි තථාගතයන් වහන්සේ විසින් දේශනා කරන ලද ගැඹුරු අර්ථ ඇති ලෝකෝත්තර, ශූන්‍යතා ධර්මයෙන් යුතු සූත්‍ර දේශනා කරන විට ඇසීමට කැමති නොවෙයි, කන් යොමු නොකරයි, එය ඉගෙනීමට සිත නොයොදයි. ඒ ධර්ම, ඉගෙන ගත යුතු පුහුණු කළ යුතු ධර්ම කියා නොසිතයි. කවීන් විසින් ගොතන ලද විසිතුරු අකුරු පද ව්‍යඤ්ජනවලින් යුතු බාහිර ශ්‍රාවකයන් කියන ලද සූත්‍රාන්ත ඇසීමට, දැන ගැනීමට, ඉගෙනීමට සිත යොදයි. මේවා ඉගෙන ගත යුතුය කියා අදහස් කරයි. මෙසේ ධර්ම පරිහානිය හා විනය පරිහානිය සිදු වේ. මේ සතර වන අනාගත බියයි.

(5) මහණෙනි කාය, සීල, චිත්ත, පඤ්ඤා භාවනා නොවැඩූ ස්ථවිර භික්ෂූන් සිවු පසයට ලොල් වී සාසනය ලිහිල් කොට ගනිති. පසු බැසීමට පත්වී කාය විවේකය, චිත්ත විවේකය, උපධි විවේකය අතහැර, අවබෝධ නොකළ දේ අවබෝධ කිරීමට වීර්ය නොකරති. පශ්චිම ජනතාවද මෙය ආදර්ශයට ගෙන දෘෂ්ටානුගතියට පත් වේ. ඒ අයද ශාසන මග සැහැල්ලුවට ගෙන වීර්ය අත හරිති. මේ පස් වන අනාගත බියයි.

තවත් අනාගත බය පහක් අංගුත්තර නිකායේ චතුක්ක නිපාතයේ චතුත්ථ අනාගත භය සූත්‍රයෙන් මේ විදිහට පැහැදිලි කරල තියෙනවා.

1. අනාගතයේ භික්ෂූන් හොඳ වටිනා සිවුරුවලට කැමති වී පාංශු කූල සිවුරු අතහැර දමති. ආරණ්‍ය සේනාසන අතහැර දමා ගම්, නියම්ගම්, රාජධානිවල වාසය කරති. සිවුරු මුල් කර ගෙන නොයෙක් ආකාර අකැප නොසරුප් නොමනා දේවල් කරමින් වැරදි ජීවිකාවෙන් කාලය ගත කරති. මේ අනාගතයේ පහළ වන පළවෙනි බියයි.

2. අනාගතයේ භික්ෂූන් ප්‍රණීත ආහාර පානවලට ගිජු වෙති. පිණ්ඩපාත චාරිකාව අතහැර ගම්, නියම්ගම්, රාජධානිවලට වී රස බොජුන් සොයමින් භික්ෂූන්ට නොගැලපෙන වැරදි ජීවිකාවෙන් කල් ගෙවති. මේ දෙවන අනාගත බියයි.

3. අනාගත භික්ෂූන් සැප පහසු විහාර ආරාමවලට කැමති වෙති. වෘක්ෂ මූල සේනාසන අතහරිති. ආරණ්‍ය වන සෙනසුන් අතහැර ගම් දනව් රාජධානිවල වාසය කරමින් ශ්‍රමණ ආකල්පවලට පටහැනි ආකාරයට ජීවත් වෙති. මේ තෙවන අනාගත බියයි.

4. අනාගතයේ භික්ෂු, භික්ෂුණීන්, ශික්ෂාමානා, සාමණේර යන අය එකට එකතුව වාසය කරයි. ඒ නිසා



නොඇල්මෙන් බඹසර හැසිරෙයි (බඹසර හැසිරීමට ඇල්මක් නැ). මෙයින් ධර්මය හා විනය පරිහානියට පත් වෙයි. මේ සිවුවන අනාගත බියයි.

5. අනාගත කාලයේ භික්ෂූන්, ආරාමිකයන් හා සාමණේරයන් සමග ගැටී වාසය කරති. නොයෙක් දේ එක් රැස් කර ගෙන ඒවා පරිහරණය කරමින් පොළව කොටමින් ගස් වැල් සිඳිමින් වාසය කරති. මේ පස් වන අනාගත බියයි.

මහණෙනි, මේවා දැනට පැමිණ නැති මතු අනාගතයේ පහළ වන බයට හේතු කාරණායි. මේවා දුරු කිරීම සඳහා භික්ෂූන් වෑයම් කළ යුතුයි.

වසර දෙදහස් හයසියයකට පෙරදී බුදුන් වහන්සේ අනාගතය කියල වදාළේ අද කාලයට. වර්තමාන සාසන පරිහානිය දෙස විමසුම් නුවණින් බලන කොට සාසනය පිරිහීමට හේතු වන සියලු භය, උපද්‍රව අද වෙන කොට පහළ වෙලා තියෙන බව සක් සුදක් සේ පැහැදිලියි. ඒ නිසා මේ උපද්‍රවයන් දුරු කරල නැවත සාසනය නගා සිටුවන්න ප්‍රඥාවන්තයින් පෙරමුණ ගෙන කටයුතු කරන්න ඕන.

සාසන පරිහානියට හේතු වන තවත් කාරණා හතරක් ධර්මයේ විග්‍රහ කරල තියෙනවා. රත්තඤ්ඤූ මහන්තතා, වේපුල්ල මහන්තතා, ලාභග්ග මහන්තතා, බාහුසච්ච මහන්තතා කියන්නෙ ඒ කරුණු හතර.

සාසනය දිගු කලක් යන කොට නොයෙක් කඩ කිළුටු මතු වෙනවා. බුද්ධත්වයේ පටන් වසර විස්සක කාලය මුල් බුදු සමය විදිහට හැඳින්වෙනවා. ඒ කාලය තුලදී විනය සික්ෂාවන් පනවන්න තරම් වැරැද්දක් භික්ෂූන් වහන්සේලා අතින් සිද්ධ වුනේ නෑ. ඒ වගේම වැඩි පිරිසක් මගඵල නිවන් අවබෝධ කර ගෙන තියෙන්නෙත් මේ කාලය තුළ.

මුල් බුදු සමයේ සාසනයට ඇතුලත් වුනේ කෙළෙස් ඉතා අඩු (අල්ප රජස්ක) ප්‍රඥාවන්ත පිරිස්. ඒ නිසා වැඩි පිරිසක් ඒ කාලය තුල අරිහත්වයට පත් වුනා. කෙළෙස් අඩු ප්‍රඥාවන්තයින්ගේ අඩු වීමත්, බොහෝ කෙළෙස් බහුල (මහා රජස්ක) පුද්ගලයන් සාසනයට ඇතුලත් වීමත් නිසා නොයෙක් අකටයුතුකම් සිද්ධ වෙන්න හේතු කාරණා ඇති වුනා. ඒ නිසාම තථාගතයන් වහන්සේට භික්ෂූන්ගේ සංවරත්වය සඳහාත්, නොපැහැදුන අයගේ පැහැදීම පිණිසත්, පැහැදුන අයගේ වැඩි ප්‍රසාදය පිණිසත් වැට කඩොලු බඳින්න විනය සික්‍ෂා පනවන්න සිද්ධ වුණා. ඉන්පසු අරිහත්වයට පත් වන පිරිස් පවා ක්‍රමයෙන් අඩු වෙලා සාසනයේ යම් පරිහානි තත්ත්වයක් ඇති වුනා. ඒ වගේ, සාසනය දිගු කලක් යන කොටත් පිරිහීමට පත් වෙනවා. ''රත්තඤ්ඤූ මහන්තතා'' කියල හැඳින්වෙන්නෙ ඒ කාරණය.

බුදුන් වහන්සේ ජීවමාන කාලයේම ඇතැම් භික්ෂූන් ධර්මයට වැරදි අර්ථ කථන දෙමින් සද්ධර්ම ප්‍රතිරූපක මතු කළ බව බුද්ධ දේශනාවල සඳහන් වෙනවා. තථාගතයන් වහන්සේ වැඩ හිටපු කාලයෙත් ඒ විදිහට සිද්ධ වුනා නම්, වසර දහස් ගණනක් ගෙවී ඇති මේ යුගයේ ධර්මයට දුර්මත එකතු වුනා කීම පුදුමයට කාරණයක් නෙවෙයි. ධර්මයට වැරදි අර්ථ කථන දීම නිසා සද්ධර්මය යටපත් වෙන හැටි සූත්‍ර දේශනා ගණනාවක් ඇසුරු කර ගෙන මේ දහම් ලිපිය තුලින් කරුණු පෙන්වා තියෙනවා. සාසනය බොහෝ කලක් යන කොට වෙනත් මත සමග

මිශ්‍ර වෙලා සද්ධර්මය අතුරුදන් වීම ''වේඵුල්ල මහන්තතා'' කියල හැඳින්වෙනවා.

''මහණෙනි ලාභ, කීර්ති, ප්‍රසංසා දරුණුය, කටුකය, නිවනට අන්තරාකරය'' බුදු රජාණන් වහන්සේ නොයෙක් අවස්ථාවල මේ කාරණය ත්‍රිපිටකය පුරාම දේශනා කරල තියෙනවා. සසුන් මගින් ඉවත් වෙලා ලාභ ලෝභවලට ගිජුවීම සාසන පරිහානියට හේතු වන කරුණක්. ඒ බව ඉහත සූත්‍ර කිහිපයකින්ම පෙන්වා තියෙනවා. ''ලාභග්ග මහන්තතා'' කියල සඳහන් වෙන්නෙ ලාභ ලෝභවලට මත් වීම නිසා සද්ධර්මය පිරිහෙන ආකාරය.

භික්ෂූන් බහුශ්‍රැත වීමත් සාසනය පිරිහිලා ධර්මය අතුරුදන් වීමට හේතුවක්. බහුශ්‍රැත වීමේ යහපත් පැත්තකුත් තියෙනවා. ඒ කියන්නෙ ධර්ම විනය පිළිබඳ දැනුවත් වීම. නමුත් මේ කියන්නෙ ඒක නෙවෙයි. භික්ෂූන්ට අදාල නොවන නොයෙක් සාස්ත්‍රයන් ඉගෙන ගනිමින් දැනුවත් වීමත් බහුශ්‍රැත වීමක්. ඒක භික්ෂු ජීවිතයට අවශ්‍ය දෙයක් නෙවෙයි. ''න භික්ඛවේ ලෝකායතං පරියා ප්‍රණීතබ්බං, න භික්ඛවේ ලෝකායතං වාචේතබ්බං'' කියල බාහිර සාස්ත්‍ර ඉගෙනීම, අනුන්ට ඉගැන්වීම දෙකම තහනම් කරමින් විනය නීති දෙකක් පනවල තියෙනවා.

වර්තමානය වෙන කොට, බුදුන් වහන්සේ භික්ෂූන්ට තහනම් කරල තියෙන, සාසන පරිහානියට හේතු වන ලෝකායත සාස්ත්‍ර ඉගෙනීම, ඉගැන්වීම දෙකම සිද්ධ වෙනවා. ගිහියන්ට අයිති, භික්ෂූන්ට අදාල නොවන නොයෙක් විෂයානුබද්ධ කරුණු වර්තමාන භික්ෂු අධ්‍යාපනය තුල අනිවාර්ය අංගයන් බවට පත් කරල තියෙනවා. තථාගතයන් වහන්සේ, නොකළ යුතුයි කියල විනය නීතිවලින් පවා තහනම් කරල තියෙද්දිත් ඒකම සිද්ධ වීම කොතරම් අවාසනාවන්ත තත්ත්වයක්ද ? බාහුසච්ච මහන්තතා කියල පැහැදිලි කළේ ඒ කාරණය.

ඊළඟට අංගුත්තර නිකායේ <u>සද්ධම්ම සම්මෝස සූත්‍ර දේශනාවෙන්</u> සද්ධර්මය විනාසය පිණිස, අන්තර්ධානය පිණිස පවතින කරුණු පහක් පෙන්වා තියෙනවා. මේ සාසනයේ භික්ෂූන් සකසා බණ නොඇසීම, සකසා බණ ප්‍රගුණ නොකිරීම, සකසා බණ නොදැරීම, සකසා දැරූ ධර්මයන්හි අර්ථ පරීක්‍ෂා නොකිරීම, සකසා අර්ථ දැන, ධර්මය දැන, ධර්මානුධර්ම ප්‍රතිපදාවේ නොයෙදීම යන කරුණු පසයි.

මහණෙනි කරුණු පසක් සද්ධර්මයේ පැවැත්ම පිණිස, අවිනාසය පිණිස, අතුරුදන් නොවීම පිණිස පවතී. එම පස නම් සසුනෙහි භික්ෂූන් සකසා බණ ඇසීම, සකසා දහම් ප්‍රගුණ කිරීම, සකසා දහම් දැරීම, සකසා දැරූ ධර්මයේ අර්ථ පරීක්‍ෂාව, සකසා අර්ථ දැන ධර්මානුධර්ම ප්‍රතිපදාවේ යෙදීම යන කරුණු පසයි.

සද්ධර්මය විනාස වීමට හේතු වන තවත් කරුණු පහක් අංගුත්තර නිකායේ දුතිය සද්ධම්ම සම්මෝස සූත්‍රයේ සඳහන් වෙනවා.

මහණෙනි මේ කරුණු පහ ධර්මයේ විනාසය පිණිස අතුරුදන් වීම පිණිස පවතී. මේ සසුනේ භික්ෂූන් සූත්‍ර, ගෙය්‍ය, වෙය්‍යාකරණ, ගාථා, උදාන, ඉතිවුත්තක, ජාතක, අබ්භූත ධම්ම, වේදල්ල යන නවාංග ශාස්තෘ ශාසනය ප්‍රගුණ නොකිරීම, ධර්මය ඇසූ පිරූ අන්දමට ධර්මය විස්තර වශයෙන් අනුන්ට නොදෙසීම. සවිස්තරව අනුන්ට ධර්මය ප්‍රගුණ නොකරවීම, දහම් සවිස්තරව සජ්ඣායනා නොකිරීම, සිතින් ධර්මය අනුවිතර්කය, අනුවිචාරය නොකිරීම, සිතින් ධර්ම විමර්ශනයෙහි නොයෙදීම යන කරුණු පහයි. (පංච් මේ භික්ඛවේ ධම්මා සද්ධම්මස්ස සම්මෝසාය අන්තරධානාය සංවත්තන්ති)

**මහණෙනි දෙදෙනෙක් තථාගතයන් වහන්සේට අසත්‍යයෙන් චෝදනා කරයි, දොස් කියයි. බුදු සමිඳුන් විසින් දේශනා නොකළ කරුණු දේශනා කරයි කියන තැනැත්තාද, දේශනා කළ කරුණු දේශනා නොකළැයි කියන තැනැත්තාද යන දෙදෙනාය.**

තවත් දෙදෙනෙක් තථාගතයන් වහන්සේට අසත්‍යයෙන් චෝදනා නොකරති. දොස් නොකියති. බුදු හිමි විසින් විස්තර කළ යුතු අර්ථ ඇති සූත්‍රාන්ත, විස්තර කළ යුතු අර්ථ ඇති සූත්‍රාන්ත යැයි ප්‍රකාශ කරන තැනැත්තාත්, විස්තර කළ අර්ථ ඇති සූත්‍ර දේශනා, විස්තර කළ සූත්‍ර දේශනා යැයි ප්‍රකාශ කරන තැනැත්තාත් යන දෙදෙනාය. (අංගුත්තර නිකායේ දුක නිපාත බාල වර්ගය)

මහණෙනි සොරුන් බලවත් වූ කල්හි රජවරු දුර්වල වෙති. එකල රජුට ඇතුළු නුවරට පිවිසෙන්නට හෝ බැහැර යන්නට හෝ පසල් දනව්වල කටයුතු සංවිධානයට හෝ පහසු නොවේ. බ්‍රාහ්මණ ගෘහපතියන්ට බාහිර කර්මාන්ත පරීක්‍ෂා කරන්නටද පහසු නොවේ. එපරිද්දෙන් මහණෙනි, පාප භික්ෂූන් බලවත් වූ කල්හි ප්‍රියශීලී භික්ෂූන් දුර්වල වෙති. සංඝයා මැද නිහඬව සිටීමට සිදු වෙති. ප්‍රත්‍යන්ත ජනපද හෝ ඇසුරු කරති. (ජනයා අඩු ඇත ප්‍රදේශවලට වැඩම කර නිහඬව වාසය කිරීම) එය බොහෝ දෙනාට අහිත පිණිස, දුක් පිණිස, දෙව් මිනිස් ලෝකයාට අවැඩ පිණිස, සාසන පරිහානිය පිණිස හේතු වේ.

මහණෙනි රජවරු බලවත් වූ විට සොරු දුබල වේ. එකල රජුට ඇතුළු නුවරට පිවිසීමට හෝ බැහැර යන්නට හෝ පසල් දනව්වල කටයුතු සංවිධානය කරන්නට පහසු වේ. බ්‍රාහ්මණ ගෘහපතියන්ට බාහිර කර්මාන්ත පරීක්‍ෂා කිරීමට පහසු වේ. එපරිද්දෙන් මහණෙනි, ප්‍රියශීලී භික්ෂූන් බලවත් වන කල පාපී භික්ෂූන් දුබල වෙති. එකල පාපී භික්ෂූන් නිහඬව සඟ මැද සිටී. වෙනත් යම් යම් තැන් සොයා යති. එය බොහෝ දෙනාට දෙව් මිනිසුන්ට හිතසුව පිණිස, වැඩ පිණිස, යහපත පිණිස, අභිවෘද්ධිය පිණිස හේතු වේ. (අ.නි. දුක නිපාත - සමචිත්ත වර්ගය)

මේ සාසනයේ උතුම් පුද්ගලයන් ඇති පිරිස හා උතුම් පුද්ගලයන් නැති පිරිස කියා වර්ග දෙකකි. (ද්වේ මේ භික්ඛවේ පරිසා, කථමා ද්වේ අනග්ගවතීච පරිසා අග්ගවතී පරිසා)

මහණෙනි, සිවුරු පිරිකර බහුලව භාවිතා කරන, සාසනය සැහැල්ලු කොට සලකන, පංච නීවරණයන්ට ගැතිව නිවන් අවබෝධයට උත්සාහ නොකරන, නොලැබූ මාර්ගඵල ලබා ගැනීමට උත්සාහ නොකරන, ප්‍රත්‍යක්‍ෂ නොකළ ධර්ම ප්‍රත්‍යක්‍ෂ කිරීමට වීර්ය නොකරන භික්ෂූන්ගේ ශිෂ්‍යයෝ ඒ ගුරුවරුන් අනුගමනය කරති. ඔවුහු ද සිවුරු පිරිකර බහුලව භාවිතා කරති, සාසනය සැහැල්ලු කොට සලකති, පංච නීවරණයන්ට වසඟව විවේකයෙන් දුරු වෙති. නොපැමිණි ධර්මයට පැමිණීමට, නොලැබූ ධර්මයන් ලැබීමට, ප්‍රත්‍යක්‍ෂ නොකළ ධර්ම ප්‍රත්‍යක්‍ෂ කිරීමට උත්සාහ නොගනිති. මේ නිසා සාසනය පරිහානියට පත් වේ. මේ උතුම් පුද්ගලයන් නැති පිරිසයි.

මහණෙනි සිවුරු පිරිකර බහුලව භාවිතා නොකරන, සාසනය ලිහිල් කොට නොගන්නා, පංච නීවරණයන්ට ගැති නොවූ, නිවන් අවබෝධයට උත්සාහ කරන, නොපැමිණි ධර්මවලට පැමිණීමට, ප්‍රත්‍යක්‍ෂ නොකළ ධර්ම ප්‍රත්‍යක්‍ෂ කිරීමට වීර්ය වඩන පිරිස අග්ගවතී පිරිසයි. පිරිස් අතරින් උසස්ම පිරිස මේ අයයි. සාසනයේ චිරස්ථිතියට, ධර්මයේ පැවැත්මට උපකාර වන්නේ මෙවැනි පිරිස් සාසනය තුල සිටීමයි. (අංගුත්තර නිකායේ දුක නිපාත පිරිස වග්ග)

සාසනය තුළ වාසය කරන භික්ෂූන් ලාභ, කීර්ති, ප්‍රසංසාවලට ගිජු වෙලා ☞

ධර්ම මාර්ගයෙන් බැහැර වෙන කොට, සාසනය පිරිහිලා ධර්මය යටපත් වෙනව වගේ, රජවරුන්ගේ පටන් මුළු රටවැසියාම අධර්මයට බැස ගත්තම මුළු මහත් ලෝකයටම මහා ව්‍යසනයක්. ඒ බව අංගුත්තර නිකායේ චතුක්ක නිපාතයේ එන අධම්මික සූත්‍රයෙන් මේ විදිහට පෙන්වා තියෙනවා.

**මහණෙනි යම් කිසි කාලයක රජවරු අධාර්මික වෙන කොට රාජ පුරුෂයන්, බ්‍රාහ්මණ ගෘහපතියන් අධාර්මික වේ. ඒ අය අධාර්මික වන විට ජනපද වැසියන් අධාර්මික වේ. මෙසේ මුළු මහත් සමාජයම අධාර්මික වූ විට සඳ, හිරු විෂම වේ. එය විෂම වූ කල නැකැත් තරු විෂම වී රෑ දවල් විෂම බවට පත් වේ. ඉන් පසු මාස, අර්ධ මාසයන්, ඍතු බලපෑම් විෂම වේ. ඍතු විෂම වූ විට විෂම වාතය හමන්නේය. විෂම වාතය නොමගින් ගමන් කර දෙව් විමන් හරහා යන විට දිව්‍ය විමන් කැලඹී දේවතාවෝ කෝපයට පත් වේ. දෙවියන් කුපිත වූ විට වර්ෂාව මනා ලෙස නොලැබී මිනිසුන්ගේ බෝග වගාවන් විෂමව පැසෙති. විෂම සශ්‍යයන් අනුභව කරන මිනිසුන්ගේ ආයුෂ අඩු වේ. දුර්වර්ණ වේ. බොහෝ ලෙඩ රෝග වැළඳේ.**

මහණෙනි රට පාලනය කරන රජවරු දැහැමි වෙයි නම් ඒ කාලයේ රාජ පුරුෂයන්, බ්‍රාහ්මණ ගෘහපතියන් දැහැමි වේ. එවිට ගම් වැසියන්, ජනපද වැසියන් දැහැමි වේ. මෙසේ සමාජයම සුචරිත වන විට සඳ, හිරු, නැකැත් තරු, දිවා, රාත්‍රී, ඍතු, මාස, අර්ධ මාස සමව පවතී. මෙසේ වන විට විෂම නොවූ වාතයෝ නිසි මගින් ගමන් කිරීම නිසා දෙවියන්ට අපහසුතා ඇති නොවේ. කෝප නොවූ දේවතාවෝ මනා ලෙස වැසි වස්සවති. එවිට සශ්‍ය සමව පැසී මනුෂ්‍යයන්ට යහපත සැලසේ. එම සශ්‍යයන් අනුභව කරන මිනිසුන්ට දීර්ඝායුෂ ඇති වේ, ශරීර වර්ණය ඇති වේ, අල්ප ආබාධ ඇති වේ.

එතෙර වන්නා වූ ප්‍රධාන ගවයා ඇදට යයි නම් අන් සියළුම ගවයෝ ඇදට යති. මිනිසුන් අතරෙන් ශ්‍රේෂ්ඨ යැයි සම්මත පාලකයන් ධර්මචාරී වේ නම් සෙසු ප්‍රජාවද ධාර්මික වේ. රජු දැහැමි වන විට මුළු රටම සැපවත් වේ.

පාලකයන් හා පාලිතයන් අධර්මයට බැස ගැනීම නිසා රටට විපත් පැමිණෙන බව බුද්ධ භාෂිතයේ වගේම ඍෂි භාෂිතවලත් මේ හා සමාන අදහස් ප්‍රකාශ වෙලා තියෙනවා. ප්‍රත්‍ය ශතකයේ ශ්ලෝකයක මේ විදිහට සඳහන් වෙනවා.

නිස්සාරා පෘථිවි නිරෞෂධරසා
- නීචා මහත්වං ගතා
රාජා අර්ථ පරායනෝ භුවිතලේ
- විප්‍රාත්‍ය කර්මස්ථිතා
භායර්‍ය්‍යා බන්‍දුසු බද්ධ වෛරී
- හෘදයන් පුත්‍රේ පිතුර් ද්වේෂතා
ඉත්ථම්භූත මිදං ජගත් කලි යුගේ
- ධර්මෝ වනාන්ත්‍රං ගත ඃ

රජවරු අධාර්මික වීමෙන් රටවාසීන් දුශ්චරිතයට නැඹුරු වේ. එය හේතු කොට ගෙන දූෂ්‍ය ශක්තීන් විශ්වයේ අධික වීම නිසා පොළොව නිසරු වේ. පෘථිවියේ හට ගන්නා ඖෂධවල ගුණ හීන වේ. කුළ හීනයන් මහන්තත්වයට පැමිණීම, බමුණන් අයුතු කර්මාන්තවල යෙදීම, භාර්යාවන් හා ඥාති මිත්‍රයන් අතර වෛරය ඇති වීම, පියවරු පුතුන් හා ද්වේශ කිරීම යන මේ විපර්යාසයන් කලි යුගයේදී ඇති වී ධර්මය වනාන්තර ගත වේ.

බුදුන් වහන්සේ ජීවමාන කාලයේ කොසොල් රජතුමා දැකපු සිහින දහසයක් ''මහාසුපින'' ජාතක කථාවේ සඳහන් වෙනවා. එයින් කියවෙන්නෙ, අනාගතයේ පාලකයාගේ පටන් රට වැසි සියළු දෙනා අසද්ධර්මයට බැස ගැනීම නිසා සමාජය පරිහානියට පත්වන ආකාරය. ඒ සිහින අතරින් සාසන පරිහානිය පෙන්වන සිහින කීපයකුත් සඳහන් වෙනවා.

ලක්‍ෂයක් වටිනා සඳුන් අරටුවක් කුණු මොරට විකුණනවා දැකීම කොසොල් රජතුමා දැකපු එකොළොස් වන සිහිනය. මෙයින් කියවෙන්නෙ අනාගතයේ සාසනය පිරිහෙන කොට ප්‍රත්‍යලෝභී භික්‍ෂූන් බහුල වෙලා, නිස්සරණධ්‍යාශයෙන් (ලාභ, කීර්ති, ප්‍රසංසා බලාපොරොත්තු නැතිව නිවන් දැකීමම අරමුණු කර ගෙන) නිවන මුල් කර ගෙන දහම් දෙසීමට අසමත් වෙලා සිවු පස ලෝභයෙන්, මගේ කට හඬට විලාසයට මිනිසුන් පැහැදිලා ප්‍රත්‍ය පුදයි කියල හිතල දහම් දෙසීම. සමහර භික්‍ෂූන් වීදි මැද, සතර මං හන්දිවල, මාලිගාවල වාසල් දොරටුව ළඟත්, මදටිය ඇටයක් පමණ කහවනුවකටත් දහම් දේශනා කරනවා, සිවු පසය මුල් කර ගෙන බණ දහම් විකුණනවා. ඒ කාරණය ලක්‍ෂයක් වටිනා හඳුන් අරටුවක් කුණු මොරට විකිණීමක් වගෙයි.

හිස් වියළි ලබු කබල් දියෙහි ගිලීම සහ මහ ගෙවල් වගේ ගල් පර්වත නැව් වගේ ජලයේ පා වෙනවා දැකීම දොළහ, දහ තුන සිහිනවලින් පෙන්වා තියෙනවා. සංඝ කර්ම, සණ කර්ම, පාත්‍ර සිවුරු විහාරාදිය පිළිබඳ විනිශ්චය කිරීමේදී දුස්සීල භික්‍ෂූන්ගේ තීන්දු තීරණ තහවුරු වෙනවා. මේ කාරණය ලබු කබල් දියෙහි ගිලීමක් වගේ.

භික්‍ෂූන් රැස්වුනාම ලජ්ජී ප්‍රියශීලී භික්‍ෂූන්ගේ කථා, අලජ්ජී දුස්සීල භික්‍ෂූන්ගේ නින්දාවෙන් යටපත් වෙනවා. ඒක හරියට මහ ගල්, වතුරේ පාවීමක් වගේ. සත්‍ය ධර්මය යටපත් වෙලා අසත්‍ය අධර්මය සාසනය තුල රජ වෙනවා. මේ විදිහට කොසොල් රජතුමා දැකපු සියළු සිහින වර්තමානයේ සැබෑ වෙලා තියෙනවා.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නීග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

# නිවනට වදනක්

**කැමති ලෙස නැති පෙළෙන ලෝකය දුකම දෙන බව නොම දැනා**
**නිසියි වටිනව කියා මෝහෙන් භාවි භාවී තැන තැනා**
**උදා කර ගත් කරජ කය මේ වැහැරී ලෙඩ වී වැනසෙනා**
**උපත නවතමු අසා බුදු බණ උදය වැය නැණ දැක ගෙනා**

**සසර සරනා කලදි සිදු වූ සියලු වරදට කමා වේවා**
**හැම දෙනා කළ කුසල් මතු වී එකට එක් වී බල නැගේවා**
**උතුම් තෙරුවන් සමවතේ ගුණ හැම දෙනා තුල නැගී ඒවා**
**මෙ සත් බලයෙන් සැමට සුගතිය අමා නිවනම ළඟා වේවා**

පබැඳුම :
යසස් දර්ශනප්‍රිය - අළුත්ගම

# ධම්ම පදය තුලින් නිවන් මග

14 වන කොටස

බුදුන් වහන්සේට චිංචි මානවිකාව කියන කාන්තාව කරපු අපහාසයක් තමයි මේ ගාථාව දේශනා කරන්න මුල් වුනේ. ලොව්තුරා බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ, උන්වහන්සේ ලෝකය බබලවන හිරු හා සමානයි. උන්වහන්සේගෙ ශ්‍රාවකයන් වහන්සේලාත් ඒ වගේ. අර්ථයෙන්, ධර්මයෙන් ලෝකයට වැඩ සලසපු මේ උතුමන්ට ගෞරව සත්කාර අඩුවක් තිබුනෙත් නෑ. මේ සූර්යාලෝකය මැද්දෙ අනෙක් ගුරුවරුන්, එහෙම නැත්නම් වෙනත් අදහස් දරපු ගුරුවරු පෙනුනෙ හරියට කණාමැදිරියො වගේ. ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේටත්, උන්වහන්සේගෙ ශ්‍රාවකයන් වහන්සේලාටත් ලැබෙන ගෞරව සත්කාර දැකල, බොහොම කනස්සල්ලෙන් තමයි මේ අන්‍ය පිරිස හිටියෙ. නිතරම කල්පනා කළේ මේ ගෞරව සත්කාර තමන් වෙත හරව ගන්නෙ කොහොමද කියල.

ඉතින් ඒ අය හිතපු උපාය තමයි, ඒ කාලෙ හිටපු චිංචි මානවිකාව කියන රූමත් කාන්තාව ලවා බුදුන් වහන්සේට අපහාස කිරීම. ඒ නිසා ඒ අන්‍ය තීර්ථකයො මේ චිංචි මානවිකාව ගෙන්ව ගෙන කාරණය කියා සිටියා. ඇයත් ඒ මහා පාප කර්මයට අත ගහන්න කැමති වුණා. ඉතින් ඇය ඉතාම සූක්ෂම විදිහට දිනෙන් දින රාත්‍රියේ බුදුන් වහන්සේ වැඩ ඉන්න වෙහෙරට යනව වගේ පෙන්වමින්, නැවතත් උදෙන්ම වෙහෙරෙන් එලියට එනව වගේ පෙන්වමින් මාස 9 ක කාලයක් මේ පාප කර්මයට ලක ලැස්ති වුණා. අහන අයට කියන්නෙ බුදුන් වහන්සේ හමුවෙන්න යනවා, මම උන්වහන්සේ සමගයි රැය ගත කළේ කියල. අන්තිමට උන්වහන්සේ නිසා දරු ගැබක් හටගත්ත කියල පෙන්වන්න, බඩට දර මිටියක් බැඳ ගෙන ලොව්තුරා බුදුන් වහන්සේ බණ කියන තැනට ඇවිත් චෝදනා කළා. ඊට පස්සෙ වෙච්ච සිද්ධිය බොහෝ පින්වතුන් දැනටමත් අහල තියෙනවා. ඒ සිදුවීම හේතු කරගෙන බුදුන් වහන්සේ මේ ගාථාව දේශනා කළා.

ඒකං ධම්මං අතීතස්ස
මුසාවාදිස්ස ජන්තුනෝ
විතිණ්ණ පරලෝකස්ස
නත්ථි පාපං අකාරියං

සරල සිංහල තේරුම,

සත්‍යය ඉකුත් කොට බොරු කියන්නා වූ, පරලොව ගැන නොතකන්නා වූ තැනැත්තාට නොකළ හැකි පවක් නැත.

මෙතනදි කෙනෙක් පාපයට පෙළඹෙන්නෙ ඇයි කියල හිතන්න වෙනවා. දැන් මේ කතාව කියවන කෙනෙකුට හිතෙන්න පුළුවන්, මෙච්චර උත්තමයෙකුට නේද මේ මහා අපරාධය කරන්න පෙළඹුනේ කියල. තව කෙනෙකුට හිතෙන්න පුළුවන්, කොහොමද ඒක එච්චර මහ අපරාධයක් වෙන්නෙ, බොරු රඟපෑමක්නෙ කළේ කියල. මෙතනදි බලන්න ඕන, අපරාධයක් හෝ පාපයක් මහා දෙයක් හෝ කුඩා දෙයක් වෙන්නෙ කොහොමද කියල. සරල උදාහරණයකින් පැහැදිලි කළොත්, මනුස්සයො



දෙන්නෙක් ඉන්නවා, එක් කෙනෙක් තමන් නොහඳුනන කෙනෙක්, අනෙක් කෙනා තමන්ගෙ තාත්තා. බැලූ බැල්මට දෙන්නම මනුස්සයො, ඒ වගේම දෙන්නම පිරිමි. නමුත් අපි දන්නවා ඔය දෙන්නගෙන් තාත්ත මැරුවොත් ආනන්තරීය අකුසලයක්, ඒ වගේම අනෙක් කෙනා මැරුවොත් හෝ ඒ කෙනාට හිංසා කළොත් ඒකත් පාපයක් කියල. නමුත් ඒක ආනන්තරීය වෙන තරමට බලවත් නෑ. කොහොමද එහෙම වෙන්නෙ කියල හිතෙන්න පුළුවන්. එතනදි තමයි ගුණය ඉදිරියට එන්නෙ. අනෙක් පිරිමි කෙනා ගුණවත් කෙනෙක් වෙන්න පුළුවන්. ඒ වගේම තාත්ත එහෙම කෙනෙක් නොවෙන්නත් පුළුවන්. ඒත් තමන්ගෙ තාත්ත මරපු කෙනාට, අනෙක් ගුණවත් කෙනා මැරුවට වඩා බලවත් විපාකයක් විඳින්න සිද්ධ වෙනවා. දෙකම පාප කර්ම. ඒත් එකක් ආනන්තරීය වුණා.

ඕනම කෙනෙක් මේ ලෝකයට එන්නෙ සුවයක් විඳින්න, හොඳ තැනක් බලාපොරොත්තුවෙන්. **මනුස්ස ගන්ධබ්බයෙක් විදිහට ඉන්න කෙනෙකුට තියෙන ලොකුම පීඩනය තමයි, ඒ කෙනා මනුස්සයෙක් වෙලා ඉන්න කොට කරපු කියපු දේවල් එතනදි කරන්න බැරි වීම.** පංච කාමයන් විඳින්න උවමනාව තිබුනත් ඒක කරන්න බෑ. අර කලින් පුරුද්දට රළුවට ස්පර්ශ කරන්න, අනෙක් අයට කතා බහ කරන්න බෑ. කතා කළත් ඉන්න ඥාති හිතමිත්‍රාදීන්ටවත්, කාටවත් ඇහෙන්නෙ නෑ. මෙහෙම පීඩනයක තමයි ගන්ධබ්බය ඉන්නෙ. ඉතින් කැමැත්ත තියෙන්නෙ, නැවතත් අර පුරුදු අත්බැවට ගිහින්, පිරිසක් එක්ක එකතු වෙලා සතුටු වෙන්න. නමුත් එහෙම අවස්ථාවක් ලැබෙන එක හරිම දුර්ලභයි. ඉතින් ඒ උදව්ව කරන්න පුළුවන් දෙමව්පියන්ට විතරයි. එහෙම අති දුර්ලභ අවස්ථාවක් අරන් දෙනව කියන එක ලේසි පහසු දෙයක් නෙවෙයි. ගන්ධබ්බයො කෝටි ප්‍රකෝටි ගණනක තරගයක් උඩ, කර්ම ශක්තියෙන් ලැබෙන අති දුර්ලභ අවස්ථාවක්. ඒ නිසා තමයි අම්ම තාත්ත කියන අය විශේෂ කොට සලකන්නෙ. එහෙම නොසලකන අය, අම්ම කියන්නෙත් ගෑනු කෙනෙක්නෙ, තාත්ත කියන්නෙත් පිරිමි කෙනෙක්නෙ, මොන විශේෂයක්ද කියල නියත මිථ්‍යා දෘෂ්ඨියට වැටෙනවා. ඒ කියන්නෙ අම්ම තාත්ත කියල විශේෂ පුද්ගලයො නෑ කියන දෘෂ්ටියට බහිනවා. අම්ම හෝ තාත්ත මැරුවම ආනන්තරීය අකුසලයක් වෙන්නෙ, අර කරපු මහා උපකාරය මත පිහිටපු මහා ගුණය නිසා.

ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේත් ලෝකයට අම්ම කෙනෙක් වගේ, තාත්ත කෙනෙක් වගේ. උන්වහන්සේගෙ මහා මව් ගුණය, මහා පිය ගුණය, මෙතෙක් හිටපු සියලු අම්මල තාත්තලගෙ ගුණ එකතු කළත් ඒ ගුණයේ අංශු මාත්‍රයකට හෝ සම කරන්න බෑ. ඒ තරම්ම උන්වහන්සේ උතුම්. බුදුන් වහන්සේ නමකට පමණක් ගෝචර මේ මහා ගුණය අපිට අනුමාන කරන්න විතරයි පුළුවන්. එහෙම උතුමෙකුට තමයි එදා චිංචි මානවිකාව මාස නවයක් තිස්සෙ සැලසුම් කරල උපක්‍රමශීලීව පහර ගහන්න පෙළඹුණේ. මේ මොහොත වෙනකොට, ඇය ඒ කරපු පාප කර්මය ගැන හිතෙන කොටත් අපේ ශරීරවල හිරිගඩු පිපෙන්නත්, ඇයට ඒ ගැන ගානක් නැති වෙන්නත් හේතුව මොකක්ද? ප්‍රධානම හේතුව තමයි ඇය සරණ ගිහින් හිටපු

ගුරුවරු. ඒ අය අසත්පුරුෂයො. මෙතනදි අසත් පුරුෂයො කියල අදහස් කළේ, ලෝක සම්මතයේ එන දරුණු ගණයේ ස්ත්‍රී දූෂකයො, මිනීමරුවො, හොරු, මංකොල්ලකාරයො නෙවෙයි. ආර්ය විනයට අනුව, සත් දහමට අමතරව වෙන දහමක් දේශනා කරන, ඒ අනුව වැඩ කටයුතු කරන අය තමයි මේ අසත් පුරුෂයො කියන්නෙ. තමන් ආර්යන් විදිහට හඳුන්වා දෙමින් සත් ධර්මයෙන් පිට දේශනා කරන අය, වාද කරන අය. මේ වාද සත්‍යවාදී ඒවා නෙවෙයි. හැබැයි ආර්ය විනය තුළ අසත්පුරුෂයො කියල හඳුන්වන අය, ලෞකික ධර්මය තුළ සත් පුරුෂයො වෙන්න පුළුවන්. මොකද ආර්ය විනයට අනුව අට්ට පුරිස පුග්ගලා කියන මාර්ග ඵල ලාභීන් අට දෙනා විතරයි සත් පුරුෂයො වෙන්නෙ. ඒ නිසා ලෞකික සත්පුරුෂයො ගැන නෙවෙයි මේ කතා කරන්නෙ, ආර්ය සත්පුරුෂයො ගැන.

එතකොට මොකක්ද සත්‍යවාදී දහම? ඒක තෝර ගත්තම ඊට විරුද්ධව එන අසත්‍ය වාදය, එහෙම නැත්නම් මුසාවාදය තෝරගන්න පුළුවන්. එතකොට මුසාවාදය කියන කාරණය, බොරු කියනව කියන පටු අදහසින් ගන්න බෑ. ඒක ඊට වඩා බරපතලයි, ගැඹුරුයි. අරිහතුන් වහන්සේ නමක් පමණක් 100% ක්ම වැළකිලා ඉන්න දෙයක් තමයි මුසාවාදය කියන්නෙ. අංගුත්තර නිකායේ අෂ්ඨාංග උපෝසථ සූත්‍රය, නවාංග උපෝසථ සූත්‍රය, අරිය උපෝසථ සූත්‍රය, විශාඛා උපෝසථ සූත්‍රය ආදී සූත්‍රවලින් මේ ගැන වැඩි විස්තර බලා ගන්න පුළුවන්. දැන් අරිහතුන් වහන්සේ නොකරන මුසාවාදය අර ගෙන බලමු.

<u>මුසාවාදා වේරමණී සික්ඛා පදං සමාදියාමි.</u>

ඉහත සූත්‍රවලට අනුව මේ සික්ඛා පදයේ අදහස පෙන්වන්නෙ මෙහෙමයි.

ජීවිතාන්තය තෙක් ඒ රහතන් වහන්සේ මුසාවාදයෙන් වෙන්ව, මුසාවාදය අතහැර, සත්‍යවාදී වූයේ, සත්‍යයෙන් සත්‍යය ගලපා කරන කථා ඇතිව සත්‍යවාදීව වාසය කරන්නේය. උන්වහන්සේ අනුගමනය කරන්නා වූ මමද මුසාවාදයෙන් වෙන්ව, මුසාවාදය අතහැර, සත්‍යවාදී වූයේ, සත්‍යයෙන් සත්‍යය ගලපා කරන කථා ඇතිව සත්‍යවාදීව වාසය කරමි. මේ රැයත් දහවලත්, රැය දහවලත් එලෙසින්ම උන්වහන්සේ අනුගමනය කරමි. මේ මාගේ හතරවෙනි සික්ඛාවයි.

මේ සත් වචන කියන, එහෙම නැත්නම් මුසාවාදයෙන් තොරව සත්‍යවාදීව වාසය කරන අරිහතුන් වහන්සේ සත්පුරුෂයෙක්. සෝවාන් වෙන්න ඕන කෙනෙක් කරන්න ඕන කාරණා හතරෙන් මූලිකම කාරණය තමයි සත්පුරුෂ ඇසුර. එතකොට අන්‍ය තීර්ථකයන්, අසත්පුරුෂයො කියල ප්‍රඥාවෙන් බලන කෙනෙකුට පේනවා. මෙතනදි අසත්පුරුෂයො කියල කිව්වෙ, කලින් කිව්ව වගේ ලෝක සම්මතයෙ එන දරුණු ගණයේ ස්ත්‍රී දූෂකයො, මිනීමරුවො, හොරු, මංකොල්ලකාරයො නෙවෙයි, සත්‍ය දහම ප්‍රකාශ නොකර අසත්‍ය දහමක් ප්‍රකාශ කරන අය. එදා බෝ මැඩදි බෝසතාණන් වහන්සේ ප්‍රඥා පාරමිතාව පූර්ණය කරන්න අවශ්‍ය පටිච්ච සමුප්පාද දහම් සිහි කරන මොහොතෙ, ජරා මරණවලට හේතුව ජාතියත්, ජාතියට හේතුව භවයත්, භවයට හේතුව උපාදානයත්, උපාදානයට හේතුව තණ්හාවත්, තණ්හාවට හේතුව වේදනාවත්, වේදනාවට හේතුව ස්පර්ශයත්, ස්පර්ශයට හේතුව සළායතනත්, සළායතනවලට හේතුව නාම රූපත්, නාම රූපවලට හේතුව විඤ්ඤාණත්, විඤ්ඤාණවලට හේතුව සංඛාරත්, සංඛාරවලට හේතුව අවිද්‍යාවත් කියල පූර්ණව වටහා ගත්තා. ඒ වැටහීමත් එක්ක උන්වහන්සේ කල්පනා කළේ, මොකක්ද මේ අවිද්‍යාවට හේතුව කියල. එතකොට තමයි දැනගන්න ලැබුනෙ, මේ සත්‍ය වාදයෙන් තොර අසත්‍යවාදීව ඉන්න අසත්පුරුෂ ඇසුර තමයි අවිද්‍යාවට හේතුව කියල.

එතකොට උන්වහන්සේට විද්‍යාව පහළ වෙන්න හේතු වෙච්ච මහා සත්‍යය මොකක්ද? උන්වහන්සේ මේ කාරණය දැන ගත්තා, දැනගෙන පහ කළ යුතු දේ මේකයි කියල තෝර ගත්තා, ඒ අනුව පහ කළා. පහ කළා කියල පසක් කළ මේ මහා සත්‍යය කොටස් හතරකින් උන්වහන්සේ ලෝකයට පෙන්වා දුන්නා. දුක පිළිබඳව ඥානය හෙවත් දුක්ඛ ආර්ය සත්‍යය. දුකට හේතුව පිළිබඳ ඇති වෙන ඥානය හෙවත් දුක්ඛ සමුදය ආර්ය සත්‍යය. ඊට පස්සෙ ඒ දුකට හේතුව නිරෝධ කළ යුතුයි කියල දැන ගැනීමේ ඥානය හෙවත් දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය. අවසානයේ, ඒ දුක නැති කිරීමේ මාර්ගය දැන ගැනීමේ ඥානය හෙවත් දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය. ඒ කියන්නෙ චතුරාර්ය සත්‍යය, එහෙම නැත්නම් සිවු අරිසස් කියල හඳුන්වන මේ මහා සත්‍ය කතා කරන කෙනෙක් ඉන්නව නම්, ඒ ඒ අය ඒ ඒ මට්ටමෙන් සත්‍යවාදී වෙනවා, මුසාවාදයෙන් වැලකෙනවා. වැළකීම පූර්ණයට පත් අරිහතුන් වහන්සේ සියලු මුසාවාදයෙන් වැළකිලා සත්‍යවාදීව ජීවිතාන්තය දක්වාම ගත කරනවා.

ඉතින් ඒ ඒ මට්ටමෙන්, ඒ කියන්නෙ සෝවාන් කෙනා ඒ මට්ටමෙන් සත්‍යවාදී වෙච්ච සත්පුරුෂයෙක්. ඒ ඇසුර තියෙන කෙනෙක්ගෙන් ඒ මට්ටමට අවිද්‍යාවෙන් මිදෙන්න උදව් ලැබෙනවා. අර මහා ගුණයට පහර ගහන්න හිතෙන්නෙවත් නෑ. යම් මට්ටමකින් හෝ බුදුන්, දහම්, සඟුන් කියන ගුණ දැකල ඉවරයි. මේ තමයි බුදුන් වහන්සේ අනුමත කරපු සත්පුරුෂයො. ඒ කියන්නෙ සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරිහත් කියන මාර්ග ඵල ලාභීන් සහ ඒ මග අනුගමනය කරන අය.

එතකොට ආර්ය විනයට අනුව චතුරාර්ය සත්‍ය දහමට පිටින්, ඊට පටහැනිව වෙනස් දෙයක් කියන ඕනම දෙයක් අයිති වෙන්නෙ අසත්‍ය වාදයට. අසාර වූ ලෝකයේ හොඳයි කියල ගන්න පුළුවන් තැනක් වර්ණනා කරන, ඒ පැවැත්ම වර්ණනා කරන හොඳ හෝ නරක දහමක් / ගති ලක්ෂණයක් අයිති වෙන්නෙ මේ අසත් දහම කියන කොටසට. ඒ අනුව ලෝක සම්මතයේ එන පවු කෙලින්ම අයින් කරන්න පුළුවන්. හැබැයි පැවැත්මක් උදෙසා කරන පුණ්‍ය අභිසංඛාර අයිති වෙන්නෙ මේ අසත්‍ය වාදයට. නමුත් ඒ අතර සාසනය උදෙසා කරන පින්, අර සත්‍යවාදී දහමට මුල පුරන්න ලොකු උදව්වක් වෙනවා.

ඉතින් චිංචි මානවිකාවත් හිටියෙ අර විදිහෙ අසත් දහම දේශනා කරන අය ළඟ, එහෙම නැත්නම් අසත්පුරුෂයො ළඟ. අසත්පුරුෂයො අවිද්‍යාව ඇති කරනවා, විද්‍යාව වහනවා. ඇස් තිබුණත් අන්ධයො වගේ ඉන්න කොටසක්. තමන්ගෙ ලාබ ප්‍රයෝජනය හොඳින් බැරිනම් නරකින් හෝ ලබාගන්න පෙළඹෙනවා. ඒ නිසා තමයි ඉහත දේශනාවෙන් කිව්වෙ, මුසාවාදයේ ඉන්න කෙනෙකුට කරන්න බැරි පවක් නෑ කියල. තමන්ගෙ කලින් තිබ්බ්ච තැන නැතිවෙන කොට, ඒ ලාබ ප්‍රයෝජන නැතිවෙන කොට ඉන්න බෑ. හැම තිස්සෙම බලාපොරොත්තු වෙන්නෙ හොඳක් අහන්න, ඒ ලාභ ප්‍රයෝජන දිගටම තියාගන්න, ලෝකය හොඳයි කියන බලාපොරොත්තුව. දැන් ඒ ලෝකෙන්ම නරකක් ආවොත් දරාගන්න බෑ. ඕන දෙයක් කරන්න පෙළඹෙනවා. කරන්න බැරි පවක් නෑ, ඕනම දෙයක් කරනවා. ඒ තරමම මේ අසත්පුරුෂ ඇසුර භයානකයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළිය - ලෝක වග්ගය ඇසුරින් සකස් කළේ :*

**රිෆ්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

(පසුගිය කලාපයෙන්.. - ලොව පහළ වන දුර්ලභ කරුණු 5 ක්)

# ධර්මයේ සඳහන් වන ධර්ම දේශකයන්...

කාලීන ධර්ම දේශකයන් සහ විචිත්‍ර ධර්ම කථිකයන් කියන මේ නම් දෙක අද ඉතා ප්‍රසිද්ධයි. කාලීන ධර්ම දේශනා කියල වර්තමානයේ කතා කළත්, තථාගත දේශනයට අනුව එසේ පැවසීම ධර්මානුකූල නෑ. බුද්ධ දේශනාව අතීත, වර්තමාන, අනාගත කියන තුන් කාලයටම පොදුයි. කිසි වෙනසකට පත් වෙන්නෙ නෑ. බුදුවරු දේශනා කරන්නෙ ලෝකයේ යථාර්ථය. ඒක කිසිම දාක වෙනස් වෙන්නෙ නෑ. සියලු බුදුවරයන් වහන්සේලා විසින් දේශනා කරන්නෙ මේ පරම සත්‍යය. ඒ නිසා බුදු දහමට අනුව කාලීන ධර්ම දේශනා කියල දෙයක් තියෙන්න බෑ වගේම, ශ්‍රී සද්ධර්මය කාලික නොවන අකාලික සත්‍යයක්.

වර්තමානයේ ධර්ම කථිකයෙක් විදිහට සලකන්නෙ හොඳට ඉගෙන කියාගෙන ශාස්ත්‍රවේදී, ශාස්ත්‍රපති, ආචාර්ය ආදී උපාධි තියෙන, යමක් කමක් කීමේ, බිණීමේ හැකියාව තියෙන කථිකයන්ට. ඒ වුනත් නියම ධර්ම කථිකයා බුද්ධ දේශනාවෙ විග්‍රහ වෙන්නෙ කොහොමද කියල සොයල බලන්න ඕන.

සංයුක්ත නිකායේ ධම්ම කථික සූත්‍රයේ මේ විදියට සඳහන් වෙනවා. **මහණෙනි ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන් තුළින් ඇති වන රාග, ද්වේශ, මෝහ ආදී කෙලෙස්වලට නොබැඳීම, නොඇලීම, නිවීම පිණිස දහම් දෙසන භික්ෂුව නියම ධර්ම කථිකයා වේ.**

ඒ වගේම ජරා/මරණ, ජාති, භව, උපාදාන, තණ්හා, වේදනා, ඵස්ස, සලායතන, නාම රූප, විඤ්ඤාණ, සංඛාර, අවිජ්ජා කියන පටිච්ච සමුප්පාදයේ නොබැඳීම, නොඇලීම, නිවීම පිණිස යමෙක් දහම් දෙසයිද, ඒ පුද්ගලයා නියම ධර්ම කථිකයෙක් බව සංයුක්ත නිකායේ අභිසමය සංයුක්තයේ එන ධම්ම කථික සූත්‍රයෙන් පෙන්වා තියෙනවා.

සංයුක්ත නිකායේ ඛන්ද සංයුක්තයෙත් පඨම, දුතීය ධම්ම කථික සූත්‍රවල ධර්ම කථිකයා විග්‍රහ කරල තියෙන්නෙ මේ විදිහට. ''මහණෙනි, රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන උපාදානස්කන්ධ පංචකයේ නොබැඳීම පිණිස, නොඇලීම පිණිස, නිවීම පිණිස යමෙක් ධර්ම දේශනා කරයිද ඔහු ධර්ම කථිකයෙකි.''

අංගුත්තර නිකායේ චතුක්ක නිපාතයේ සඳහන් ධම්ම කථික සූත්‍රයේ කථිකයින් 4 දෙනෙක් ගැන සඳහන් වෙනවා.

1. මහණෙනි, ධර්ම කථිකයෝ සතර දෙනෙකි. කිසියම් ධර්ම කථිකයෙක් අර්ථ රහිතව ධර්මය ටිකක් දේශනා කරයි. අසා සිටින ශ්‍රාවක පිරිසද අර්ථ සහිත හා රහිත දෙකෙහි අදක්ෂ වෙයි. මෙවැනි පිරිසක් අතර ඉහත සඳහන් කථිකයා ධර්ම කථිකයෙක් ලෙස ගණන් ගැනේ.

2. කිසියම් කථිකයෙක් ධර්මය අර්ථ සහිතව ටිකක් දේශනා කරයි. ධර්මය අසන ශ්‍රාවක පිරිසද අර්ථ සහිත හා රහිත දෙකෙහි දක්ෂ වෙයි. මෙම කථිකයා එවැනි පිරිසක් අතර ධර්ම කථිකයෙක් ලෙස ගණන් ගැනේ.



3. තවත් ධර්ම කථිකයෙක් ධර්මය අර්ථ රහිතව බොහෝ කොට දේශනා කරයි. අසන ශ්‍රාවක පිරිසද අර්ථ සහිත බවෙහි අදක්ෂ වෙයි. මෙබඳු පිරිස් අතර මෙම කථිකයාද ධර්ම කථිකයෙක් ලෙස හඳුන්වයි.

4. ඇතැම් ධර්ම කථිකයෙක් ධර්මය අර්ථ සහිතව බොහෝ කොට දේශනා කරයි. අසන ශ්‍රාවක පිරිසද අර්ථ සහිත හා රහිත දෙකෙහි දක්ෂ වෙයි. මෙවැනි ධර්ම කථිකයා එවැනි පිරිසක් අතරෙහි ධර්ම කථිකයෙක් ලෙස සැලකේ.

මේ අනුව කථිකයන් අතර දෙවෙනි හා හතර වෙනි ධර්ම කථිකයන් නියම කථිකයන් බවත්, අනිත් දෙන්නා එසේ නොවන බවත් පෙනී යනවා.

අට්ඨ කථාවේ තවත් ධර්ම කථිකයන් හතර දෙනෙක් ගැන සඳහන් වෙනවා.

(i) විචිත්‍ර ධර්ම කථික
(ii) ප්‍රේත ධර්ම කථික
(iii) නිග්‍රෝධ ධර්ම කථික
(iv) අග්‍ර ධර්ම කථික

විචිත්‍ර ධර්ම කථිකයා කියන්නෙ සසර නොබැඳීම, නොඇලීම, නිවීම පිණිස ධර්ම දේශනා කරන කෙනා. තවත් කෙනෙක් ඉතා ඉක්මනින්, සමහර විට ඉතා මන්දගාමීව, ඇතැම් අදහස් මහ හයියෙන්, තවත් විටෙක ඇහෙන්නෙ නැති තරම් හෙමින් ප්‍රකාශ කරනවා. මේ හැම වෙලාවෙම ඔහුට මුඛ විපර්යාසයක් ඇති වෙනවා. නිජ්ඣාම තණ්හික කියන ප්‍රේතයින්ගෙ කටින් පිට වෙන ගින්න ටික වෙලාවක් හොඳින් දල් වෙලා තව ටිකකින් නිවිල යනවා. මෙබඳු ස්වභාවයක් ඉහත කථිකයාගෙ දේශනාව තුළ තියෙන නිසා ඔහු ප්‍රේත ධම්ම කථිකයා කියල හඳුන්වනවා.

මුලින් මාතෘකා කර ගත් දේශනාව අමතක කරල ඉන් පරිබාහිරව වෙනත් දේවල් කෙළවරක් නැතිව ප්‍රකාශ කිරීම තමයි නිග්‍රෝධ කථිකයගෙ ලක්ෂණය. නුග ගසක තියෙන අතුවලින් මුල් ඇදිල හැම තැනම අතු පතර හැදුනම, මවු අතු ගසෙන් ඈත් වෙනව වගේ, මාතෘකාව අමතක කරල වෙනත් කරුණු විස්තර කරන නිසා මේ දේශකයාට නිග්‍රෝධ ධර්ම කථිකයා කියල කියනවා. සත්වයාට නිවන් දැකීමට අවශ්‍ය සත්තිස් බෝධි පාක්ෂික ධර්මයන් විග්‍රහ කරමින්, නිවන කුළු ගන්වමින් ධර්ම දේශනා කිරීම තමයි අග්‍ර ධර්ම කථිකයාගෙ ස්වභාවය. මේ සිවු දෙනාගෙන් අග්‍ර ධර්ම කථිකයාම ශ්‍රේෂ්ඨයි.

ඊළඟට ධර්ම දේශනාවකින් කරුණු 8 ක් බලාපොරොත්තු විය යුතු බව අංගුත්තර නිකායේ අනුරුද්ධ සූත්‍රයෙන් පෙන්වා තියෙනවා.

1. අල්පේච්ඡතාවය ඇති කිරීම.
2. දහම් ප්‍රීතිය වර්ධනය කිරීම.
3. විවේකය (කාය, චිත්ත, උපධි යන විවේකයන්).
4. ආරද්ධ (පටන් ගන්නා ලද) වීර්ය ඇති කිරීම.
5. එළඹ සිටි සිහිය ඇති කිරීම.
6. සමාධිය ඇති කිරීම.
7. ප්‍රඥාව ඇති කිරීම.
8. තණ්හා, මාන, දිට්ඨි කියන ප්‍රපංච නැති කිරීම (නිප්පපඤ්ඤ).

මේ කරුණු ඇති කරන්න පුළුවන් විදිහට යමෙකුට ධර්ම දේශනා කරන්න පුළුවන් නම් ඔහු සැබෑ ධර්ම කථිකයෙක් වගේම, ඒ වගේ උතුමන්ගෙ පහළ වීමත් ඉතා කලාතුරකින් සිදු වන්නක්.

ඊළඟට දහම් දෙසුමක පිහිටා තිබිය යුතු සම්පත් 11 ක් ගැන සඳහන් වෙනවා.

1. කතාවෙහි සභ්‍යත්වය - වචනය දේශකයා සතු දෙයක් නිසා වාග් සංවරය තිබිය යුතුයි. ඉදිරිපත් කරන කරුණු අසභ්‍ය ආකාරයෙන් නොවිය යුතුයි. එහෙම නොවුනොත් ශ්‍රාවකයා අප්‍රසාදයට පත් වෙන්න ඉඩ තියෙනවා.

2. සනිදර්ශන බව - දේශකයා තමන් ඉදිරිපත් කරන කරුණු අසන්නාට වටහා දීමට සෑහෙන නිදර්ශන දක්විය යුතුයි.

3. තර්කානුකූල බව - මේ හේතු නිසා මෙය මෙසේ විය යුතුයි කියල සිතීම තමයි තර්කනය කියන්නෙ. එහෙම හිතල ශ්‍රාවකයාටත් ඒක ඒත්තු ගැන්වීම සඳහා කතා කිරීම තර්ක කිරීම වෙනවා. තර්කයේදි සුතර්කය සහ කුතර්කය කියල තර්ක දෙවර්ගයක් තියෙනවා. ප්‍රත්‍යක්ෂ කරන්න පුළුවන් සත්‍ය හේතු දක්වල කරන තර්කය සුතර්කය වෙනවා. පරිකල්පිත හේතු ගෙනහැර පාමින් අප්‍රත්‍යක්ෂ අර්ථයක් ඔප්පු කිරීමට කරන තර්කය කුතර්ක හෙවත් පුහු තර්ක කියල හැඳින්වෙනවා. බුදු දහම අතක්කාවචර ධර්මයක් කියල කියන්නෙ, කුතර්කයෙන් ප්‍රතික්ෂේප කරන්න බැරි ධර්මයක් වන නිසා මිසක්, සුතර්කයෙන් ප්‍රතික්ෂේප කරන්න බැරි ධර්මයක් කියන අර්ථයෙන් නෙවෙයි. (මාතක්ක හේතු - කාලාම සූත්‍රය). ඒ නිසා දේශකයා සත්‍ය හේතු ගෙනහැර දක්වමින් තමන් ඉදිරිපත් කරන ධර්මය ඔප්පු කිරීමට සමත් විය යුතුයි.

4. සරල බව - දේශනාවේ සරල ගුණය ශ්‍රාවකයන්ගෙ අවධානය දිනා ගැනීමට ප්‍රධාන කාරණයක්. පහසුවෙන් වැටහෙන, ප්‍රකට වචන උපයෝගී කර ගෙන අදහස් පැවසීමට පුරුදු කර ගැනීම, අසංකීර්ණ වූ කෙටි වාක්‍ය ගැලපීමෙන් අදහස් පැවසීමට හුරු කර ගැනීම, එක් දෙයක් කියාගෙන යන අතර මග කතාව වෙනත් දෙයක් විස්තර කිරීමට යොමු නොකිරීම කියන ලක්ෂණ තුන කතාවේ සරල ගුණය ආරක්ෂා වීමට හේතු වෙන බව සැලකිය යුතුයි.

සමහර දේශකයන්, ඉදිරිපත් කරපු මාතෘකාව අමතක කරල ආගන්තුක කරුණු සාකච්ඡා කරන්න කාලය ගෙවල දේශනාව අවසන් කරන අවස්ථාත් තියෙනවා. තවත් අය තමන්ගෙ විචක්ෂණභාවය පෙන්වීමේ ආත්මාභිමානයෙන් බර වචන දේශනාවට මිශ්‍ර කිරීමෙන් අසාර්ථක බවට පත් කර ගන්න අවස්ථාත් තියෙනවා. ඒ දුබලකම් අනුගමනය නොකළ යුතුයි.



5. නාති සංක්ෂිප්ත බව - දේශනාව ඉතා කෙටි නොකළ යුතුයි. පැහැදිලි කළ යුතු කරුණු අවශ්‍ය ප්‍රමාණයට පැහැදිලි කරන්නෙ නැතිව අතහැර දැමීම නිසා දේශනාව අසාර්ථක වෙනවා. ඉදිරිපත් කරන කරුණු අසන්නාට තේරුම් ගන්න ප්‍රමාණවත් තරම් දුරට පැහැදිලි කිරීම දේශකයා සතු යුතුකමක්. නමුත් බුදුන් වහන්සේ පවා ඇතැම් අවස්ථාවල මාතෘකා පාලිය විතරක් දීල කෙටියෙන් දහම් දේශනා කරල තියෙන බව සූත්‍රවල දකින්න තියෙනවා. ශ්‍රාවකයන්ට නුවණ මෙහෙයවල හිතන්න පුරුදු වෙන්න තමයි එහෙම කරන්නෙ. ඒ විදිහට සැකෙවින් දේශනා කරපු දහම්, ශ්‍රාවකයන්ගේ ඉල්ලීම පරිදි නැවත විස්තර කරල දේශනා කරල තියෙන බවත් ඒ තැන්වල දකින්න තියෙනවා. ඒ නිසා ඒ කාරණය මෙතනදි පටලවා නොගත යුතුයි.

6. නාති විස්තාර බව - යම් කෙනෙකුට පෞද්ගලිකව කරනු ලබන අවවාදයක් අනුසාසනාවක් වුනත් උවමනාවට වඩා වැඩියෙන් විස්තර කරන්න ගියොත්, ඒක ඒ පුද්ගලයට ඇහෙන්නෙ නැතිව යන්න ඉඩ තියෙනවා. පිරිසක් මැද ධර්මානුසාසනාව පවත්වන කොට මේ තත්ත්වය වඩාත් බලවත් වෙන්න පුළුවන්. විස්තර කරන කොට, කියන්නෙ මොකක්ද කියල තේරුම් බේරුම් කර ගැනීම පවා අපහසු වෙන්න ඉඩ තියෙනවා. මන්තරය දිග වැඩි වෙන කොට යකාටත් නින්ද යන්න පුළුවන් කියන පිරුළ මෙතනදි සිහියට ගැනීම ප්‍රයෝජනවත්. සමහර දේශකයන් එක කරුණක් පැහැදිලි කරන්න ගිහින්, මුලින් ආරම්භ කරපු කතාවෙ අරමුණ අමතක වෙලා අතරමං වන අවස්ථාත් තියෙනවා. ඒ නිසා යමක් විස්තර කරන කොට වැඩි අටුවා නුසුදුසු බව සැලකිල්ලට ගැනීම වැදගත්.

7. අනුක්‍රමවත් බව - ශ්‍රාවක පිරිසක් මැද යම් කිසි ධර්ම මාතෘකාවක් ඉදිරිපත් කරල ඒක පහදල දෙන්න සූදානම් වන දේශකයා, මාතෘකාවෙ ඇතුලත් දහම් කොටස් පියවරෙන් පියවරට පහදල දීමෙන්, ශ්‍රාවක පිරිසේ අවධානය ආරක්ෂා කර ගෙන දහම් අවබෝධය ලබා දෙන්න සැලකිලිමත් විය යුතුයි. එහෙම නොකර අක්‍රමවත්ව, අතරින් පතර, තමන්ට හිතෙන හැටියට කරුණු ගෙනහැර පෑමෙන් ශ්‍රාවකයන් අවුලට වැටෙන්න ඉඩ තියෙනවා. එහෙම වුනොත් ඒ දේශනාවත් පිස්සාගේ පළා මල්ලට සමාන වෙන්න පුළුවන්.

8. අවස්ථානුකූල බව - දහම් දෙසුමක් පවත්වන්නෙ යම් කිසි හේතුවක් ඇතිව, ඊට යෝග්‍ය අවස්ථාවකදි. ඒ නිසා දේශනය ඒ හේතුවටත්, අවස්ථාවටත් විරුද්ධ නොවන අදාල එකක් විය යුතුයි. මංගල සම්මත හේතුවක් ඇතිව ඊට අනුකූලව සැරසිලා ඉන්න පිරිසක් අමතා කරන අනුසාසනය ඒ හේතුවටත්, ඒ පිරිසටත්, ඒ සඳහා වෙන් කරල තියෙන කාලයටත් ඔබින එකක් නොවුනොත්, ඒක කොච්චර අමිහිරි සිද්ධියක් වෙයිද? ඒ වගේම ශෝක ජනක අවමංගල කරුණක් නිමිති කර ගෙන එක් රැස් වෙච්ච පිරිසක් මැද, හාස්‍ය ජනක කතා ඇතුලත් දෙසුමක් කිරීම කොච්චර නොහොබිනවද කියල අමුතුවෙන් කියන්න ඕන නෑ. මේ විදිහට දේශනාවක් සාර්ථක වෙන්න තිබිය යුතු අවස්ථානුකූලත්වය ආරක්ෂා වීමට ඔබින මාතෘකාවත්, පද මාලාවත්, දේශනාවට දෙන කාල ප්‍රමාණයත් නිසි පරිදි යොදා ගැනීමෙන් දේශනය ස්ථානෝචිත වෙනවා.

9. <u>ශ්‍රාවකයන්ට සත්ප්‍රාය බව</u> - **සුදුසු අවස්ථාවෙදි බණ අහන්න ලැබීම මංගල කරුණක් බව බුදුන් වහන්සේ වදාරල තියෙනවා (කාලේන ධම්ම සවණං).** කාම, කෝපාදී කෙළෙස්වලින් හෝ මානසික දුක් පීඩාවලින් හෝ පීඩිතව පවතින අවස්ථාව කෙනෙකුට දහමේ පිහිට අවශ්‍ය අවස්ථාවක්. බණ ඇසීම නිසා ඒ පීඩාවලින් මිදීම සිදුවන නිසා, එබන්දාට ඒක මංගලයක්.

අලුතින් පැන නැගුන ගැටළු කරුණක් නිරාකරණය කර ගැනීමට බලාපොරොත්තු වන අවස්ථාවත් බණ අහන්න සුදුසු වෙලාවක්. එතනදි ඒ ඒ පුද්ගලයාට යෝග්‍ය දහම් මග තෝරා එළි පෙහෙළි කරල දෙසීමත් ඒ අයට ප්‍රත්‍ය වෙනවා. ඒ ප්‍රත්‍ය කරුණු අහන්න සලස්වා දීම ලෙඩෙකුට ඖෂධයක් වගේ, කුසගිනි කෙනෙකුට හිතකර ආහාරයක් වගේ සත්ප්‍රාය වෙනවා. මේ විදිහට ශ්‍රාවකයාගේ මානසිකත්වය, කායිකත්වය සහ ඔහු මුහුණ පා සිටින ගැටළු විමසා බලා ඔහුට ගැලපෙන බණක් තෝරා දීම දේශනාවේ සත්ප්‍රාය බව විදිහට සැලකිය යුතුයි. ඒ සඳහා ධර්ම දේශකයා විමසිලිමත් විය යුතුයි.



10. <u>පුද්ගල ගර්හා රහිත බව</u> - දේශනයක පුද්ගල ගර්හා ඇතුළත්වීම ශ්‍රාවකයන්ගේ අවඥාවට ලක්වෙන්න කරුණක් වෙනවා. දේශකයා කොච්චර ප්‍රබල කෙනෙක් වුනත්, අවස්ථා පහසුකම් කොච්චර තිබුණත්, ධර්මාසනයේ පූජනීයත්වයට නොගැලපෙන ද්වේශ සහගත අදහස්වලින් තොරව, බාර ගත් උතුම් කටයුත්ත කිළිටි නොකර දේශනා කිරීමට දේශකයා වගබලා ගත යුතුයි.

බුදු රජාණන් වහන්සේ ශ්‍රාවක පිරිස මැද දහම් දෙසමින්, සම කාලීන වූ මක්ඛලීගෝසාල ගැන සඳහන් කරමින්, ''මක්ඛලී මෝඝ පුරිසෝ ඛීපං මඤ්ඤේ - මක්ඛලී නම් හිස් මිනිසා කෙමනක් බඳුය'' කියන පුද්ගල අවමන් වචන දේශනා කරල තියෙන බව සඳහන් වෙනවා. නාස්තික දෘෂ්ටිවාදී මක්ඛලීගෝසාල මුළු මහත් මනුස්ස ප්‍රජාවටම, මසුන් මැද ඔබන ලද කෙමනක් මෙන් ඉතා අනතුරුදායක කෙනෙක් කියල ප්‍රකාශ කළේ අප්‍රමාණ ජනතාවගේ ආරක්ෂාව උදෙසා. ඒ ප්‍රකාශයෙන් උන් වහන්සේ කළේ, පුද්ගල ගර්හාවක් කියල බාහිර ලෝකයාට පෙනී ගියත් ඒක ද්වේශ සහගත බැන වැදීමක් නෙවෙයි.

ඒකෙන් පෙන්වා තියෙන්නෙ මක්ඛලීගෙ නාස්තික වාදයේ තියෙන භයංකාරත්වය. එතනදි උන් වහන්සේ බලාපොරොත්තු වුනේ, අනන්ත සත්ව ප්‍රජාව මිසදිටු ව්‍යසනයෙන් මුදවාලීමේ කරුණා ගුණය. බහු ජනතාවගේ හිත සුව පිණිස හේතු වන දෙයක් කියන කොට, එක්තරා පුද්ගලයෙකුට හෝ පිරිසකට ඒක අවඥා සහගත වුනත්, ඒ කාරණය ඒ විදිහට පෙන්වා දුන්නෙ නැත්නම්, ලෝකයට සිද්ධ වෙන්න පුළුවන් ව්‍යසනය ඊට වඩා භයානක බව මැදහත්ව සිතා බැලිය යුතුයි.

11. <u>විමුත්තායතන ශීර්ෂවත් බව</u>

නිවන කුළු ගන්වල, දහම් දේශනා කිරීම අවසන් කළ යුතු බව මේකෙන් අදහස් වෙනවා. මාතෘකාව මොකක් වුනත්, දේශනාවේ නිමිත්ත මොකක් වුනත්, දහම් දේශනාවක් නිවන කුළු ගැන්වීමෙන්ම අවසන් විය යුතුයි. මහා සාගර ජලය කොතැනින් දිව ගාල බැලුවත් හැම තැනම එක වගේ ලුණු රසයෙන් යුක්තයි. ඒ වගේම බුදු දහමත් හැම තැනකම විමුක්ති රසයෙන් යුක්තයි. ඒ නිසා බුදු බණ අනුන්ට දේශනා කරන්නා විසින් විමුක්තිය කුළු ගන්වා දේශනාව අවසන් කරන්න සැලකිලිමත් විය යුතුයි. මහා මංගල ව්‍යග්ඝපජ්ජ වගේ සූත්‍රවල ලෞකික කාරණා බහුලව විග්‍රහ කරල තිබුණත්, අවසානයේ නිවන කුළු ගන්වල ප්‍රඥා සම්ප්‍රදාව විස්තර කරල තියෙනවා. හැම දේශනාවක්ම වගේ විමුක්තායතන ශීර්ෂවත් බව මෙයින් පෙනී යනවා.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

# වඩින් සමිඳුනේ...

දසත බබලවා දිලෙනා
දිනිඳු සේ අඹර නැගෙනා
දුරැර අඳුර ලොව වසනා
වඩින් සමිඳුනේ - කරුණා කරන් සමිඳුනේ

පිපෙන්නට බලා සිටිනා
පියුම් සේ ජලේ ගිලෙනා
කෙලෙස් මඳ දනන් සනහා
වඩින් සමිඳුනේ - කරුණා කරන් සමිඳුනේ

අලොභ අදොස අමොහ ගතී
පුරා පහළ වූ සුගතී
සුදන දනන් පමා වෙතී
වඩින් සමිඳුනේ - කරුණා කරන් සමිඳුනේ

සරත් අළුයමේ නැගෙනා
පහන් තරුව සේ බබළා
අවිදු දුර නසා වනසා
වඩින් සමිඳුනේ - කරුණා කරන් සමිඳුනේ

පිරූ කළණ මුදු ගුණ දම්
දරන සිහිල් වූ ළයකින්
සනහා දස අත කිරණින්
වඩින් සමිඳුනේ - කරුණා කරන් සමිඳුනේ

**ජයන්ති අත්තනායක**
මෙල්බන් නුවර, ඕස්ට්‍රේලියාව

# පාණාතිපාතා වේරමණී සික්ෂාවෙන් නිවන් දකින හැටි...

(පසුගිය කලාපයෙන් - බුදුන් වහන්සේ වදාළ පෙහෙවස් සමාදානය)

"ඒ අරිහතුන් වහන්සේ ජීවිතාන්තය තෙක් පර පණ නැසීමෙන් වෙන්ව, පර පණ නැසීම අතහැර, බහාතැබූ දඬු මුගුරු ඇතිව, බහා තැබූ දැල් උගුල් ආයුධ ඇතිව, පාපයට බිය ඇතිව ලජ්ජා ඇතිව, දයාවට පැමිණ, සියලු ප්‍රාණභූතයන් කෙරෙහි හිතානුකම්පාවෙන් වාසය කරන්නේය."

මෙතනදි වෙන්වීම කියන්නෙ එකක්, අත හැරීම කියන්නෙ තව එකක්. ළමයෙක් සරුංගලයක් යවනවා. සරුංගලය ටික දුරක් ඉහළ ගියාම හොඳ හුළං පාරක් එනවා. ළමයා නූල ටික ටික ගස්සමින් නූල් දෙනවා. ටික වෙලාවකින් නූල කැඩෙනවා. දැන් ළමයත් සරුංගලයත් අතර සම්බන්ධය කැඩුනා, වෙන් වුනා. සරුංගලය වෙනම පාවෙලා ගිහින් වෙලකට වැටෙනවා. ළමයා දුවල ගිහින් සරුංගලය ආපසු අහුල ගන්නවා. වෙන්වුනාට දැන් සරුංගලය නැවතත් ළමයගෙ අතේ. සරුංගලය හුළඟට ගිහින් උස ගහක රැඳුනොත්, ඇද්දම ඉරිල කැඩිල යනවා. දැන් ඒක අරගෙන නැවත හදන්න බැරි තත්වයට පත් වෙනවා. ළමයා සරුංගලය ගැන ආසාව අත් හරිනවා.

පර පණ නැසීමෙන් වෙන් වෙනව කියන එකත් මේ වගේ. වෙන්වෙලා ඉදීම තාවකාලිකයි. සිල් පදේ සමාදන් නොවෙච්ච වෙලාවක සතෙක් මරන්න හිතුනොත් මරනවා. පර පණ නැසීම අත හැරියම, ඒ සඳහා තිබුණ කැමැත්ත අත හැරීම නිසා, සිල් පදේ සමාදන් නොවුනත් මරන්න හිතක් එන්නෙ නෑ. අතේ යමක් හිරවෙලා තිබුණොත්, අත හැරියම ඒ දේ නිදහස් වෙනවා. මෙතෙක් කල් පර පණ නැසීම අල්ලගෙනයි හිටියෙ. දැන් අත හැරල. සිල් පදේ සමාදන් වෙච්ච දවසට පර පණ නැසීමෙන් වෙන්ව ඉදීමේ ආනිසංස දකිනවා. ඒ සැනසිල්ල ශාන්තිය වැටහෙන කොට, සදහටම අතහැරීම කොයිතරම් ශාන්තද ප්‍රණීතද කියල අවබෝධ වෙනවා. ඒ අවබෝධය නිසා පර පණ නැසීමට ඇති කැමැත්ත තමන් තුළින්ම අත හැරෙනවා.

ලෝකයා ලජ්ජා වෙන්නෙ, අන් අයට ඇති සම්පත් තමන්ට නැති අවස්ථාවලදී. නමුත් අරිහතුන් වහන්සේ ලජ්ජා වෙන්නෙ පාපයට. ල+අජ්ජා තමයි ලජ්ජා කියන්නෙ. අජ්ජ කියන්නෙ අභ්‍යන්තරය. ළය ඇතුලතින්ම, හදවතින්ම කියන එකයි ලජ්ජා කියන්නෙ. ලෝක සත්වයා, අනේ මට හිංසා කරන්න එපා, අනේ මාව මරන්න එපා, මගේ දේ පැහැර ගන්න එපා... ආදී වශයෙන් එපා එපා කියන දේ කරනව නම්, එපා අය වෙනවා. අයවීම් කියන්නෙ රැස්කර ගන්න දේ. එපා + අය තමයි අපාය කියන්නෙ. (ප+අපා),



අපාය පැත්ත තමයි පාප කියන්නෙ. රහතන් වහන්සේ පාපයට ලජ්ජා ඇතිව බිය ඇතිව වාසය කරනව කියන්නෙ, ඒවායේ හරයක් නෑ කියල දන ගෙන රාග, ද්වේශ, මෝහ මූලික සිතිවිලි, ක්‍රියා, වදන් හදවත අභ්‍යන්තරයෙන්ම පහ කර ගෙන ජීවත් වෙනව කියන එක. පාපයට බිය වෙන්නෙ, ඒවායේ හරයක් නෑ, අනාථභාවයට ඇද දානවා කියන ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වීම නිසා. ලෝකෝත්තර සම්මා දිට්ඨිය ඇති වෙන්නෙ සෝතාපන්න වීමෙන්. ලෞකික සම්මා දිට්ඨියෙන් අපායක් ඇත, පාපය හොඳ නෑ, දුක් විපාක ලැබෙනව කියල දැන ගත්තත්, ආත්ම ලාභයෙදි පාපයට බිය නැතිව, ලජ්ජා නැතිව පාපය සිදු කරල ආස්වාද විඳිනවා. විපාකය ගැන තැකීමක් නෑ. විපාකය ආවම තමයි ඒ ගැන පසුතැවිලි වෙවී විපාක දුකෙන් මිදෙන උපක්‍රම සොයන්නෙ.

සද්ධර්මය ශ්‍රවණය කරල, ආර්ය මාර්ගයට පත් වූ පුද්ගලයා පාපයට ලජ්ජා ඇතිව බිය ඇතිව ඉඳීමෙන් ලැබුණ සැනසීම නිසා, නිතරම ඉන්නෙ දහම කෙරේ සද්ධාවෙන්. සිත ප්‍රබෝධමත්. ප්‍රසන්න සිතකින් ඉන්න නිසා කාටවත් හිංසා පීඩා කරන්න කැමති නෑ. මම වගේම අනිත් අයත් සතුටින් ඉන්නව නම් හොඳයිනෙ, කාටවත් රිදවන්න හොඳ නෑ, මොනව ලබා ගන්නද රිදවන්නෙ, ඒවායේ හරයක් නෑ කියන මානසිකත්වය නිසා, අන් අයට හිංසා පීඩා කිරීමට භාවිතා කරන දඬු මුගුරු, දැල් උගුල් ආයුධ පැත්තකට කරල ඉන්නෙ. බහා තැබූ කියන්නෙ ඒකයි.

පර පණ නසන්නෙ නැත්නම්, කාටවත් රිදවන්නෙ නැත්නම් අන්සතු දේ පැහැර ගන්නෙත් නෑ. අනුන්ගෙ සම්පත් උදුර ගැනීම ඒ අයට කරන රිදවීමක්. අන් අයගෙ පවුල්වල සමගිය සමාදානය නැතිවන කාම මිච්චා චාරයේ යෙදෙන්නෙත් නෑ. බොරුවෙන් අනුන්ව මුලා කරන්නෙත් නෑ. කේලමෙන් එකිනෙකා භේද භින්න කරන්නෙත් නෑ. පරුස වචනයෙන් සැඩ බවට පත් කරල, ද්වේශය කියන අකුසලය ඒ අය තුල ඇති කරන්නෙත් නෑ. හිස් ප්‍රලාප කථාවලින්, මිනිස් ජීවිතයක වටිනා කාලය අපතෙ යවන්නෙත් නෑ. විවේක කාලය ගත කරන්නෙ, අසා දැනගත් වටිනා දහම සිහි කරන්න, විමසා බලන්න, අන් අය සමග දහම් සාකච්ඡා කරන්න. අනුන්ගෙ භව භෝග සම්පත් දැකල, ඒවාට ලෝභ කරන්නෙත් නෑ. සත්‍ය දහම දැකපු නිසා මිසදිටු අදහස් ගන්නෙත් නෑ. දස අකුසලයෙන්ම වෙන් වෙලා වාසය කරනවා. සබ්බ පාපස්ස අකරණං..... කියන බුද්ධ අවවාදය අනුගමනය කරනවා. පර පණ නැසීමෙන් වෙන්ව, පර පණ නැසීම අතහැරියම සියලු ලෝ සතුන් කෙරෙහි මේ වගේ හිතානුකම්පාවක් ඇති වෙනවා. අප්‍රමාණ ලෝක සත්වයෝ අනන්ත දුක් විඳින හැටිත්, ඒ දුක් විඳින හේතුවත් දකිනවා.

බුදුවරු මේ ලෝකයට වරින් වර පහළ වෙලා, දස අකුසල් නොකරන්න, ඒවායේ විපාක හැටියට බොහෝ දුක් විඳින්න සිද්ධ වෙන අපායක් තියෙන බවත්, කුසල් දහම් කරන්න, ඒවායේ විපාක හැටියට බොහෝ සම්පත් ඇති දිව්‍ය ලෝක තියෙන බවත්, සියලු දුකෙන් මිදෙන නිවනක් තියෙන බවත් දේශනා කරනවා. සුගතියට නිවනට මග දේශනා කරනවා. නමුත් පස් කම් සැපයට ගිජු වූ ලෝකයා දස අකුසල් කරල අනන්ත සසර දුක් විඳිනවා. අනන්ත සසර දුක කිව්වම, ඒ අයට ඒක වචන තුනක් විතරයි. න+අන්ත කියන එකයි අනන්ත කියන්නෙ. ඒ කියන්නෙ අන්තයක් නෑ. සත්වයාගේ හට ගැනීම, පැවතීම, නිරුද්ධ වීම කියන්නෙ හේතු - ඵල ක්‍රියාදාමයක්. හේතු ඇති තාක් ඵල ඇති වෙනවා. ඒ නිසා අවසානයක්, සීමාවක් පනවන්න බෑ. ශරීරයක් අරගෙන සරනවා කියන එකයි (ස+සර) සසර කියන්නෙ. එක ශරීරයක් ලැබිල ඒ ශරීරය දිරල ගියාම, රැස් කළ හොඳ හෝ නරක කර්මවලට අනුරූප ඵලයක් ලෙස දේව, බ්‍රහ්ම, මනුස්ස ලෝකයක හෝ සතර අපායක අලුත් කයක් යළිත් ලබනවා. යළි යළිත් මෙබඳු කයවල් ලබාගෙන සැරි සැරීමට සසර කියනවා.

දුක කියන්නෙ දුව දුව ක්ෂය වෙනවා, ක්ෂය වෙන දේවල් හෙවත් පහත් බවට පත්වෙන දේවල් පස්සෙ දුවනවා කියන අරුත. මැරි මැරී ඉපදෙන සත්වයා, මුලින් මුලින් ලබපු සැප සම්පත් පිරිහෙමින්, දුක් වේදනා විඳින අත්බැව් ලබනවා. ලෝක ආරම්භයේ තමන්ගෙම ආලෝකය විහිදවමින් ප්‍රීතිය ආහාර කරගෙන නිදහස් අහසේ සැරි සැරූ ආදී බ්‍රහ්ම කල්පික මනුස්සයා, කාමයන්ට ක්‍රමයෙන් ගිජු වීම නිසා ස්වයං ප්‍රභා ආලෝකය නැති වුනා. ඊට පස්සෙ, අහෝ මේ දේ නැති වුනා කියල දුක සෝකය ඇති වුනා. මේ ක්ෂය වීම අපාය දක්වාම ගියා. නමුත් බුදු කෙනෙක් ලෝකෙට පහළ වෙලා, මහා සම්බුද්ධ ඥානයෙන් අවබෝධ කරගෙන, බුදු ඇසින් දැකල දේශනා කරන කල්, දිවැසක් ඇති මුණිවරු දිවැසින් දැකල දේශනා කරන කල්, මේ ලෝක සත්වයා මරණින් පසු අකුසල විපාක විඳින සතර අපාය ගැන/ මේ තත්වය ගැන දන්නෙ නෑ. ජාති, ජරා, ව්‍යාධි, මරණ ආදී මනු ලොව දුක් දෙවෙනි වෙන, අපා දුකක් තියෙන බව දන්නෙ නෑ. සද් දහම අහල, අරි අටඟි මගට නොපිළිපන් සැම සත්වයෙකුටම මේ මහා සතර අපා දුකෙන් නිදහස් කියල සතුටු වෙන්න බෑ.



මටත්, මේ ලෝක සත්වයාටත් මේ ඉපදෙමින් මියයමින් දුක් විඳින මහා මාර උගුලෙන් ගැලවීමක් නැත්ද, මටත් මේ ලෝක සත්වයාටත් සැනසීමක් ලැබෙන මාර්ගය මොකක්ද, ඒ සඳහා කරන්න ඕන මොනවද, ඒ දේ කළ යුතුයි කියල උත්සාහයක්, වීර්යක්, දයානුකම්පාවක් ඇති වෙනවා. තපෝ ගුණය හැර, බොජ්ජංග ධර්ම හැර, නිවන් මග හැර, මටත් ලෝ සතුන්ටත් වෙනත් සැනසීමක් නෑ කියල වටහගෙන ඒ සඳහා සිතින්, කයින්, වචනයෙන් අවවාද කරයි නම්, අනුශාසනා කරයි නම්, ආර්ය විනයේ එයම දයාවයි, එයම අනුකම්පාවයි කියල බුදුන් වහන්සේ දේශනා කරනවා. ඒ තමයි බුදුන් වහන්සේ දේශනා කරපු දයානුකම්පාව.

සියලු ප්‍රාණභූතයන් කෙරෙහි හිතානුකම්පාවෙන් වාසය කරනවා කියන්නෙ, දස අකුසල් කරන්න එපා කියන අවවාදය නොසලකා, පවු කරල ඒ පවුවල විපාක විඳින්න විවිධ දුක් කරදර පීඩාවන්ට පත්වුන ලෝක සත්වයින්ගෙත්, අපාගත සත්වයින්ගෙත් විපාක දුකින් මුදවන්න උත්සාහ කිරීම නෙවෙයි. පෙර කරන ලද අකුසල විපාක හේතුවෙන් ලෝක සත්වයා විඳින විපාක දුකින් නිදහස් කරන්න බුදුන් වහන්සේටත් බැරි වුනා. එබඳු හැකියාවක් තිබුන නම්, පෙර ඥාති සොහොයුරුව හිටපු දේවදත්ත භික්ෂුවට අපාගත වෙන්න හෝ අග්‍ර ශ්‍රාවක මුගලන් මහ රහතන් වහන්සේට සොරුන්ගෙන් පීඩා විඳල පිරිනිවන් පෑමට හෝ සිද්ධ වෙන්නෙ නෑ. උන් වහන්සේට දෙව්දත් තෙර ගල් පෙරලන්නෙත් නෑ. තමන් වහන්සේටත්, රහතන් වහන්සේලාටත් පෙර අකුසල විපාක විඳින්න සිදු වූ අවස්ථා පිළිබඳවත් දේශනා කරල තියෙනවා. ඒ නිසා දැනුවත් වෙන්න ඕන, සියලු ප්‍රාණභූතයන් කෙරෙහි හිතානුකම්පාවෙන් වාසය කරනව කියන්නෙ, ආර්ය මෛත්‍රියෙන් යුක්තව වාසය කරනවා කියන එක.

මෛත්‍රිය මොකක්ද, ආර්ය මෛත්‍රිය මොකක්ද කියන එකත් පැහැදිළි කර ගන්න ඕන. සියලු සත්වයෝ නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, සුවපත් වෙත්වා කියල, ඊළඟට දුකෙන් මිදෙත්වා කියලත් කියනවා. නිදුක් වෙත්වා, දුකෙන් මිදෙත්වා කියන කාරණා දෙක මතු පිටින් බැලුවම එකම තේරුමක් තියෙන්නෙ. නමුත් පද දෙකක් කියන්නෙ ඒ දෙකේ තේරුම් දෙකක් තියෙන නිසා. නිරය, තිරිසන්, ප්‍රේත, අසුර කියන සතර අපායෙන් එකක උපතක් ලැබුවොත්, ඒකෙන් මිදිල නැවතත් මිනිස් අත්බැවක් ලබන්න කොච්චර කාලයක් ගත වෙයිද කියන්න බැරි තරම්... අවුරුදු ගණනින් කියන්න බැරි තරම් දිගු කාලයක් බොහෝ දුක් විඳින්න සිද්ධ වෙනවා. නිරය කියන්නෙ නිර්+අය කියන එක. අය වීමක් නෑ. මිනිස් අත්බැවේ ඉඳෙද්දි තමන්ගෙ ඥාති වූ පිරිස පින් දහම් සිදු කරල අනුමෝදන් කළත් නිරයෙදි අනුමෝදන් වෙන්න බෑ. ඒ අකුසල විපාක ශක්තිය ගෙවිල අවසන් වෙලා, පින් සිතක් පහළ වුණ වෙලාවක තමයි පින් අනුමෝදන් වෙන්න පුළුවන් වෙන්නෙ. නිරා දුක් විඳින නිරි සතුන්ට පින් සිතක් උපදවා ගැනීමේ හැකියාවක් නෑ. ලෝ වැඩ සඟරාව කියන සදහම් අවවාද පොතේ මේ බව පෙන්වා තියෙන්නෙ මෙහෙමයි.

සිතුවත් බිය කරවන අර තරයේ
වැටුනොත් එක් සිය සතිසක් නිරයේ
බලවත් දුක් විඳිනෙය කරදරයේ
මඳකුත් පිනකට නැත අවසරයේ

එක් එක් ආකාරයේ වද බන්ධන ඇති, පින් සිතිවිලි මාත්‍රයක් උපදවා ගන්න බැරි නිරයන් එක සිය තිස් හයක් (136) ඇති බව දහමෙ සඳහන් වෙනවා. මේ කියන බලවත් දුක තව දුරටත් උපමාවකින් පෙන්වන්නෙ මෙහෙමයි.

තෙසියක් තෙප් මුව වැද සිදුරුව ගත
දවසක් මිනිසකු විඳි දුක් නොනැවත
මොහොතක් නිරයේ විඳි දුක සමවත
අබැටක් හා සරි වේදෝ හිමවත

තුන් සියයක් ඊතලවලින් විදල, ගත සිදුරු කරන ලද යම් පුද්ගලයෙක් දවසක් පුරා විඳින දුක, නිරයේ

මොහොතක් විඳින දුක එක්ක සන්සන්දනය කළොත්, ඒක අබ ඇටයක් හිමාලය පර්වතය සමග සන්සන්දනය කරනව වගේ කියලයි මේ උපමාවෙන් පෙන්වල දෙන්නෙ. මේ කාරණය මජ්ජිම නිකායේ 3 වෙනි කාණ්ඩයේ එන බාලපණ්ඩිත සූත්‍රයෙත් (365 පිටුව) සඳහන් වෙනවා.

තිරිසන් කියන්නෙ තිරස+අන් කියන එක. තිරස කියන්නෙ හරස් අත. අන් කියන්නෙ ආහාරය, භුක්තිය. සිරස්ව කය පිහිටා ඇති මනු සතා සතුන් මැරීම, සොරකම් කිරීම, කාමයන්හි වැරදි ලෙස හැසිරීම ආදී පස් පවු, දස අකුසල් හොඳයි කියන දැක්මෙන් කටයුතු කරනව නම්, ඒවා ඍජු අවංක ක්‍රියා නෙවෙයි. වංක, තිරස් ක්‍රියා. නැත්නම් තිරිසන් වැඩ කියලත් කියනවා. සිරස කියල හිසටත් කියනවා. හිස මුදුනින් හොඳයි කියල පිළි අරගෙන කළේ තිරස් ක්‍රියා නම්, හිස තිරස් වෙන්න හේතු වෙනවා. පවට උරුමව ලැබෙන හැටියට කෑම බීම, ඉඳුම් හිටුම් ආදී පස්කම් සැප, හිස පහත් කරගෙන භුක්ති විඳින්න තිරිසන් ලෝකයේ උපදින්න වෙනවා. තිරිසන් ලෝකෙ නීතිය තමයි, පුළුවන් සතා දුර්වල සත්වයා යටපත් කර ගෙන, මරාගෙන තමන්ගෙ අවශ්‍යතා ඉටු කර ගැනීම. මනුස්සව ඉඳෙද්දි හොඳයි කියල පිළිගත් වැඩ පිළිවෙල දැන් ආපිට ඇවිත්. මිනිස් ඇසුරේ හැදෙන වැඩෙන සතෙකුට විතරයි, දයාවක් කරුණාවක් ලැබිල ඒ අත්බැවෙන් නිදහස් වෙන්න අවස්ථාවක් ලැබෙන්නෙ. නැත්නම් මිනිස්ව ඉපදිලා කරපු පාප කර්මයන්ට අමු අමුවේ ලෙයින් මසින් වන්දි ගෙවමින් පාප ශක්තිය ගෙවිල අවසන් වෙන කල්, බොහෝ කාලයක් දුක් විඳින්න සිද්ධ වෙනවා. මැරි මැරී ඉපදෙමින් ඒ දුක ගෙවන්න වෙනවා.

ප්‍රේත කියන්නෙ පර+හේ+අත කියන එක. ඒ කියන්නෙ අනුන්ගෙන් දෙන දෙයක් අත පාල අරගෙන, බොහොම බැගෑපත්ව ජීවත් වෙන සත්ව කොටසක්. නුදුන්නොත් බලෙන් ගන්න බෑ. තිබිලත් අපට දුන්නෙ නෑ... කියල, හූල්ල හූල්ලා ද්වේශයෙන් දැවි දැවී, නිරාහාරව නිර්වස්ත්‍රව ඉන්න වෙනවා. **මනුස්ස වෙලා ඉඳෙද්දි අනුන්ගෙ සම්පත් දැකල, ඒවා මට ලැබෙනව නම්... කියන දැඩි ලෝභයත්, ඒ නිසා දන් පැන් නොදීමත් කියන අකුසල සංඛාර වැඩීම නිසා, බොහෝ ආයුස ඇති ප්‍රේත ලෝකයේ උපදිනවා. ඊර්ෂ්‍යාව, කුහකකම, මසුරුකම ආදී අකුසල්වලට විපාක වශයෙන්, විවිධ විකෘති රූප කායවල් ලබාගෙන, ඉතා භයානක දුක් විඳින ප්‍රේත කොට්ඨාස ඉන්න බව,** දිවැස් තියෙන රහතන් වහන්සේලා පවා දිවැසින් දැකල දේශනා කරල තියෙනවා.

අසුර කියන්නෙ අ+සුර, සූර කමක් නෑ කියන එක. විසාල පර්වත, විසාල කඳු වගේ හෙලවෙන්න, පෙරලෙන්න, ඉරියව් වෙනස් කරන්න අපහසු ශරීර තියෙන, අව්වට ගිනි රස්නෙන් දැවෙන, වැස්සට තෙමී තෙමී සීතලේ මිරිකෙන, අපිරිසිදු වුනොත් පිරිසිදු වෙන්න බැරි සත්ව කොට්ඨාසයක් තමයි අසුර කියන්නෙ. මනුස්සව ඉපදිලා කම්මැලි අලස කම් නිසා, පුළුවන්කම තියෙද්දිත් තමන් කළ යුතු කටයුතු අනුන් ලවා කරවා ගැනීමේ සංඛාරය හේතුවෙන් උපදින අපා ලෝකයක්. (මේ විස්තර කළේ සයුර ඇසුරට කැමති වීමේ සංඛාරයෙන් අසුර නමින් මහ මුහුදේ ජීවත්වන, දෙවියන් තරම් තේජස් නැති දිව්‍ය කොට්ඨාසය ගැන නෙවෙයි.)

සතර අපාය ගැන යම් පමණකින් හෝ විස්තර කළේ ජාති, ජරා, ව්‍යාධි, මරණ ආදී දුක්වලට වඩා, බොහොම භයානක දුක් සහිත ලෝකවල, පවු කරන සත්වයින්ට ඉපදීමට සිදු වන බව පෙන්වා දෙන්න. යම් කෙනෙකුට නිදුක් වෙත්වා කියනව නම්, මෙන්න මේ භයානක සතර අපා දුකෙන් නිදුක් වෙත්වා කියන එකයි අපේ ප්‍රාර්ථනය වෙන්න ඕන. සතර අපා දුකෙන් නිදුක් වෙන්නෙ සෝවාන් මාර්ග-ඵලවලට පත් වීමෙන්. එහෙනම් සියලු සත්වයෝ නිදුක් වෙත්වා කියන්නෙ, සියලු සත්වයෝ සෝවාන් ඵලයෙන් නිදුක් වෙත්වා කියන එක.

යම් රෝගයක් හට ගන්නව නම්, මේ කය ඇසුරු කර ගෙනයි හට ගන්නෙ. මස් ලේ සහිත මෙබඳු කුණුවෙන, ඕජස් වැගිරෙන කයක් නැත්නම් රෝගයක් වැළඳෙන්න තැනක් නෑ. මම නිරෝගීව ඉන්නව කියල, බුදුන් වහන්සේට තමන්ගෙ සිරුරේ නිරෝගිකම ගැන උද්දාමයෙන් කථා කරපු මාගන්ධිය බමුණට, "මේ කය රෝගයක් වැනිය, ගණ්ඩයක් වැනිය, ශල්‍යයක් වැනිය..." ආදී වශයෙන් දේශනා කළ බව මජ්ජිම නිකායේ 2 වන කාණ්ඩයේ එන මාගන්ධිය සූත්‍රයෙන් පෙන්වා තියෙනවා. මෙබඳු කයක් තියෙන තුරු නිරෝගි වෙත්වා කියල පැතුවට ඒ පැතුම ඉටු වෙන්නෙ නෑ.

ලෞකික වශයෙන් නියම නිරෝගි වීමක් වෙන්න නම්, මස් ලේ සහිත කයක් නැති සුගතියක උපදින්න ඕන. ඒ සඳහා දිව්‍ය බ්‍රහ්ම ආදී කිරණ මට්ටමේ සතර මහා ධාතුන්ගෙන් සකස් වුන කයක් ලබන්න ඕන. නමුත් ආර්ය විනය අනුව නිරෝගි වෙන්න නම් භව රෝගය නිවෙන්න ඕන. භව රෝගය නිවෙන්න පෙර කාම රෝගය තුනී වෙන්න ඕන. ඒ සඳහා සකෘදගාමී වෙන්න ඕන. ඒ නිසා සියලු සත්වයෝ නිරෝගි වෙත්වා කියන කොට, සියලු සත්වයෝ සකෘදගාමී ඵලයෙන් නිරෝගි වෙත්වා කියන අදහස එන්න ඕන.

සකෘදගාමී වීමෙන් කාම රාග, පටිඝ තුනී වෙනව විතරයි. ඒ නිසා මනුස්ස, දිව්‍ය ලෝක වුනත් කාම දාහයෙන් යුක්තයි. කාම දාහයන් තියෙන කල් සත්වයාට නියම සුවයක් ලබන්න බෑ. එබඳු කාම දාහයක් නැති ලෝකයක උපදින්න ලැබෙනව නම්, නැවත කාම ලෝකයක නූපදිනව නම්, එතැන සුවයක් තියෙනවා. සුද්ධාවාස බ්‍රහ්ම ලෝකයක උපදින, (න+ආගාමී - නැවත ඒමක් නෑ) අනාගාමී ඵලයට පත් වීමෙන් මේ කාම දාහයන්ගෙන් සදහටම මිදෙනවා. ඒ නිසා සියලු සත්වයෝ සුවපත් වෙත්වා කියන කොට, සියලු සත්වයෝ අනාගාමී ඵලයෙන් සුවපත් වෙත්වා කියන අදහස එන්න ඕන.

සතර අපායෙන් මිදුනත්, රෝගයක් වගේ මස් ලේ සහිත කයෙන් (කාම සුගතියෙන්) මිදුනත්, කාම දාහයෙන් මිදුනත් සුවය සම්පූර්ණ නෑ. බ්‍රහ්මයින්ට ඇස, කන, මන ක්‍රියාත්මකයි. උදාහරණ විදිහට එක් එක් බ්‍රහ්මයන්ට තියෙන මැවීමේ හැකියාව අඩු වැඩි වෙනවා. ඒ නිසා ඒ අය මානයෙන් පෙළෙනවා. දෙව් ලොව, මනු ලොව සහ සතර අපාගත සත්වයින් විඳින දුක් වේදනා පේනවා, ඇහෙනවා. ඒ හේතුවෙන් ඇති වන සිතිවිලි නිසා පෙළෙනවා. ඒ සියලු පෙළීම්වලින් නිදහස් වෙන්නෙ අරිහත්වයෙන්. ඒ නිසා සියලු සත්වයෝ දුකින් මිදෙත්වා කියන කොට, සියලු සත්වයෝ අරිහත් ඵලයෙන් දුකින් මිදෙත්වා කියන අදහස එන්න ඕන.

සියලු ප්‍රාණ භූතයන් කෙරෙහි හිතානුකම්පාවෙන් වාසය කරන, මෛත්‍රී භාවනාව වඩන ශ්‍රාවකයාට මෙත් වැඩීමේ ආනිසංස 11 ක් ලැබෙන බව දේශනා කරල තියෙනවා. 11 වෙනි ආනිසංසය විදිහට, මෙලොවදී අරිහත්වයට පත් නොවුනොත් මරණින් මතු බඹ ලොව ඉපදිලා, එහි ආයු කෙළවර එහිදීම පිරිනිවන් පාන බව පෙන්වා තියෙනවා. පාණාතිපාතා වේරමණී සික්ඛාව නිවැරදිව දැන ගෙන අවබෝධ කරගෙන ආරක්ෂා කළොත් නිවන් දකින්න මගක් වෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

**අභයරතනාලංකාරය - 47**

# සත්ව හිංසනය ගැන ඇති වූ දයානුකම්පාව නිසා පාදයේ තුවාලය සුව වූ හැටි...



(පසුගිය කලාපයෙන් - පෙර අත්බැවක සහෝදරයාට පහර දුන් විපාකය මේ අත්බැවේ ආ හැටි...)

- වහරක අභයරතනාලංකාර හිමි

සත්ව හිංසනය සහ මස් මාංශ අනුභවය සම්බන්ධයෙන් වූ ධර්මානුකූල විග්‍රහයක් මීට පෙර හෙළ බොදු පියුම 9, 10, 11 කලාපවලින් ඉදිරිපත් කළා. අනුබල වීම කියන කාරණය නිසා පවත්ත නොවන මස් මාංශ හෙවත් අසාධාරණ විදිහට සකස් කළ මස් මාංශ අනුභවයට නොගැනීම, දයානුකම්පිත ගුණයක් බවත් ඒ ලිපි පෙළින් හේතු සාධක සහිතව පෙන්වා දුන්නා. විශේෂයෙන් මස් මාංශ සම්බන්ධයෙන් නොවුනත්, අණ පනවා සකස් කළ දානයක ඇති අසාධාරණ බව දකපු සැරියුත් මහ රහතන් වහන්සේ, උන් වහන්සේට පිළිගැන්වූ දානයක් ප්‍රතික්ෂේප කළ අවස්ථාවක් සහ ඒ ගුණය හේතුවෙන් උන් වහන්සේට කර්ම විපාකයක් වශයෙන් දීර්ඝ කාලීනව තිබිච්ච බඩේ අමාරුවක් සම්පූර්ණයෙන් සුව වූ අවස්ථාවක් ගැනත් එහිදී සඳහන් කළා.

අභයරතනාලංකාර හිමියන් දැඩි ලෙස රෝගාතුර වෙලා දැඩි කායික වේදනාවන්ට මුහුණ දෙන කොට, උන් වහන්සේටත් අත් දකින්න ලැබිච්ච මේ වගේ සිද්ධියක් ගැන මීට අවුරුදු කිහිපයකට උඩදී උන් වහන්සේ හෙළිදරව් කළා. පසුගිය කලාපයෙන් විස්තර කළ, පාදයේ ආබාධය නිසා රෝහලේ ප්‍රතිකාර ලබන අවස්ථාවෙදි තමයි උන් වහන්සේට මේ සිද්ධිය අත් දකින්න ලැබුණෙ. මේ තමයි උන් වහන්සේ විස්තර කළ ඒ අත්දැකීම.

එදා මගේ කකුල සැත්කමකට භාජනය කරල හිරි වැට්ටවීමකින් හෝ සිහි නැති කිරීමකින් තොරව තුවාලය සුද්ධ කරන කොට පුදුමාකාර වේදනාවක් වින්දා. ඉතින් එහෙම දැඩි කායික වේදනාවන්ට ගොදුරු වෙලා ලෙඩ ඇඳේ දින ගණනාවක් ඉන්න වුණා. ඒ වෙන කොට මම මස් මාංශ වැළඳීම හෝ නොවැළඳීම ගැන ඒ තරම් තැකීමක් කළේ නෑ. ඒ සම්බන්ධයෙන් බොහොම මධ්‍යස්ථ අදහසක තමයි හිටියෙ. ඒ නිසා දායකයන් විසින් දානෙට මස් මාංශ ගෙනාවොත් වළඳනවා, ලැබිච්ච දෙයක් වළඳල මාර්ගය පූර්ණ කර ගන්නවා කියන අදහසේ හිටිය මිසක්, ඒ සම්බන්ධයෙන් එච්චර හොයන්න බලන්න ගියේ නෑ. සතුන් මැරීම, මැරවීම, මරන්න අනුබල දීම සහ මැරීම වර්ණනා කිරීම ප්‍රාණ ඝාතයක් බවත්, මස් මාංශ අනුභවයෙන් පාපයක් සිද්ධ නොවන බවත් දැන ගෙන හිටියා. ඒ හැර පවත්ත නොවන මස් මාංශ අනුභවයෙන් වැළකීමෙන් ඇති වන ප්‍රතිඵල ගැන ඒ තරම් සැලකිල්ලක් දැක්වුවෙ නෑ.

ඉතින් රෝහල් ඇඳේ මම දැඩි වේදනාවෙන් පීඩා විඳිමින් ඉන්න කොට මට මෙහෙම දෙයක් කල්පනා වුණා. අපේ කකුලෙ තියෙන තුවාලයක් සුද්ධ කරන කොටත් මේ තරම් දරා ගන්න බැරි කායික දුකක් වේදනාවක් එනව නම්, අනේ මේ සත්තු පුංචි පුංචි කුඩුවලට දාල කොටු කරල නොයෙක් වද හිංසා දීල ගහල ඇනල මරන කොට මොන තරම් වේදනාවක් එනව ඇත්ද? ඒ සත්තු ඒක කොහොම ඉවසනව ඇත්ද? ඒ විදිහට හිංගි හිංසා කරල අසාධාරණයෙන් සකස් කරන මස් මාංශ නේද අපි මේ අනුභව කරන්නෙ? ඒ වගේ අසාධාරණයෙන් සකස් කර ගත්තු මස් මාංශ ගැනීම අපිට ගැලපෙන්නෙ නෑ නේද? මෙහෙම හිතල මම තීරණය කළා, මීට පස්සෙ මගේ දානෙට උම්බලකඩ කෑල්ලක්වත් ගන්නෙ නෑ කියල. ඒ අවස්ථාවෙදි ඒ තීරණය මම එකහෙළාම ගත්තා. ඒත් එක්කම මගේ හිස් මුදුනෙ පටන් පතුල දක්වා, අර තුවාලය තිබිච්ච කකුල දිගේ එක්තරා සීතල වායුවක් වගේ දෙයක් ඇදිල ගියා. ඒ වෙලාවෙදි අමුතුම සුවයක් දැනුණා. ඊට පස්සෙ බලන කොට අර අඟල් 3 - 4 ක් ගැඹුරට සනකමට තිබිච්ච තුවාලෙ සැහෙන ප්‍රමාණයක් වැහිල ගිහින්, පුංචි තුවාලයක් විතරක් ඉතිරි වෙලා තිබුණා. මටත් හිතා ගන්න බෑ වෙච්ච දේ. ඊට පස්සෙ මම පන්සලට එන දායකයින්ටත් කිව්වා, මීට පස්සෙ පන්සලට ගේන දානෙට උම්බලකඩ කෑල්ලක්වත් ගාව ගන්න එපා කියල. මොකද දැන් තියෙන්නෙ අසාධාරණ විදිහට සතුන්ට හිංගි හිංසා කරල සකස් කර ගත්තු පවත්ත නොවන මස් මාංශ මිසක් වැටී ගිය පවත්ත මස් මාංශ නෙවෙයි.

ඉතින් ඊට පහුවදා මේ තුවාලෙ පරීක්ෂා කරල බලල බේත් දාන්න, ඒ රෝහලේ ඉන්න වෛද්‍යවරු සහ හෙද නිලධාරීන් කිහිප දෙනෙක් ආවා. ඒ අය ඇවිත් කකුල එහෙට මෙහෙට පෙරළල පුදුම වෙලා මගෙන් ඇහුවා, කෝ හාමුදුරුවනේ අර තුවාලෙ කියල. ඉතින් මම කිව්වා මම දන්නෙත් නෑ මොනව වුනාද කියල. දැන් ඒ අය මහ පුදුමයට පත් වෙලා මෙච්චර ලොකුවට තිබිච්ච තුවාලෙට මොනව වුනාද කියල බලනවා. මොකද ඊට කලින් දවසෙත් මහ ගැඹුරට පොල් කෝම්බයක් වගේ තිබිච්ච තුවාලයක්. ඉතින් මම විශේෂත්වයක් කියන්න ගියෙත් නෑ. පුංචි බණ පද දෙක තුනක් කිව්වා. එතකොට එතන හිටපු සමහරක් වෛද්‍යවරුයි, හෙද කාර්ය මණ්ඩලයේ අයයි මේකෙ මොනව හරි විශේෂත්වයක් ඇති කියල හිතාගෙන මගෙන් විස්තර එහෙම අහල පන්සලටත් සම්බන්ධ වුණා. එදා ඒ සිද්ධිය නිසා පැහැදිලා දහමට යොමු වෙච්ච පිරිසකුත් ඒ රෝහලේ හිටියා.

ඊට පස්සෙ මම ඔය කාරණය පසළොස්වක පෝය දවසක පන්සලට බණ අහන්න ආපු පින්වත් පිරිසටත් ප්‍රසිද්ධියේ බණ දේශනාවකින් දැනුම් දුන්නා. ඒ කියන්නෙ මේ අසාධාරණ විදිහට සකස් කරපු මස් මාංශ, ඒවායේ තියෙන අසාධාරණ බව දැන ගෙන දයානුකම්පාව මුල් කර ගෙන අනුභවයට ☞

නොගැනීමේ විශේෂත්වයක් තියෙන බව අත්දැකීමත් එක්ක පැහැදිලි කළා. ඉතින් එදා ඉඳල පන්සලේ භික්ෂූන් වහන්සේලාට හෝ සිල් ගන්න උපාසක උපාසිකාවන්ට ගේන දානෙට මස් මාංශ උම්බලකඩ ආදී කිසි දෙයක් සම්බන්ධ කර ගත්තෙ නෑ. එහෙම ගේන්න එපා කියලත් පින්වත් පිරිසට විශේෂයෙන් දැනුම් දුන්නා. මොකද අද කාලෙ තියෙන්නෙ අසාධාරණ මස් මාංශ නිසා.

දැන් ඉතින් කෙනෙකුට හිතෙන්න පුළුවන්, තිරිසන් සත්තු කියන්නෙ ලෝකයට අසාධාරණයක් කරල විපාක දුකක් විඳින්න ඉපදිච්ච සත්තුනෙ, උන් විඳින දුක් වේදනාව අපිට නවත්වන්න පුළුවන්ද, උන් කරපු පාප කර්මවලට උන් විපාක විඳිනව මිසක් අපි මොනව කරන්නද... ආදී වශයෙන්. කාරණය ඇත්ත. හැබැයි උන් කරපු පාප කර්මවලට උන් විපාක විඳින කොට, මිනිස්සු ගිහින් ඒවට කර ගහන එකයි ගැටළුව වෙලා තියෙන්නෙ. ඒ කියන්නෙ ඒ සත්තු ස්වභාවිකව විපාක විඳල මොනව හරි ක්‍රමයකට මැරෙන්න නොදී, මිනිස්සු ගිහින් උන්ට තලල පෙළල වද දීල මරල මිනිස්සු අලුත් විපාකයක් තමන්ටත් හදා ගන්නවා. හැබැයි මේ කියන්නෙ සත්තු මරන, මරවන, මරන්න අනුබල දෙන, මැරීම වර්ණනා කරන අයට ප්‍රාණ ඝාත අකුසල කර්මය සිද්ධ වෙනව කියල මිසක්, ඒවා අනුභව කරන අයට ඒ පාප කර්මයට කර ගහන්න සිද්ධ වෙනව කියල නෙවෙයි. නමුත් අනුභව කරන අය ඒ පාප කර්මයට සම්බන්ධ නොවුනට, පවත්ත නොවන මස් මාංශයක් නම් අනුබල වීම කියන කොටස නිසා දයානුකම්පාවේ අඩු වීමක් එතනදි සිද්ධ වෙනවා. මේ කාරණය අද වෙන කොට සැඟවිච්ච දෙයක්. (මේ සම්බන්ධයෙන් හෙළ බොදු පියුම 9, 10, 11 කලාපවලින් පැහැදිලි කරල තියෙනවා.) ඒ නිසා තමයි බුදුන් වහන්සේ දේශනා කළේ ගවයන්, එළුවන්, කුකුලන් ආදී සතුන් මරා සකස් කර ගත් දානයට බුද්ධාදී උත්තමයන් වඩින්නෙ නෑ කියල.

එතකොට ඒ දයානුකම්පාව කියන ගුණය වඩන්න පුළුවන් නම් ඒක විශේෂයි. ආර්ය මාර්ගය පූර්ණ කර ගන්නත් ඒක පහසුවක් වෙනව වගේම, විශේෂ ශක්තියක් ඒ ගුණයට අනුරූපව නැගෙනවා. ඒ කාරණය ඥාන සම්ප්‍රයුක්තව දැන ගෙන තේරුම් අර ගෙන, අසාධාරණ විදිහට සකස් කළ මස් මාංශයෙන් වළකිනව මිසක්, පවු සිද්ධ වෙනව කියල වැරදි දෘෂ්ටියක ඉඳගෙන වැළකීමක් ගැන නෙවෙයි මේ කියන්නෙ. මොකද අද වෙන කොට එළවළු විතරක් අනුභව කරන හුඟක් උදවිය මස් මාංශවලින් වළකින්නෙ, අප්‍රිය නිසා හෝ මළකුණුවලින් බඩ පුරව ගන්නෙ මොකටද ආදී වශයෙන් කියන භෞතික කාරණා නිසා. එහෙම නැත්නම් පවු සිද්ධ වෙනවයි කියන වැරදි දෘෂ්ටියක පිහිටල. නමුත් ඒ භෞතික කාරණා නිසා හෝ වැරදි දෘෂ්ටියක ඉඳ ගෙන හෝ මස් මාංශවලින් වැළකීමෙන් ගුණයක් වැඩෙන්නෙ නෑ. ඒක නිකං ක්‍රියා කලාපයක් විතරයි, ඥාන විප්‍රයුක්තයි. නමුත් කවුරු හරි ඥාන සම්ප්‍රයුක්තව මේ කාරණය දැන ගෙන, දයානුකම්පාව මුල් කර ගෙන, ඒ හේතුවෙන් අසාධාරණ මස් මාංශයෙන් වළකිනව නම් ඒක විශේෂ ගුණයක්. ඉතින් මේ කාරණය කිව්වෙ, අද වෙන කොට මේ වගේ සැඟවිච්ච විශේෂ දහම් කොටස් මතු කරල දීල, ඒවායින් ආර්ය මාර්ගය පූර්ණ කර ගන්න විශේෂ ශක්තියක් ලැබෙන හැටිත් පෙන්වල දීල අනිත් අයටත් මේ පණිවිඩය දැනුම් දෙන්න.

සටහන

නීතිඥ චන්දන සිරිවර්ධන

# මුත්‍රා ගල්වලට ප්‍රත්‍යක්ෂ ඔසුවක්...

මුත්‍රා ගල් කියන්නෙ මේ වෙන කොට සමාජයේ තියෙන සුලබ රෝගී තත්ත්වයක්. ජලය ඇතුලු ආහාර පානවල අඩංගු අධික ලවණතාවය නිසාත්, ජලය අඩුවෙන් පානය කිරීම නිසාත් මේ රෝගී තත්ත්වය ඇති වෙනව කියල තමයි නවීන වෛද්‍ය විද්‍යාවෙන් කියන්නෙ. නමුත් ප්‍රධාන වශයෙන්ම මේ කාරණයට බලපාන්නෙ, මීට පෙර 41 වන කලාපයෙන් විග්‍රහ කළ ආකාරයට, ශරීරයේ ඝන, ද්‍රව, වායු අපද්‍රව්‍ය පෙරීමේ ප්‍රධාන ක්‍රම වේද 4 න් පටකවලින්, සිව්වලින් සහ මහ බඩ වැලේ ගුදිරිවලින් සිදු කරන ඝන අපද්‍රව්‍ය පෙරීමේ ක්‍රියාවලියට බාධා පැමිණීම. ඒකටත් ප්‍රධාන හේතුව, අධික විස රසායන ද්‍රව්‍ය භාවිතා කිරීම බව මීට පෙර පැහැදිලි කළා.

කොහොම හරි මේ රෝගී තත්ත්වයෙදි කැල්සියම් ඔක්සලේට් (කැල්සියම් ස්ඵටික) කියන ඝන අපද්‍රව්‍ය වකුගඩුවල, මුත්‍රාශයේ, වකුගඩුවේ ඉඳන් මුත්‍රාශයට සම්බන්ධ මුත්‍ර නාලවල තැන්පත් වෙන්න පුළුවන්. දැනට බටහිර වෛද්‍ය විද්‍යාවෙ මේ සඳහා ප්‍රතිකාර විදිහට, මුත්‍රා ගල් දියවෙන්න කෘත්‍රිම රසායන බෙහෙත් ලබා දීමත්, තත්ත්වය තවත් දරුණු වුනාම අති ධ්වනි තරංග මගින් මුත්‍රා ගල් කුඩු කිරීමත්, ඊටත් වඩා දරුණු නම් සැත්කම් මගින් විවෘත කරල මුත්‍රා ගල් ඉවත් කිරීමත් තමයි සිද්ධ කරන්නෙ. මේ දෙවන සහ තුන් වන අවස්ථාවන් තරමක් වියදම්කාරී වගේම අතුරු ආබාධ තත්ත්වයන් වුනත් ඇති වෙන්න පුළුවන්. මේ සඳහා වහරක අභයරතනාලංකාර හිමියන් බෙහෙත් සමාධියට හසු කර ගත්, වැඩි වියදමක් නැතිව, අතුරු ආබාධ නැතිව, ගෙදර ඉඳගෙනම හදාගෙන පාවිච්චි කරන්න පුළුවන් බෙහෙතක් තමයි මේ හෙළිදරව් කරන්නෙ.

මේ සඳහා අවශ්‍ය වෙන්නෙ පිරිසිදු සුදු හඳුන් කුඩු ග්‍රෑම් 250 යි, ඉඟිනි ඇට කුඩු ග්‍රෑම් 250 යි, කොල්ලු කුඩු ග්‍රෑම් 250 යි, අක්කපාන කොළ කිලෝ 1 1/2 ක් පමණ. හැබැයි මේ කිව්වෙ අනුපාතයක්. මේ අනුපාතය එන විදිහට අවශ්‍ය නම් අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කර ගන්න පුළුවන්. දැන් මේ සුදු හඳුන් කුඩු, කොල්ලු කුඩු සහ ඉඟිනි ඇට කුඩු එකට මිශ්‍ර කරල, අක්කපාන කොළවලින් එන ඉස්මෙන් ඒ මිශ්‍රණය අඹර ගන්න හෝ කොටා ගන්න ඕන. මෙතනදි අක්කපාන කොළ කිලෝ 1 1/2 ක් කිව්වෙ දළ වශයෙන් අර අමුද්‍රව්‍ය අනුපාතය මිශ්‍රකරගන්න අවශ්‍ය ඉස්ම ගන්න පුළුවන් ප්‍රමාණයක්. ඒ නිසා ඒ අමුද්‍රව්‍ය ටික අඹර ගන්න අවශ්‍ය වන ප්‍රමාණයට ඉස්ම ගන්න පුළුවන් වෙන්න අක්කපාන කොළ අඩු වැඩි කරල ගන්න පුළුවන්. ඒ වගේම අක්කපාන කොළවල ඉස්ම ගතිය හොඳට තියෙන නිසා ජලය එකතු කිරීමක් අවශ්‍ය වෙන්නෙ නෑ. නමුත් අවසානයේ වේල ගන්න නිසා, ඉස්ම මදි නම් ජලය ටිකක් එකතු කළත් ගැටළුවක් නෑ.

දැන් මේ විදිහට හදා ගත්තු මිශ්‍රණයෙන් කෝපි ගෙඩි ප්‍රමාණයේ ගුලි හදල මඳ පවනෙ වේල ගන්න ඕන. අන්න ඒ ගුලි දවසට 2 බැගින් කෑමට පසු දිනපතා රාත්‍රියට මුත්‍රා ගල් දිය වන තුරුම පාවිච්චි කරන්න ඕන. මුත්‍රා ගල් තැන්පත් වෙලා තියෙන ප්‍රමාණයන් අනුව, ඒ ඒ පුද්ගලයන්ට ඒ සඳහා ගත වන කාලය වෙනස් වෙන්න පුළුවන්. නමුත් මේ බෙහෙත දිගටම පාවිච්චි කරන කොට, මුත්‍රා ගල් නිසා හට ගත් ශරීරයේ වේදනාකාරී තත්ත්වයන් ක්‍රමයෙන් අඩු වෙලා, ඒ අපද්‍රව්‍ය ශරීරයෙන් ඉවත් කිරීමක් සිද්ධ කරනවා.

සටහන

නීතිඥ චන්දන සිරිවර්ධන

# කළගෙඩි බඳු පුද්ගලයෝ...

ලෝකයේ මනුස්සයො අතර විවිධාකාර අදහස්, ක්‍රියා කලාප, ගති සිරිත් තියෙන අය වාසය කරනවා. ''නානත්ත කායා, නානත්ත සංඥා'' කියල සඳහන් වෙන්නෙ ඒ කාරණය. විවිධාකාර පුද්ගලයන්ගෙ ස්වභාවයන් පිළිබඳ දක්වෙන බුද්ධ දේශනා රාශියක් ධර්මයේ සඳහන් වෙනවා. එයින් කළගෙඩිවලට උපමා කරමින් දේශනා කළ, අංගුත්තර නිකායේ චතුක්ක නිපාතයට අයිති <u>කුම්භ සූත්‍රය</u> ඇසුරෙන් දහම් කරුණු ටිකක් පෙන්වා දෙන්නයි මේ බලාපොරොත්තු වෙන්නෙ.

''චත්තාරෝ මේ භික්ඛවේ කුම්භා, කතමේ චත්තාරෝ, තුච්ඡෝ පිහිතෝ, පූරෝ විවටෝ, තුච්ඡෝ විවටෝ, පූරෝ පිහිතෝ ඉමේ ඛෝ භික්ඛවේ චත්තාරෝ කුම්භා''

මහණෙනි කළගෙඩි 4 කි. එම හතර මෙසේය.

1. තුච්ඡෝ පිහිතෝ (ඇතුලත හිස් පිටත වසා ඇති කළය)
2. පූරෝ විවටෝ (ඇතුලත පිරුණු පිටත වසා නැති කළය)
3. තුච්ඡෝ විවටෝ (ඇතුලත හිස් පිටත වසා නැති කළය)
4. පූරෝ පිහිතෝ (ඇතුලත පිරුණු පිටත වසා ඇති කළය)

මේ විදිහට කළ ගෙඩි බඳු පුද්ගලයන් හතර දෙනෙක් ඉන්න බව තථාගතයන් වහන්සේ දේශනා කළා.

කුම්භ කියන්නෙ කළගෙඩියට කියන නමක්. කුම්භ කියල ලග්නයකුත් තියෙනවා. ඒකෙ සංකේතය කළ ගෙඩිය. ඇතුලත කිසිවක් නැති (හිස්), පිටත වසා ඇති කළ ගෙඩිය වගේ පුද්ගලයො සමාජයේ වාසය කරනවා. සමහර අයගෙ බාහිර ඇවතුම් පැවතුම් අතර යාම් ඊම්, වටපිට බැලීම්, අත් පා දිග හැරීම්, වකුටු කිරීම්, ආහාර පාන ආදිය ගැනීම් (භික්ෂූන් නම් දානෙ වැළඳීම්, පාත්‍ර සිවුරු දැරීම් ආදිය) ඉතා සංවරසීලියි, ප්‍රසාද ජනකයි. ඒ අයගෙ බාහිර ක්‍රියාකාරකම් ඒ විදිහට යහපත් වුණත් මේ දුක්ඛ සත්‍යයයි, මේ දුකට හේතුවයි, මේ දුක්ඛ නිරෝධයයි, මේ දුක් නැති කරන ප්‍රතිපදාවයි කියල යථා පරිද්දෙන් අවබෝධ කරල නෑ. පිටත වසා ඇති කියන්නෙ, බාහිර යෑම් ඊම් ආදියේ සංවරත්වය. ඇතුලත හිස් කියන්නෙ සිවුසස් දහම් ප්‍රඥාවෙන් දැකල අවබෝධ නොකිරීම.

සමහර අයගෙ බාහිර සංවරත්වය උපතින්ම ගෙනාපු දෙයක්. තවත් සමහර අය ධර්මාවබෝධය නිසා උත්සාහයෙන් වීර්යෙන් ඇති කර ගත් දෙයක් වෙන්න පුළුවන්. ඒ වගේම තව සමහරෙක්



අනුන්ගෙ ප්‍රසාදය, ගරු බුහුමන්, ලාභ ප්‍රයෝජන ආදිය සඳහා මවාපෑම් කිරීමක් ලෙස සංවර බව පෙන්වනවා.

දවසක් කොසොල් රජතුමා තථාගතයන් වහන්සේ හමු වෙන්න ගිය අවස්ථාවක, ඒ අසලින් බිම බලාගෙන ඉතා සංවරව ගමන් ගත් භික්ෂූන් පිරිසක් දැකල, අර යන භික්ෂූන් සිල්වත් ගුණවත් අය කියල ඒ අය ළඟට ගිහින් නමස්කාර කරල නැවතත් බුදුන් වහන්සේ වෙතට ආවා. එතකොට උන් වහන්සේ මහ රජ, පංචකාම සම්පත් විඳින සුදුවත් අඳින ගිහියන්ට සිල්වතුන් ගුණවතුන් කවුද කියල හඳුන ගන්න බැරි බව දේශනා කළා.

ඒ මොහොතෙදි රජතුමා, ස්වාමීනි ඔබ වහන්සේ වදාල කරුණ ඒකාන්ත සත්‍යයක්, ඒ ගියේ භික්ෂූන් නෙවෙයි මාගේ චර පුරුෂයන්, ඒ අයට ඒ විදිහට අනිත් අය ඉදිරියේ ගරු කළේ නැත්නම්, පවරපු රාජකාරිය හරියට ඉටු කරන්නෙ නෑ කියල බුදුන් වහන්සේට පැහැදිලි කළා. මේ කථාවෙනුත් පෙනී යන්නෙ, බාහිරින් පේන විදිහට පුද්ගලයන් හඳුනා ගන්න බැරි බව.

''සංවාසේන ඛෝ මහාරාජ සීලං වේදිතබ්බං තං ච ඛෝ දීඝේන අද්ධුනා නච ඉත්තරං'' කියන දේශනාව අනුව, යමෙක් සිල්වත්ද, ගුණවත්ද, ප්‍රඥාවන්තද කියල දැන ගන්න දිගු කාලයක් ඇසුරු කරන්න ඕන. කෙටි කාලයකින් ඒක දැනගන්න බෑ. පුද්ගලයෙකුගෙ සැබෑ ස්වරූපය සොයා ගන්න දිගු කාලයක් ඇසුරු කළත්, - ප්‍රඥාවන්තයෙකුට මිසක් නුවණ මඳ කෙනෙකුට කරන්න බෑ (පඤ්ඤාවතේන න දුප්පඤ්ඤෙන). ප්‍රඥාවන්තයෙක් වුණත්, හොඳ සිහි කල්පනාවෙන් ඒ පුද්ගලය පිළිබඳ අවධානයෙන් පසු වන කෙනෙකුට මිසක්, එහෙම නැති කෙනෙකුට පුද්ගලයෙක්ගෙ ස්වභාවය දැන ගන්න බෑ (මනසිකරෝතෝ නෝ අමනසිකරෝතෝ). ඒ නිසා කථා බහෙන්, බාහිර පෙනුමෙන්, ක්‍රියා කලාපවලින් අන්‍යයන් මනින්න යාම එච්චර ප්‍රඥා ගෝචර නෑ. පුද්ගලයෙක් පිළිබඳ සර්වාකාරයෙන් කරුණු කියන්න පුළුවන් වෙන්නෙ තථාගතයන් වහන්සේ නමකට විතරයි.

ඇතුලත පිරුණු, පිටතින් වහල නැති (පූරෝ විවටෝ) කළයකුත් තියෙනවා. ඒක මේ දේශනාවෙ දෙවෙනි කළය. සත්පුරුෂ සේවනය ලැබීමෙන් බුදු බණ අහල, ඒ ධර්මය යෝනිසෝ මනසිකාරයෙන් විමසා බලල ධර්මානුධර්ම ප්‍රතිපදාවට බැහැගෙන සෝවාන්, සකදාගාමි, අනාගාමි, අරිහත් මාර්ග ඵලවලට පත් වූ උතුමන් වැඩ ඉන්නවා. මේ තමයි ඇතුලත පිරුණු ස්වභාවය. මේ විදිහට ඇතුලත ඒ ඒ මට්ටම්වලින් පූර්ණත්වයට පත් වෙලා තිබුණත් බාහිර යාම් ඊම්, කථා කිරීම් ආදී ඉරියව් පැවැත්වීම්වලින්, බාහිර අයගේ අප්‍රසාදයට හේතු වන අවස්ථා සමහර රහතන් වහන්සේලා තුලින් පවා ප්‍රකට වෙලා තියෙනවා. මේ තමයි පිටත ☞

වසා නැති ස්වභාවය.

බුදු රජාණන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලයේ, මිනිස්සුන්ට වසළ වාදයෙන් කථා කරපු පිළින්දවච්ඡ (පිළි + ඉඳු + වච්ඡ =පිළිකුලේ ඉන්ද වූ වචන ඇති) මහරහතන් වහන්සේ වගේම, හත් අවුරුදු වයසෙදි දානයකට වඩිද්දි වක්කඩකින් පැන්න රහතන් වහන්සේගේ කථාවලින්, බාහිර සංවරත්වය අඩු උතුමන් වාසය කරල තියෙන බව පැහැදිලි වෙනවා. පොත පතේ සඳහන් නොවුන තවත් ඒ වගේ අය එදා ඉන්න ඇති. අදත් ඉන්න පුළුවන්.

සංසාරේ බොහෝ අත්බැව්වල ගැල් නායකයෙක් ඉපදිලා, ගැල් මිලදී ගන්න ගිහින් මිනිස්සුන්ට වසළ වාදයෙන් කථා කරපු පුරුද්ද පිළින්දවච්ඡ හිමියන් අරිහත්වයට පත් වෙලත් තිබුණා. ඒ වගේම වඳුරු අත්බැව් 500 ක් එක දිගට ගත කරමින් අත්තෙන් අත්තට පැන්න පුරුද්ද නිසා, හත් අවුරුදු සාමණේර රහත් නමක් වක්කඩකින් පැන්න බව සඳහන් වෙනවා. හැබැයි ඒ පුරුදු දිගටම එක වගේ තියෙනවත් නෙවෙයි. කාලයක් තිබිල ටික ටික අඩු වෙලා යනවා. මේ අනුව පෙනී යන්නෙ **සසර පුරුදු අරිහත්වයට පත් වුණත් ඇතැම් අයට තදින් බලපාන බව.**

සංසාර පුරුදුවලට වාසනා ගුණ කියලත් කියනවා. ලෝකයා වාසනාව කියන්නෙ භෞතික සම්පත් වැඩිපුර තියෙන කොට. ඒ වගේ සම්පත් ලැබෙන්නෙත් සසර වාසය කරන කොට වැඩිපුර කර ගත් පුණ්‍ය ඵලයක් විදිහට. මෙතනදි සසර වාසය කළ න්‍යාය තමයි වාසනා (වාස + නා =වාසනා) කියල හඳුන්වන්නෙ. සසර පුරුදුත් සහිතව සියළු කෙලෙස් නැති වෙන්නෙ සම්මා සම්බුදු රජාණන් වහන්සේලාට පමණයි. සවාසනා (වාසනාව සහිත) සකල ක්ලේශ බුදුවරු ප්‍රහීණ කළා කියල සඳහන් වෙන්නෙ ඒ කාරණය. ''ලොව සැමටමත් ඇතී - වාසනා ගුණ කිසිවෙකුත් නැතී'' කියල බුදු ගුණ අලංකාරයේ සඳහන් කරල තියෙන්නෙත් ඒ කාරණය.

තුන්වන කළය ඇතුලත හිස්, පිටතින් වහල නෑ. (තුච්ඡෝ විවටෝ) මේ කළය බඳු පුද්ගලයන් සමාජයේ වාසය කරනවා. සමහර අයගෙ බාහිර ක්‍රියාකාරකම් අතර යාම් ඊම්, වටපිට බැලීම්, අත්පා දිග හැරීම්, කතාබහ කිරීම්, ආහාර පානාදිය ගැනීම් ප්‍රසාද ජනක නෑ. මේ දුක්ඛ සත්‍යයයි, මේ දුකට හේතුවයි, මේ දුක්ඛ නිරෝධයයි, මේ දුක නැති කරන ප්‍රතිපදාවයි කියල යථා පරිදි අවබෝධ කරලත් නෑ. ඇතුලත හිස්, පිට වහල නැති පුද්ගලය මේ වගේ. ආධ්‍යාත්මයෙනුත් දිළිඳු, මේ තුන් වන පුද්ගලයගෙ බාහිර ඇවතුම් පැවතුම් තුලත් සංවරත්වයක් නෑ.

හතර වෙනි කළ ගෙඩියේ ස්වභාවය තමයි ඇතුලත් පිරිල, පිටතිනුත් හොඳින් වසා තිබීම. සම්බුදු සසුනේ බොහෝ ගිහි පැවිදි උතුමන් මැනවින් සිවුසස් දහම් අවබෝධ කර ගෙන බාහිර ඇවතුම් පැවතුම් යහපත් විදිහට සිදු කරනවා.

පුද්ගලයෙකුට අභ්‍යන්තර සුද්ධතාවය වගේම බාහිර සංවරත්වයත් අනිවාර්යෙන් තියෙන්න ඕන. රහතන් වහන්සේ නමක් වුණත් අභ්‍යන්තරව ධර්මයෙන් පොහොසත් වෙලා හිටියත්,



බාහිර ඉරියව් පැවැත්වීම් තුල අසංවරත්වයන් තියෙනව නම්, ඒක සමාජයේ අප්‍රසාදයට වගේම අපවාද උපවාදවලටත් හේතු වෙන්න ඉඩ තියෙනවා. එහෙම වුණොත් ගුණවතුන්ට දෝෂාරෝපණය කරල ලෝකයා අවැඩ සිද්ධ කර ගන්නවා. ''අප්පසන්නානං වා පසාදාය, පසන්නානංවා භීයෝභාවාය'' කියන ශ්‍රේෂ්ඨ බුද්ධ දේශනාව අනුව, නොපැහැදුන අයගෙ පැහැදීම පිණිසත්, පැහැදුන අයගෙ වැඩි ප්‍රසාදය පිණිසත් ධර්මාවබෝධය කරපු සිවු පිරිසම කටයුතු කරන්න ඕන.

භික්ෂු විනය තුල බොහෝ සික්ෂාවන් පනවල තියෙන්නෙ භික්ෂුවගෙ සංවරත්වය සහ ලෝකාපවාදවලින් බේරීම සඳහා. සමාජයේ වැඩි අවධානයට පාත්‍රවන භික්ෂුව ගිහියාටත් වඩා තමන්ගෙ ඇවතුම් පැවතුම්, ලෝකයාගෙන් අපවාද අප්‍රසාදයන් ඇති නොවන ආකාරයට පවත්වන්න වගබලා ගන්න ඕන.

ඊළඟට මේ කුම්භ සූත්‍රයේ වැදගත්ම හරය තමයි චතුරාර්ය සත්‍යය පිළිබඳ විග්‍රහය.

''මහණෙනි, මමත් නුඹලාත් කාරණා හතරක් අවබෝධ කර ගැනීමට නොහැකි වූ නිසා මේ දීර්ඝ සංසාරයේ කටුක වූ ඉවසිය නොහැකි අනන්ත දුක් විඳිමින් සසර සැරි සරාගෙන පැමිණියේය. මහණෙනි, මම මෙතෙක් සසරෙදි අවබෝධ කර ගැනීමට නොහැකි වූ ඒ කාරණා හතර අවබෝධ කළෙමි. ඔබලාත් ඒ සිවුසස් දහම් අවබෝධ කර ගැනීම සඳහා වෑයම් කරන්න.'' මේ තමයි තථාගතයන් වහන්සේගෙ දේශනය.

බුදු රජාණන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙලා මේ සත්‍ය හතර මතු කරල දෙන තාක් මේ ලෝකෙ දෙවියෙකුට, මාරයෙකුට, බ්‍රහ්මයෙකුට, ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුට, වෙන කිසියම්ම කෙනෙකුට සිවුසස් දහම් පෙන්වා දෙන්න පුළුවන්කමක් නෑ. (දේවේනවා, මාරේනවා, බ්‍රහ්මුණාවා කේනච්වා ලෝකස්මිං)

සිවුසස් දහම්වල පළවෙනි සත්‍යය දුක්ඛ ආර්ය සත්‍යය. දුක සහ දුක්ඛ ආර්ය සත්‍යය වර්තමානයේ පටලවා ගෙන තියෙන බව ඒ කාරණය විග්‍රහ කරන ආකාරයෙන් පෙනී යනවා. දුක සහ දුක්ඛ සත්‍යය තේරුම් ගන්න, අභිධර්ම පිටකයට අයිති යමක ප්‍රකරණයේ මෙහෙම සඳහන් වෙනවා.

''දුක්ඛං දුක්ඛ සච්චංති, ආමන්තා, දුක්ඛ සච්චං දුක්ඛන්ති, කායිකං දුක්ඛං චේතසිකං දුක්ඛං ඨපෙත්වා අවසේසං දුක්ඛ සච්චං න දුක්ඛං කායිකං දුක්ඛං චේතසිකං දුක්ඛං දුක්ඛඤ්චේව දුක්ඛ සච්චං''

දුක්ඛය දුක්ඛ සත්‍යය වේද, දුක්ඛ සත්‍යය දුක්ඛය වේද කියල ප්‍රශ්නයක් අහල, කායික දුක්ඛය චෛතසික දුක්ඛය හැර සෙස්ස දුක්ඛ සත්‍යය වේ, දුක්ඛය දුක්ඛ සත්‍යය නොවේ කියලත්, දුක්ඛ සත්‍යය දුක්ඛය වේද යන්නට කායික හා චෛතසික දුක්ඛය, දුක්ඛය වන අතර දුක්ඛ සත්‍යයද වේ කියලත් පිළිතුරු දීල තියෙනවා.

මේ දේශනාව අනුව දුක්ඛය දුක්ඛ සත්‍යය නොවුනට, දුක්ඛ සත්‍යය තුල දුක්ඛය ඇති බව පේනවා. ''දුක්ඛං දුක්ඛඤ්චේව දුක්ඛ සච්චං'' කියන ඉහත දේශනාවෙන් ඒ බව සනාථ වෙනවා. ඒ නිසා මෙතනදි දුක කියන්නෙ, ආස්වාදයට කියන තවත් නමක් කියල ලෝකෝත්තර අර්ථයෙන් තේරුම් ගන්න ඕන.

විභංග ප්‍රකරණයේ දුක විග්‍රහ කරල තියෙන්නෙ මේ ආකාරයට. ''තත්ථ කතමං දුක්ඛං යං කායිකං අසාත. කායිකං දුක්ඛං. කාය සංඵස්සජං අසාතං දුක්ඛං වේදයිතං කාය සංඵස්සජා අසාතා දුක්ඛා වේදනා ඉදං වුච්චති දුක්ඛං'' දුක කියන්නෙ මොකක්ද? යම් අමිහිරි වූ කායික දුකක් වේද, අමිහිරි වූ කායික සංස්පර්ශයක් වේද, අමිහිරි කායික වින්දනයක් වේද ඒක දුකයි කියල හැඳින් වෙනවා. අවිද්‍යාව තුලින්, නොවටිනා ලෝකයට වටිනාකම් දීමෙන් ආස්වාදයන් පසු පස හඹායාම නිසා දුක ගොඩ නැගෙනවා. ලෝකයට වටිනාකම් දීම මුලාවක් බව දකල ඒකෙ යථාර්ථය වටහා ගැනීම දුක්ඛ ආර්ය සත්‍යය වෙනවා.

ලෝක සත්වයා දුක දකින්නෙ වේදනා චෛතසිකය මුල් කර ගෙන. ඒක අවිද්‍යාවෙ කොටසක්. දුක්ඛ සත්‍යය කියන්නෙ චතුරාර්ය සත්‍යයට සම්බන්ධ දෙයක්. ඒක දුක්ඛ ආර්ය සත්‍යය. දුක කියල හඳුන්වන්නෙ ලෝක සත්වයා අවිද්‍යා සහගතව කටයුතු කිරීමේ ප්‍රතිඵලයක් වශයෙන් ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන්ට පත් වෙලා ලබන අසහනකාරී වේදනාව. මේ දැනෙන දුක දුක්ඛ සත්‍යය නෙවෙයි. ඒක අපාගත සත්වයන්ටත් දැනෙනවා.

**ලෝකයේ වැඩිම දුක් වේදනා විඳින්නෙ නිරයේ ඉපදිලා ඉන්න සත්වයින්. ඒකෙ සැප කියන මාත්‍රයක්වත් නෑ. නිරන්තරයෙන්ම තියෙන්නෙ අසහනය, දුක, වේදනාව.** නිරයගාමී සත්වයින්ට ඇසට ප්‍රිය මනාප අරමුණක් කිසි දාක ගෝචර වෙන්නෙ නෑ. මහා දරුණු, බිය ජනක දර්ශනමයි ඇහැට පේන්නෙ. කනට යහපත් මිහිරි හඬක් අහන්න ලැබෙන්නෙ නෑ. භයානක කටුක මරලතෝනි දෙන හඬවල්මයි ඇහෙන්නෙ. ඉවසන්න බැරි කටුක දුර්ගන්ධම නහයට දැනෙනවා මිසක් සුවඳ මාත්‍රයක්වත් ඒ සත්වයින්ට දැනෙන්නෙ නෑ. දිවට කිසි දාක මිහිරි රසයක් අත් දකින්න ලැබෙන්නෙ නෑ. කර්කශ කටුක දැවෙන පිච්චෙන දේවල්මයි විඳින්න වෙන්නෙ. කයට කිසිම දාක සුවයි කියන මාත්‍රයක්වත් විඳින්න ලැබෙන්නෙ නෑ. දුක් ගිනි, දාහ ගිනි ඇති කරන දේවල්වලටම ගොදුරු වෙන්න සිද්ධ වෙනවා. නිරයගාමී සත්වයන්ට කිසි දාක හිතට සැනසුම් සහගත දෙයක් ලැබෙන්නෙ නෑ. අප්‍රමාණ දාහ ගිනි ගැනම මතක් වෙමින් දුක් වීම විතරයි සිද්ධ වෙන්නෙ.

ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන්ට රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම විපාක වශයෙන් ආරම්මනය වෙනවා. සසරෙදි කරන ලද පාප කර්මවල විපාක වශයෙන් ඉන්ද්‍රියන්ට ගෝචර වන රූපාදී ආරම්මනවලින් අනිෂ්ට, අප්‍රිය දෙයක්ම අරමුණු වෙනවා. එහෙම වෙන කොට අසහනයක්, දුකක්, දාහයක්, තෙහෙට්ටුවක්ම ඇති වෙනවා. මේ තමයි කළු කර්මවල කළු විපාකවල ස්වභාවය. කළු සුදු කර්මවලත් පාප විපාකයෙදි අනිෂ්ට අප්‍රිය දේවල් අරමුණු වෙලා දුක් වේදනාවන්ට ගෝචර වෙන්න සිද්ධ වෙනවා.



සැපයි, හොඳයි, ප්‍රියයි, මනාපයි කියල යම් සුව සහගත ස්වභාවයක් හට ගත්ත නම්, ඒක ඒ මොහොතේ පටන් ගෙවී ගෙවී ගිහින් වෙනස් වීමට පත් වෙලා අවසන් වෙනවා. මේ වෙනස් වන ස්වභාවය, අපි කොච්චර අකමැති වුණත් එසේම සිද්ධ වෙනවා. අපට ඒ සඳහා විරුද්ධව කරන්න පුළුවන් කිසිවක් නෑ. ජාති වශයෙන් පහළ වූ සියළු සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තුවලට සිද්ධ වෙන්නෙ මේ ධර්මතාවය. ඒක හේතුඵල ධර්මතාවය නිසා සිද්ධ වෙන දෙයක් මිසක් අපේ කැමැත්තට අනුව සිද්ධ වෙන දෙයක් නෙවෙයි.

කළු සුදු කර්ම විපාක දෙකටම ගෝචර වෙන විදිහට උපත ලබා සිටින මනුස්ස, වෘක්ෂ දේවතා, විමාන ප්‍රේත, තිරිසන්, නොයෙක් භූත කොටස් වාසය කරනවා. මේ අයට සැප දුක් දෙකම ඒ අත්බැවේදි විඳින්න සිද්ධ වෙනවා. විපරිනාමය නිසා විඳින්න සිද්ධ වෙන වෙහෙසටත් ගෝචර වෙන්න සිද්ධ වෙනවා.

ලෝක සත්වයා ආස්වාද බලාපොරොත්තු වුණාට ඒවා නිරායාසයෙන් ලැබෙන්නෙ නෑ. ආස්වාදය කියන්නෙ සුබ වේදනාවට කැමැත්තෙන් බැඳීමෙන් (පටිච්ච වීමෙන්) ඇති වන තත්ත්වයක්. ඒක ලැබෙන්නෙ සුව සහගත ස්පර්ශය මුල් වීමෙන්. ඒ සඳහා අවශ්‍ය වන්නා වූ ඇස, කන ... ආදී ඉන්ද්‍රියන්ට ගෝචර වන රූප, ශබ්ද .... ආදී ආරම්මන පහළ වෙන්න ඕන. ඒක පහළ කරල දෙන්න කෙනෙක් නෑ. උත්සාහයෙන්, වීර්යෙන් ගොඩ නගා ගන්න ඕන. ඒ සඳහා හිතින්, කයින්, වචනයෙන් අප්‍රමාණ වෙහෙස මහන්සියක් විඳින්න වෙනවා. ලස්සන ගෙදරක වාසය කරන්න කැමති නම් ඒක ගොඩ නගා ගන්න දාඩිය මුගුරු හෙළමින් ගෙපල් කපල, ගල් වැලි ඇද ගෙන දුක් විඳින්න සිද්ධ වෙනවා. අනිත් අය ලවා ඒවා කරව ගන්නව නම්, විදේශගත වෙලා හෝ මිල මුදල් හරි හම්බ කර ගන්න ඕන. මේ විදිහට ලස්සන ගෙදරක වාසය කිරීමේ සැපය බලාපොරොත්තුවෙන් ඒ සඳහා සිතින්, කයින් අප්‍රමාණ දුක්ඛ දාහයන් විඳින්න සිද්ධ වෙනවා.

ආස්වාදය කියන මායාව තියෙන්නෙ දුකක් ඇති කරන දේකමයි. කය ලස්සනයි, හැඩයි කියල ගත්තට කේසා, ලෝමා, නඛා, දන්තා, තචෝ කියන කුණු ගොඩවල් පහක ඔපය තමයි ඒකෙ තියෙන්නෙ. ඒ ඔපය තියෙන්නෙ ඇතුලෙ තියෙන අනිත් කුණප කොට්ඨාසත් එක්ක. ආස්වාද සොයමින් මම, මගෙ කර ගන්න හදන්නෙ ඒ කුණු ගොඩත් එක්ක. කුණු ගොඩ ඉවත දාල ආස්වාදය විතරක් ලබන්න බෑ.

මේ විදිහට හැම දෙයකම පිටින් පේන ඔප මට්ටමක් තියෙනවා. ඒ ප්‍රිය මනාපය තියෙන්නෙ වැඩකට නැති, හරයක් නැති දුක් ගොඩක් වට කර ගෙන. ලෝක සත්වයා දුකට වැටෙන්නෙ ඒ දුක් ගොඩ නිසා නෙවෙයි, වහල තියෙන ප්‍රිය මනාපය ආස්වාදයෙන් අල්ල ගන්න නිසා, කැමැත්තෙන් බැඳීම නිසා. ඒත් ඒක ☞

කැමැත්ත ඉෂ්ට කරන්නෙ නෑ. ප්‍රිය මනාපයත් එක්ක ඒ දුක් ගොඩට සම්බන්ධයක් නොතිබුණා නම්, ලෝක සත්වයා දුක අල්ල ගෙන ඒකට වැටෙන්නෙ නෑ. ප්‍රිය මනාපය ආස්වාදයෙන් උපාදාන කළාට දුක් ගොඩකින් තොර වූ ප්‍රිය දෙයක් නෑ. උපාදාන කරන්න ප්‍රිය මනාපයක් ලෝකයේ විද්‍යමාන වෙන්නෙ මර උගුලක් වශයෙන්. ඒක තමයි ලස්සන, සුවඳ, මුදු පහස විදිහට හඳුන්වල තියෙන්නෙ. මේ සියල්ලටම සිත රැවටිලා තියෙන්නෙ හිස් වූ හරයක් නැති, කුණු ගොඩකට බැඳිල තියෙන ඔපය නිසා.

ආස්වාද බලාපොරොත්තු වන පුද්ගලයා වැඩක් නැති, හරයක් නැති කුණු ගොඩ පටලවා ගන්නවා. හැම ආස්වාදයක්ම ලබා දෙන්නෙ කුණු ගොඩක් ඇසුරු කර ගෙන. ආස්වාදය බලාපොරොත්තුවෙන් කුණු ගොඩ ප්‍රිය කරල අල්ල ගන්නවා. ඒක ගත්ත තැන් පටන් අප්‍රමාණ දුක්ඛ දාහයන් විඳින නමුත් ආස්වාදයෙන් ඒ දුක වැහිල තියෙන්නෙ. ලෝක පැවැත්ම තුල සියළු සත්වයින්ට සිද්ධ වෙන්නෙ මේ අවාසනාවන්ත ඉරණම.

එක් දේවතාවෙක් ''කිස්මිං ලෝකෝ පතිට්ඨිතෝ'' කියල ලෝකය පිහිටා සිටින්නෙ කුමක් මතද කියල ඇහුවම ''දුක්ඛෙ ලෝකෝ පතිට්ඨිතෝ කියල, ලෝකය දුක මත පිහිටා ඇති බව බුදුන් වහන්සේ වදාළා. සුඛ වේදනාව (ආස්වාදය හෙවත් සම්ඵස්සජා වේදනාව) දුකක් ලෙසත්, දුක් වේදනාව උලක් ලෙසත්, අදුක්කම සුඛ (උපේක්ෂාව) වේදනාව අනිච්ච ලෙසත් දකින්න පුරුදු වෙන්න ඕන. (සුඛා භික්ඛවේ වේදනා දුක්කතෝ දට්ඨබ්බා, දුක්ඛ වේදනා සල්ලතෝ දට්ඨබ්බා, අදුක්කම සුඛ වේදනා අනිච්චතෝ දට්ඨබ්බා)

යමෙක් දුක්ඛ ආර්ය සත්‍යය අවබෝධ කළේද, චතුරාර්ය සත්‍යයේ ඉතිරි සත්‍ය තුනත් පෙර පසු නොවී අවබෝධ කරනවා. චතුරාර්ය සත්‍යය වට්ට තුනයි ආකාර දොළහකින් යුක්තයි. මේ දුක්ඛ ආර්ය සත්‍යය, මේ සමුදය ආර්ය සත්‍යය, මේ නිරෝධ ආර්ය සත්‍යය, මේ මාර්ග ආර්ය සත්‍යය කියල යමෙකුට සිවුසස් දහම් පිළිබඳ ඥාණ හතර ධර්ම ශ්‍රවණය තුලින් ලැබුන නම් ඒ තමයි සිවුසස් දහම් පිළිබඳ සත්‍ය ඥාණය.

දුක පිරිසිඳ අවබෝධ කළ යුතුයි. (පරිඤ්ඤෙය්‍යා) සමුදය දුරු කළ යුතුයි. (පහාතබ්බ), නිරෝධය ප්‍රත්‍යක්ෂ කළ යුතුයි (සච්ඡිකාතබ්බ), මාර්ගය වැඩිය යුතුයි (භාවේතබ්බ) කියන ඥාණය තමයි චතුරාර්ය සත්‍යයේ කෘත්‍ය ඥාණය.

දුක අවබෝධ කළා, සමුදය දුරු කළා, නිරෝධය ප්‍රත්‍යක්ෂ කළා, මාර්ගය වැඩුවා කියල සිවුසස් දහම් පිළිබඳ කෘත ඥාණය පහළ වෙනවා. මේ විදිහට සෝතාපන්න වෙන කොට චතුරාර්ය සත්‍යය පිළිබඳ සත්‍ය ඥාණයත්, සකදාගාමී අනාගාමී මගඵලවලට පත් වෙන කොට කෘත්‍ය ඥාණයත්, අරිහත් ඵලයට පත්වීමේදී කෘත ඥාණයත් සම්පූර්ණ වෙනවා. ඒවං තිපරිවට්ටං ද්වාදසාකාරං යථාභූතං ඥාණ දස්සනං සුවිසුද්ධං අහෝසි කියන දම් සක් පැවතුම් සූත්‍රයෙදි වට්ට තුන දොලොස් ආකාරයට අවබෝධ වීමෙන් සියළු කෙලෙසුන්ගෙන් සුද්ධ



වෙලා සසර ගමන නිමා කරන බව දේශනා කළා.

මේ සිවුසස් දහම්, දහසය ආකාර ලක්ෂණයකට විග්‍රහ වෙන ක්‍රමයකුත් සමහර අටුවාවල සඳහන් වෙනවා. එක සත්‍යයක ලක්ෂණ 4 බැගින් විග්‍රහ වෙලා සත්‍ය හතර තුල ප්‍රභේද 16 ක් විග්‍රහ වෙනවා.

<u>දුක්ඛ සත්‍යය</u>

1. පීලනට්ඨ - පෙළෙන ස්වභාවය
2. සංඛතට්ඨ - හේතු ප්‍රත්‍යයෙන් පහළ වන ස්වභාවය
3. සත්තාපට්ඨ - නැවත නැවත තවන ස්වභාවය
4. විපරිනාමට්ඨ - වෙනස් වීමට පත් වන ස්වභාවය

<u>සමුදය සත්‍යය</u>

1. ආයුහනට්ඨ - නැවත නැවත රැස් කරන ස්වභාවය
2. නිධානට්ඨ - නැවත නැවත දුක ගෙන දෙන ස්වභාවය
3. සංයෝජනට්ඨ - දුකෙහි තදින් බැඳෙන ස්වභාවය
4. පළිබෝධට්ඨ - නිවනට බාධා කරන ස්වභාවය

<u>නිරෝධ සත්‍යය</u>

1. නිස්සරණට්ඨ - සියලු දුක්වලින් තොර වූ ස්වභාවය
2. විවේකට්ඨ - චිත්ත විවේකය සහ උපධි විවේකයෙන් යුක්තවීම
3. අසංඛතට්ඨ - හේතු ප්‍රත්‍යයන්ගෙන් හට නොගත් ස්වභාවය
4. අමතට්ඨ - නොමැරෙන ස්වභාවය

<u>මාර්ග සත්‍යය</u>

1. නීයානට්ඨ - සසරින් එතෙරට පමුණුවන ස්වභාවය
2. හේතුට්ඨ - පළිබෝධ සිඳ නිවනට හේතු වන ස්වභාවය
3. දස්සනට්ඨ - සිවුසස් ප්‍රත්‍යක්ෂයෙන් දකින ස්වභාවය
4. ආධිපතෙය්‍යට්ඨ - නිවන ලැබීමට අධිපති බව දැරීම

දුක්ඛං දුක්ඛ සමුප්පාදං
දුක්කස්සච අතික්කමං
අරියං චට්ඨංගිකං මග්ගං
දුක්ඛූප සමගාමිනං

ඒතං ඛෝ සරණං ඛේමං
ඒතං සරණ මුත්තමං
ඒතං සරණ මාගම්ම
සබ්බ දුක්ඛා පමුඤ්චතු

දුක්ඛ ආර්ය සත්‍යය, සමුදය ආර්ය සත්‍යය, නිරෝධ ආර්ය සත්‍යය, මාර්ග ආර්ය සත්‍යය යන සිවුසස් දහම් ප්‍රඥාවෙන් දැක යමෙක් අවබෝධ කරයිද, ඔහුට ඇති එකම සරණ නිර්භය ස්ථානය එයයි. මේ ලෝකයේ උත්තම සරණ, සිවුසස් අවබෝධය වන අතර සියළු දුකින් නිදහස් වන්නේද සිවුසස් අවබෝධයෙනි. මේ තමයි ඉහත ගාථාවලින් කියවෙන කෙටි අදහස.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නීග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

# කේන්ද්‍රයෙන් පෙන්වන හේතු ඵල දහම... 7 වන කොටස

# නවග්‍රහයන්ගේ බිහිවීම දහම් ඇසින්

නවග්‍රහයින්ගෙන් එන අපල ගැන කතා කරන කොට, සමහර අය මේ ග්‍රහයො කියල කොටසක් නෑ, ග්‍රහ අපල කියල දෙයක් නෑ, ඒක මිථ්‍යාවක් කියල කියනවා. මෙහෙම කියන්නෙ මේ පිළිබඳව පවතින නොදැනුවත්කම නිසා. එහෙම නැත්නම් භෞතිකව ඒ කාරණය පසිඳුරන්ට ගෝචර නොවන නිසා. ඒ නිසා මේ ග්‍රහයො, ග්‍රහ මණ්ඩල සහ ග්‍රහ මණ්ඩලවලට අධිපතිව ඉන්න අය තෝර ගන්න ඕන. බුදුන් වහන්සේ මහාසමය සූත්‍රය දේශනා කරන කොට, දස දහසක් සක්වල ලෝක ධාතුවලින් පැමිණි දේවතාවන් අතරින් නවග්‍රහ දේවතාවොත් එතැනට එක්රැස් වුනා කියල සඳහන් වෙනවා.

නවග්‍රහ දේවතාවො කියන්නෙ රවි, චන්ද්‍ර, කුජ, බුධ, ගුරු.... ආදී වශයෙන් කියන ග්‍රහ වස්තු නෙවෙයි. මේ ග්‍රහ වස්තු ඇසුරු කරගෙන යම් පරිසරයක් හට ගන්නවා. ඒවාට කියන්නෙ ග්‍රහ මණ්ඩල කියල. චන්ද්‍ර මණ්ඩලය, සූර්ය මණ්ඩලය, කුජ මණ්ඩලය, බුධ මණ්ඩලය, ගුරු මණ්ඩලය, සිකුරු මණ්ඩලය.... ආදී වශයෙන් මණ්ඩල පිහිටල තියෙනවා. පැරණි සාහිත්‍ය, කවි ආදියෙත් සඳ මඬල, හිරු මඬල කියල සඳහන් වෙන්නෙ මේ ග්‍රහ මණ්ඩල ගැන. මණ්ඩලය කියන්නෙ ග්‍රහයා නෙවෙයි. මණ්ඩලයයි, ග්‍රහයයි වෙන වෙනම හඳුන ගන්න ඕන. ග්‍රහයා කියන්නෙ යම් කිසි ග්‍රහ වස්තුවක්. ඒ කියන්නෙ මුල් කාලයේ නිදහස් මානසිකත්වයකින් හිටපු මනුස්සයො විසින් ලෝකයට අයිති යම් යම් දේවල් ඡන්දරාගයෙන් තණ්හාවෙන් ග්‍රහණය කර ගත්තම, තමන් ළඟ තිබ්බ්ච ගුණවලට අදාල ශක්තිය පිට වෙලා ගිහින් නිර්මාණය වෙච්ච ඵලය. **ඒ නිසා මේ ග්‍රහයො කියන්නෙත් මනුස්සයින්ගෙ හිත මුල් කරගෙන හටගත්තු හේතු ඵලයක් මිසක් අභූතයක් නෙවෙයි.**

දැන් මේ රවි, චන්ද්‍ර, කුජ, බුධ .... ආදී වශයෙන් කියන ග්‍රහයො 9 දෙනාගෙම ආරම්භය එන්නෙ රවිගෙන්. ඒ කියන්නෙ මුලින්ම මනුස්සයින්ට ආලෝකයත්, ක්‍රියාකාරීත්වයත් තියෙනවා. ලෝකයක් විනාස වෙලා නැවතත් ලෝකයක් ආරම්භ වෙන කොට සත්වයින් එන්නෙ එතැනට. ඒ තමයි ආභස්සර බඹ ලොවින් පටන්ගෙන ක්‍රමයෙන් පහළට බැසීම. එතකොට මුල් කාලෙ සත්තු ස්වයං ප්‍රභා ආලෝකයෙන් පූර්ණයි. රවි ශක්තිය තිබුණා. හැබැයි මේ කියන්නෙ සතර අපාගත සත්තු ගැන නෙවෙයි. මොකද සතර අපාගත සත්තු මේ



කියන මුල් කාලයේ බිහි වෙලා හිටියෙ නෑ. මේ කියන්නෙ ආදි බ්‍රහ්ම කල්පික මිනිස්සු ගැන. ඒ අයට ඒ වෙද්දි තමන්ගෙම ආලෝක ශක්තිය තිබුණා. ඒ ශක්තියෙන් තමයි ඉස්සෙල්ලම බ්‍රහ්ම කල්පික මනුස්සයො වශයෙන් ලෝකයට එන්නෙ. මේ ශක්තිය / ක්‍රියාකාරීත්වය තමයි රවි කියන්නෙ.

ඊළඟට චන්ද්‍ර හෙවත් සඳු කියන්නෙ කැමැත්ත, සිතේ අධිපති බව, හිතට වහල් වෙලා වැඩ කරන ගති ලක්ෂණය. වෙනත් විදියකින් කියනව නම් ඡන්ද රාගය. ඡන්ද රාගයෙන් වැඩ කරන කොට සිතේ මුලින්ම තිබ්බ්ච නිදහස් මානසිකත්වය ගිලිහිලා යනවා. ඒකට අදාල ශක්තියෙන් තමයි සඳු හට ගන්නෙ. ඒක තමයි දෙවෙනියට එන්නෙ. එතකොට තමයි ගැටීම ඇති වෙන්නෙ. මොකද ඡන්ද රාගයෙන් ඇලුන නම් ගැටෙනවා. ඊළඟට ඇලිච්ච දේ ආරක්ෂා කර ගන්න, මගෙ කර ගන්න තරඟ කරනවා. ඒ සඳහා කු කියන පහත් දේවල් ජනිත කරනවා. ඒ තමයි කුජ ලක්ෂණය. එතකොට ඊළඟට තිබ්බ්ච හොඳ ශක්තියත් පිට වෙනවා. දැන් ඒ විදිහට තරඟ කරන්න ගත්තට පස්සෙ තමයි ඒ සඳහා අවශ්‍ය අලුත් අලුත් දේවල් දැන ඉගෙන ගන්නෙ. ඉගෙන ගන්නෙ පොඩි එකා, නොදන්න එකා. හැබැයි දැන් මේ ඉගෙන ගන්නෙ හොඳ දේකට නෙවෙයි. අනෙකා පරයා නැගී හිටින්න, සටන් කරන්න, ආයුධ හදන්න වගේ දේවල්වලට තමයි දැනීම් ඉගෙනීම් ලබන්නෙ. ඒ තමයි බුධ ලක්ෂණය.

ඊළඟට එන්නෙ ගුරු. ඒ කියන්නෙ ඒ සඳහා අවශ්‍ය ගුරුහරුකම් තමයි ඊළඟට ගන්නෙ. ඒ අය තමයි ඊට පස්සෙ ගුරුවරු වෙන්නෙ. දැන් ඒකෙන් ලබන තාවකාලික චිත්ත සුවයක් තියෙනවා. ඒ කියන්නෙ සටන් කරන්න ඉගෙන ගෙන ගුරුහරුකම් ලබා දීල ඒකෙන් යම් කිසි ලෞකික සශ්‍රීකත්වයක්, සම්පත්තියක් ලැබුනම ඒක කාල බීල නිකං විනෝදයෙන් ඉන්නවා. ඒකෙන් මත් වෙනවා. ඒ තමයි සිකුරු ලක්ෂණය. හැබැයි ඒකෙන් අන්තිමට එන්නෙ විනාසය, නොයෙක් ආකාරයේ දුක් කරදර. ඒක තමයි හෙණ කියන්නෙ. සෙනසුරු-ගෙන් පෙන්වන්නෙ ඒ ගති ලක්ෂණය. හෙණයට හුරු වුනාම සෙනසුරු වෙනවා.

ඊළඟට රාහුගෙන් කරන්නෙ වහන එක. රාහු ග්‍රහය ගත්තමත්, පොළවෙ ආලෝකයට සූර්යාලෝකය වැටුනම අනිත් පැත්තෙන් ඡායාවක් වැටෙනවා. ඒ ඡායාව වැටෙන කොට ඒක වැටෙන්නෙ පොළවෙ තියෙන ප්‍රමාණයටමයි. ඒ ඡායාව යට පැත්තට යන්නෙ. හැබැයි එක තැන තියෙන්නෙ නෑ. කොච්චරවත් යනවා. සූර්යා ගමන් කරන කොට පොළවෙ ඡායාවත් ඒත් එක්කම යනවා.

ඉතින් සියල්ලම කරල හෙණයට හුරු වුනාම ඊළඟට වහනවා, හංගනවා. වහන්නෙ රහසක්. වැහිල ගියාම මොකක්ද වුනේ, මොනව කරන්නද ආදී වශයෙන් මොකවත් තේරෙන්නෙ නෑ. ඒ කියන්නෙ මනස වහනවා, නුවණ ☞

වැහෙනවා. ඒ තමයි රාහු ගති ලක්ෂණය.

දැන් මේ විදිහට එකින් එකට ගියාට පස්සෙ ඊළඟට දෙවෙනි අනුරුවක් එනවා. ඒ තමයි කේතු. ඒ කියන්නෙ පෘථිවිය ගමන් කරන ඉලිප්සාකාර ගමන් මාර්ගය සහ චන්ද්‍රයා ගමන් කරන මාර්ගය ස්ථාන දෙකකදී එකින් එක කැපෙනවා. අන්න ඒ ස්ථාන දෙක තමයි රාහු සහ කේතු කියන්නෙ. රාහුගෙ මට්ටම ගියාට පස්සෙ එතැනින් එහාට ඇද ගෙන යන්නෙ කේතු. කේ + සෘතු - කේතු කියන්නෙ ක්ෂය වෙච්ච දේ නැවත වරක් සෘතු කරනවා, ආරම්භ කරනවා කියන එක. රාහුගෙ ආලෝකය කළුයි. ඒ කියන්නෙ අඳුරුයි. රාහුගෙ සීමාවට යටින් තියෙන්නෙ කේතු. රාහු කේතු එක ළඟ තියෙන්නෙ. ඒ කියන්නෙ රාහු එකේ හිටියොත් කේතු හතේ ඉන්නවා. කේතු එකේ හිටියොත් රාහු හතේ ඉන්නවා. හැම වෙලේම ඒ ප්‍රමාණයට තමයි දෙන්න දෙපැත්තට ගමන් කරන්නෙ.

ගොඩ නගන සංඛාරයයි නැවත ජනිතවීමයි තමයි මේ ග්‍රහයො නව දෙනාගෙන් පෙන්වන්නෙ. අඳුරින් ගියොත් අඳුර තමයි ඵලය. හේතුව තමයි අර මුලින් ආපු පටිච්ච සමුප්පාද ක්‍රියාවලිය. රවිගෙන් පටන් අරගෙන සෙනසුරුට එනකල් ආපු දුක් කරදර එන්න තිබ්බ හේතුව තමයි අර මුල් ග්‍රහයින් හත් දෙනාගෙ ලක්ෂණවලින් පෙන්නුවෙ. ඊළඟට එන රාහු තමයි ඵලය. ඒක ඉවර වුනාට පස්සෙ ඊළඟ කොටස තමයි නැවත සැරයක් නැගී හිටින්නෙ. ක්ෂය වෙලා නැවත සෘතු වෙනවා, පරිවර්තනය වෙනවා. ඒ තමයි කේතු.

එතකොට කේතු නුවණ ඇති කරන ග්‍රහයෙක්. රාහු නුවණ වහනවා. රාහු ගෙවෙන්න ගෙවෙන්න, වැහීමත් ක්‍රමයෙන් අඩු වෙලා යනවා. ඊළඟට කැපිල දෙපැත්තට ගියාම නැවතත් ආලෝකය එනවා. මේ විදිහට රාහු කේතු දෙක එකට යෙදෙන්නෙ. ඉතින් මේ ග්‍රහයින් නව දෙනා ගත්තම රවි හැදෙන කොටම ඉතිරි ග්‍රහයින් 8 දෙනාත් රවුමට හැදෙනවා. **ආදි බ්‍රහ්ම කල්පික මනුස්සයො හිටපු මුල්ම කාලෙ මේ එක ග්‍රහයෙක්වත් නෑ. ග්‍රහණය කරන තාක් කල් ග්‍රහයො නෑ. ග්‍රහණය කළාට පස්සෙ තමයි කලින් තිබ්බ ශක්තිය පිට වෙලා ගිහින් ඊට අනුරූප ශක්තිවලින් ග්‍රහයො හට ගන්නෙ. ග්‍රහණය කර ගත්ත කියන්නෙ පාපය. ඒ කියන්නෙ ලෝභ, ද්වේශ, මෝහ.** ඒවා ග්‍රහණය කරන කොට ඒකෙ ප්‍රතිඵලය තමයි අඳුර. ඒ අඳුර තමයි අන්තිමට එන රාහු.

දැන් මේ විදිහට ආදි බ්‍රහ්ම කල්පික මනුස්සයො ක්‍රමයෙන් පල්ලම් බහින්න ගත්තම තමයි ඒ තිබ්බ හොඳ ගති ගුණවලට අදාල ශක්ති පිටවෙලා ගිහින් ග්‍රහයො බිහි වුණේ. ඒ කියන්නෙ මනුස්සයින්ගෙන් දුරස් වෙච්ච ගුණයක් තියෙනවා. ඊට අදාල ශක්තියක් තියෙනවා. ස්ව හෙවත් තමන්ගෙන් විසි වෙච්ච ශක්තිය තමයි විශ්ව කියන්නෙ. තමන් ළඟ තියෙන ගුණ තමයි විසි වෙන්නෙ. ඊට අදාල ශක්තිවලින් තමයි විශ්වයේ තියෙන ග්‍රහලෝක හැදෙන්නෙ. එතකොට මුලින්ම මනුස්සයින්ට ස්වයං ප්‍රභා ආලෝකය සහිත රවි බලය තිබුණා. ඒ තමයි ආරම්භය. ආරම්භය ක්‍රියාකාරියි. එතකොට සම්පූර්ණයි. එතැන් පටන් ඒක පල්ලම් බහින්න ගන්නවා. ඡන්ද රාගය තමයි ඒකට මුල් වෙන්නෙ. එතකොට තමයි සඳු ලක්ෂණය එන්නෙ. එහෙම ක්‍රමයෙන් ආපු



ගමනක් තමයි අද මේ මනුස්සයාට තියෙන්නෙ. එතකොට ඉර හඳ හෙවත් රවි චන්ද්‍ර තමයි ඉස්සෙල්ලම හට ගත්තෙ. ඊත් එක්කම අනිත් ග්‍රහයො හත් දෙනාත් එකට ඇදිලා හට ගත්තා. රවිට තිබ්බ විසි වූ ශක්තිය තමයි සුදු නිල හෙවත් දියමන්ති කියන්නෙ. ඒ විහිදිච්ච ශක්තිය නැවත ඇදල දෙනව කියන්නෙ ප්‍රයෝග සම්පත්තියක්. ඒක නැවතත් ආසන්නයට ලබා දුන්නම ඒකෙන් අර විහිදිච්ච ශක්තිය ආපසු ඇදල එනවා.

දැන් මේ ග්‍රහ වස්තුවලට වැටෙන ආලෝකය පරාවර්තනය වෙලා මනුස්ස ලෝකයට ඇදිල එනකොට, මනුස්ස ලෝකයේ වායු ගෝලයේ තියෙන වායු පටලයෙදි එක්තරා රසායනික සංයෝගයක් ඇති වෙනවා. ඒ සංයෝගයෙන් ආලෝක ධාරාවක් බවට පත් වෙලා තමයි තරු වගේ අපට පේන්නෙ. හැබැයි ඇත්තටම **රාත්‍රී අහසෙදි අපට පේන්නෙ තරු නෙවෙයි. තරුවෙන් විහිදෙන ආලෝකය පෘථිවි වායු මණ්ඩලයට වැටිල, වායු මණ්ඩලයේ ප්‍රදේශයක එක්තරා විදියක අනුකූල රූප කලාප පරිවර්තනයක් හට ගන්නවා. ඒ රූප කලාප පරිවර්තනය තමයි අපට පේන්නෙ.** ඒ ඒ ග්‍රහයින්ගෙන් විහිදෙන කිරණ මේ වායු මණ්ඩලයට වැදෙන කොට, පරිවර්තන රටාවක් ඇති වෙලා හැදෙන ආලෝක මණ්ඩලයක් තියෙනවා. මේ ආලෝක මණ්ඩලය තුළ තියෙන්නෙ ඒ ඒ ගැලපෙන දේවතාවන්ට විමාන හට ගන්න ප්‍රදේශ.

ලෝකයට බොහොම තේජස් ඇතුව, කාර්යක්ෂමව, ක්‍රියාකාරීව, මිනිස්සු යහපත් පැත්තට පොළඹවල කටයුතු කරපු කෙනා හරියට සූර්යා (රවි) වගේ ලෝකයට ආලෝකයක් දුන්න කෙනෙක්. මෙබඳු ගති ලක්ෂණ ඇති කෙනාගෙ සූර්ය ගති ලක්ෂණ පිහිටනවා. මේ ගති ලක්ෂණ තියෙන කෙනෙක් මනුස්සත්වය ඉක්මවල දේවත්වයෙන් කටයුතු කළා නම්, ඒකට විපාක වශයෙන් සූර්ය දේවතාවෙක් වෙලා උපදිනවා. සූර්යාගෙන් එන කිරණ ආකාසයට වැදිල වායු මණ්ඩලයේ යම් ප්‍රදේශයක් ආලෝක කරනවද, ඒ ආලෝක මණ්ඩලයෙ තමයි ඒ දේවතාවන්ට ගැලපෙන පරිසරය නිර්මාණය වෙන්නෙ. ඒ ආලෝක මණ්ඩලය තුළ පුණ්‍ය සෘද්ධියෙන් විමාන පහළ වෙලා ජීවත් වෙනවා.

ඒ වගේම ලෝකයට බොහොම කරුණාවෙන්, මෘදු ගතියෙන්, හිත හොඳින් යමෙක් ජීවත් වෙලා දේව ගුණය වැඩුව නම්, ඒ පුද්ගලය චන්ද්‍රයා (සඳු) හා සමානව ජීවත් වුණු කෙනෙක්. ඒ වගේ කෙනෙක් දේවතාවෙක් වුනාම චන්ද්‍ර දේවතාවා නමින් හඳුන්වනවා. චන්ද්‍ර මණ්ඩලයෙන් වැටෙන්නා වූ කිරණ පෘථිවියට වැටෙන කොට ආකාසයෙ කොටසක ඒ කිරණ නිසා පරිවර්තනය වෙච්ච පුල්ලියක් හැදෙනවා. රාත්‍රී අහසේ හඳ කියල අපට පේන්නෙ ඒ පුල්ලිය. ඒ පේන්නෙ ග්‍රහ වස්තුව නෙවෙයි, ග්‍රහ වස්තුවෙන් වැටෙන ආලෝක මණ්ඩලය. චන්ද්‍ර මණ්ඩලයෙන් තවත් යොදුන් බොහෝ ගණනාවක් එහා තමයි චන්ද්‍ර ග්‍රහයා තියෙන්නෙ. මේ මණ්ඩලය තමයි චන්ද්‍ර දේවතාවන්ගෙ විමාන හට ගන්න ප්‍රදේශය.

ඊළඟට යම් කිසි ආකාරයකින් යුද්ධ කරන, තරඟ කරන කටයුතුවලදි තරඟකාරීව ලෝකයට යහපත සලසන තවත් කොටසක් ඉන්නවා. ඒ කියන්නෙ දැහැමිව තරඟ කරල ලෝකයට යහපත සලසන කොටසක්. උදාහරණ විදිහට යම් කිසි විදිහකට ගොවිතැන් බත් ආදිය කරල දැහැමිව ජීවත් වෙන පිරිසක් ඉන්න

සමාජයකට, යම් කිසි දාමරික දුස්සීල පිරිසක් කඩා පැනල ඒ අයගෙ දේපල මංකොල්ල කාල, ඒ දැහැමි සමාජය කඩාකප්පල් කරන්න කටයුතු කරනව නම්, ඒ අවස්ථාවෙදි ඒ දාමරික පිරිසට එරෙහිව සටන් කරල ඒ දැහැමි සමාජය තව දුරටත් ආරක්ෂා කර ගන්න තවත් පිරිසක් තරඟකාරීව කටයුතු කරන්න පුළුවන්. මේ ආකාරයට යහපත් ආකාරයෙන් තරඟ කරල දේව ගුණ වඩපු කෙනෙක් හිටිය නම්, කුජ දේවතා කොට්ඨාසයේ උපදින්න හේතු ලබනවා. කුජ ග්‍රහයගෙන් එන කිරණ මේ වායු මණ්ඩලයට වදින කොට ඒ වායු මණ්ඩලයේ එක කොටසක් ඒ කිරණ නිසා ආලෝක වෙනවා. කුජ දේවතාවන්ගෙ විමාන පිහිටන්නෙ ඒ ආකාරයට කුජ මණ්ඩලයේ.

ඒ වගේම ලෝකයාට යම් කිසි ආකාරයකට යහපත් විදිහට ජීවත් වෙන්න, සශ්‍රීකව ජීවත් වෙන්න අවශ්‍ය දැනුම් ඉගෙනුම් ලබාගෙන ලෝකයට යහපතක් කරන්න බලාපොරොත්තු වෙන කොටසක් ඉන්නවා. ඒ විදිහට යහපත් දේවල් ඉගෙන ගෙන දේව සංඛාර වඩපු කෙනෙක් හිටිය නම් බුධ දේවතා කොට්ඨාසයේ ඉපදෙන්න හේතු ලබනවා. බුධ ග්‍රහයගෙන් එන කිරණ, වායු මණ්ඩලයට වදින කොට ඇති වන ආලෝක ප්‍රදේශයේ බුධ දේවතාවන්ගෙ විමාන පිහිටනවා.

ඊළඟට ලෝකයාට යහපත් විදිහට ජීවත් වෙන්න අවශ්‍ය ගුරුහරුකම් ලබා දෙන තවත් පිරිසක් ඉන්නවා. ඒ අය යහපත් ගුරුහරුකම් ලබා දීල දේව සංඛාර වැඩුවොත් ගුරු (බ්‍රහස්පති) දේවතා කොට්ඨාසයේ ඉපදෙන්න හේතු ලබනවා. ගුරු ග්‍රහයගෙන් එන කිරණ, ආකාසයේ වායු මණ්ඩලයට වැදිල ආලෝකමත් වෙන ප්‍රදේශයේ තමයි ගුරු දේවතාවන්ට අවශ්‍ය පරිසරය නිර්මාණය වෙන්නෙ.

ඊළඟට ලෝකයාට බොහොම සශ්‍රීකව සුව පහසුව ජීවත් වෙන්න අවශ්‍ය පරිසරය දැහැමිව සකස් කරල දෙන පිරිසක් ඉන්නවා. උදාහරණ විදිහට වැව් පොකුණු, ළිං තොටු, මං මාවත් ආදිය හදල දීල, ගහ කොළ වවා හදා දීල, ගොවිතැන් බත් අස්වද්දල දීල මනුස්සයින්ට පහසුකම් සපයන පිරිස් ඉන්නවා. ඒ වගේ පිරිස් වඩන දේව සංඛාර හේතුවෙන් සිකුරු දේවතා කොට්ඨාසයේ ඉපදෙන්න හේතු ලබනවා. සිකුරු ග්‍රහයගෙන් එන කිරණ, වායු මණ්ඩලයට වැදිල ඇති වන ආලෝකමත් ප්‍රදේශවල තමයි ඒ අයගෙ විමාන පහළ වෙන්නෙ.

ඒ වගේම යම් කිසි කෙනෙකුට හෝ පිරිසකට හෙණහුරා වැහිලයි කියන්නෙ, දුක් කරදර බාධකවලින් හැම පැත්තෙන්ම පහර වදිනවයි කියන එක. උදාහරණ විදිහට කෙනෙක් ජීවත් වෙන්න, කන්න බොන්න, අඳින්න විදිහක් නැතිව හතර අතේ වැටිල ඉන්න පුළුවන්.  ඒ වගේ යම් කිසි විදිහකින් වැටිච්ච අය ඒ තත්ත්වයෙන් මුදව ගන්න කටයුතු කරන පිරිස් සමාජයේ ඉන්නවා. අන්න ඒ වගේ පිරිස් දේව සංඛාර වැඩුවොත් ඒ හේතුවෙන් සෙනසුරු දේවතා කොට්ඨාසයේ ඉපදෙන්න හේතු ලබනවා. සෙනසුරු ග්‍රහයගෙන් එන කිරණ, ආකාසයේ වායු මණ්ඩලයට වැදිල යම් ප්‍රදේශයක් ආලෝකමත් වෙන කොට, ඒ ප්‍රදේශයේ සෙනසුරු දේවතාවන්ට අදාල විමාන පහළ වෙනවා.

ඊළඟට තවත් පිරිසක් ඉන්නවා, සමාජයට අණ විණ කරන දේවල් වලක්වල ඒවා වහල දානවා, මතු වෙන්න ඉඩ දෙන්නෙ නෑ. අන්න ඒ විදිහට වසං කරන ගතිය තමයි රාහුට තියෙන්නෙ. ඒ වගේම යහපත් දෙයක් වසන් කරල තියෙනකොට ඒක විවෘත කරල දෙන විදිහට කෙනෙක් යහපත් පැත්තට දේව සංඛාර වැඩුවොත්, ඒ පුද්ගලය රාහු දේවතා කොට්ඨාසයේ ඉපදෙන්න හේතු ලබනවා. රාහු කියන ග්‍රහයගෙන් එන කිරණ, වායු ගෝලයට වැදිල ආලෝකමත් වුනාම එන ප්‍රදේශයේ තමයි ඒ අයගෙ විමාන පහළ වෙන්නෙ.

දැන් මේ විදිහට මනුස්සයො පරිසරයේ තියෙන සම්පත් ආදිය දිගටම පරිහරණය කරන කොට, ඒවා යම් කිසි විදිහකින් ක්ෂය වෙනවා, හිඟ වෙනවා. අන්න ඒ වගේ වෙලාවට ඒ ක්ෂය වෙච්ච දේවල් නැවතත් ඍතු කරල ප්‍රතිසංස්කරණය කරල දෙන පිරිස් ඉන්නවා. උදාහරණ විදිහට ගෙවල් දොරවල් බඩු මුට්ටු හදන්න ගස් කොළං කපන කොට ඒවා ක්‍රමයෙන් ක්ෂය වෙනවා. එතකොට ක්ෂය වෙන්න නොදී නැවතත් ගස් කොළං හිටවල ඒවා ඍතු කරල දෙන පිරිස් ඉන්නවා. ඒ වගේ අය දේව සංඛාර වැඩීම නිසා කේතු කියන ග්‍රහ දේවතා කොට්ඨාසයේ ඉපදෙන්න හේතු ලබනවා. කේතු ග්‍රහයගෙන් විහිදෙන කිරණ, වායු ගෝලයේ පතිත වීමෙන් හට ගන්නා ප්‍රදේශවල තමයි ඒ අයගෙ විමාන පහළ වෙන්නෙ.

මේ විදිහට ඒ ඒ දේවත්වයෙන් කටයුතු කර ගත්ත අය ඊට අනුකූලව අදාල විමානවල උප්පත්තිය ලැබුවම ග්‍රහ දේවතාවො කියල හඳුන්වනවා. දේවතාවො කියන්නෙ දෙවි කියන එකම නෙවෙයි, යම් කිසි විදිහකින් ආවතේව කරන පිරිස්. ඉහළ මහේශාක්‍ය දෙවියන්ටත්, ඒ අයගෙ උපදෙස් අනුව මනුස්සයින්ටත් ආවතේව කරනවා. මනුස්සයින් ඇසුරෙ ඉන්න තිරිසන් සතෙක් වන ගවයත් දේවත්වයෙන් සැලකුවයි කියන්නෙ ඒ සතා මනුස්සයින්ට ආවතේව කරන නිසා. ඒ කියන්නෙ කිරි ටික, පොහොර ටික ආදිය ලබා දීල, බර ඇදල දීල මනුස්සයින්ගෙ ගොවිතැන් බත් සශ්‍රීක කරන්න උදව් කරන නිසා. එතකොට මේ නව ග්‍රහ දේවතාවො කියන්නෙ මෙන්න මේ අය. ඒ දේවතාවන් යම් යම් පුණ්‍ය ඍද්ධි ලබනවා. කරන ලද කර්මයේ විපාකය වශයෙන් ලබන පුණ්‍ය ඍද්ධියත් මහා බලසම්පන්න ආකාරයට පිහිටනවා. ලෝකයට යහපතක් කරල, නැවත ලෝකයට යහපතක් කරන්න පුළුවන් තැනකම උපත ලැබුවට පස්සෙ, කලින් කරපු වැඩේ මහා පරිමාණයෙන් කරන්න හැකියාව ලැබෙනවා. ඉතිං තමන් වගේ ලෝකයට යහපත සලසන, තමන්ගෙ වගේ අදහස් දරන අයට උදව් උපකාර කරන්න මේ වගේ දේවතාවො කැමතියි. ඒ නිසා ඒ දේවතාවන් හා සමානව කටයුතු කරන මනුස්සයින්ට ඔවුන් ආශිර්වාද කරනවා. එහෙම ලැබෙන ආශිර්වාදය තමයි ග්‍රහ දේවතාවන්ගෙ ආශිර්වාදය කියන්නෙ.

දැන් මේ කේන්දර, යන්ත්‍ර සාස්ත්‍ර ආදිය ගත්තම, වර්තමානයේ දකින්න තියෙන්නෙ නෂ්ටාවශේෂ ප්‍රමාණයක් විතරයි. මොකද වර්තමානය වෙන කොට මේවායේ අර්ථ පූර්ණත්වය බොහොම අඩුයි. ඒවා වැහිල ගිහින්. නමුත් මේ වගේ සත්‍ය වූ ලෞකික සාස්ත්‍රයක් තියෙනවා. ජ්‍යෝතිෂ කියන්නෙ දිවැසක් නැති දිවැසක් වගේ දෙයක්. වර්තමානයේ මේවායෙන් ඉතුරු වෙලා තියෙන්නෙ බොහොම සුළු කොටසක්. මේ සුළු කොටසෙන් කෙනෙක්ගෙ කේන්දරයක් බලල කේන්දරයක තියෙන දේවල් පිළිබඳව 100% ක්ම නිවැරදිවම කියන්න පුළුවන්කමක් නෑ. ඒ නිසා නිතරම ධර්මානුකූලවම කටයුතු කරල මේ ධර්ම මාර්ගයේම ගමන් කරන්න උත්සාහ කරන්න ඕන. කේන්දරේ තිබුණ පලියට හැම දෙයක්ම ඒ ආකාරයට සිද්ධ නොවන බවත් තේරුම් ගන්න ඕන. හැම දෙයක්ම හේතු ඵල දහම මතම සිද්ධ වෙන බව අවබෝධ කර ගන්න ඕන. කොච්චර හොඳින් හිටියත් ගෙවිල වැනසිලා යන බව අවබෝධ කරගෙන, ලෝකෙ හැටි මෙහෙමයි අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල අවබෝධ කරගෙන ලෝකයෙන් එතෙර වෙන්න උත්සාහ කරන්න ඕන.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ලොව පහළ වන අති දුර්ලභ කාරණා...

ලෝකයේ පහළ වන අති දුර්ලභ කාරණා පහෙන් මුල් කාරණා 2 ගැන පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. ඊළඟට අංගුත්තර නිකායේ සාරන්දද සූත්‍රයේ, ලොව පහළ වන තුන් වන දුර්ලභ කාරණය විදිහට සඳහන් වෙන්නෙ, **තථාගතයන් වහන්සේ විසින් දේශිත ධර්ම විනය දැන ගන්නා පුද්ගලයා.** මේ කියන ධර්මය සහ විනය මොකක්ද කියල පළමුවෙන්ම වටහා ගන්න ඕන. සියලු බුදුවරු දේශනා කරන්නෙ මේ ධර්ම විනය දෙක. ''ආනන්දය, මා විසින් ධර්මයත් විනයත් දේශනා කළා, පනවා වදාළා. මගෙන් පසු ඔබලාට සාස්තෘවරයා වන්නේ මේ ධර්ම විනය දෙකයි. යමෙක් ධර්ම විනයෙහි අප්‍රමාදීව යෙදෙන්නේද ඔහු ජාති සංඛ්‍යාත සසර දුක නිමා කරන්නේය.'' (<u>මහා පරිනිබ්බාන සූත්‍රය</u>)

ඉහත බුද්ධ වචන මේ විදිහට ගෙන හැර දැක්වුවේ, ධර්ම විනය දෙක පිළිබඳ යම් අවබෝධයක් ඇති කර ගන්න. ධර්මය කියන්නෙ චතුරාර්ය සත්‍යය ඇතුළු පටිච්ච සමුප්පාද ධර්මය. විනය කියන්නෙ රාග, ද්වේශ, මෝහ පහ කර ගැනීම සඳහා හික්මීම මිසක් විනය පිටකය නෙවෙයි. බුද්ධ සාසනයේ ආයුස (පවතින කාලය) කියන්නෙ ත්‍රිවිධ විනය. (රාග විනය, දෝස විනය, මෝහ විනය) විනය තියෙන තාක් බුද්ධ සාසනය පවතිනවා. විනය නැති කාලයේ බුද්ධ සාසනය යටපත් වෙනවා.

තථාගතයන් වහන්සේ විසින් දේශිත ධර්ම විනය දැන ගන්නා පුද්ගලයා ලෝකයේ දුර්ලභයි. බුදුන් වහන්සේ විසින් දේශිත ධර්ම විනය අවබෝධ කර ගැනීමට ලෝකයේ ඉන්න සියලු දෙනාම දක්ෂ නෑ. ''පඤ්ඤාවතෝ අයං ධම්මෝ නායං ධම්මෝ දුප්පඤ්ඤස්ස''

මේ කියන බුදු වදන අනුව ධර්මය අවබෝධ කරන්න පුළුවන් ප්‍රඥාවන්තයින්ට පමණයි. ප්‍රඥාව මුහු කුරා නොගිය බාල පුද්ගලයාට බුදුවරයෙකුගේ අභිමුඛයේ ඉඳගෙන සද්ධර්මය ශ්‍රවණය කළත් චතුරාර්ය සත්‍යය අවබෝධ වෙන්නෙ නෑ. **බුදුන් වහන්සේ ජීවමාන කාලයේ උන් වහන්සේගෙන් බොහෝ දෙවි, බඹුන්, මිනිසුන් ධර්මය ශ්‍රවණය කළත් ඒ සියලු දෙනාම ධර්මාවබෝධය කළේ නෑ.**

අප්පකාතේ මනුස්සේසු
යේ ජනා පාරගාමිනෝ
අථායං ඉතරා පජා
තීරමේවානු ධාවතී
(ධම්ම පදය - පණ්ඩිත වග්ගය)

නිය සිලට ගත් පස් ස්වල්පයක් මෙන් ඉතා ටික දෙනෙක් තථාගත ධර්මය ශ්‍රවණය කර ධර්මානු ධර්ම ප්‍රතිපදාවේ යෙදී සසර දුකෙන් එතෙර වේ. අනිත් සියළු දෙනා සසර කතරේ අනාථ වී සැරි සරයි.

අන්ධ භූතෝ අයං ලෝකෝ
තනුකෙත්ථ විපස්සති
සකුන්තෝ ජාල මුත්තෝව
අප්පොස්සග්ගාය ගච්ඡති
(ධම්ම පදය - ලෝක වර්ගය)

මේ ලෝ වැසි ජනයාට නුවණැස නැති නිසාම අන්ධය. විදර්ශනාවෙන් ලොවේ ඇති තතු දකින්නේ ඉතා ටික දෙනෙකි. වටු වැද්දෙකු විසින් දමන ලද දැලට හසු වූ වටුවන්ගෙන් කළාතුරකින් එකෙක් බේරී යන්නා සේ මිනිසුන් අතරින් ඉතා ටික දෙනෙක් සුගතියට නිවනට යන්නේය.

කොසොල් මහ රජතුමා දිනකට



තුන් වතාවක් බුදුන් වහන්සේ හමුවෙන්න ගියා. ඒ හැම අවස්ථාවකම වගේ උන් වහන්සේ මොනව හරි ධර්මයක් රජතුමාට දේශනා කළා. සංයුක්ත නිකායේ කෝසල සංයුක්තයේ තියෙන සියලු දේශනා රජතුමාට දේශනා කරපු කොටස්. එක පුද්ගලයෙක් මුල් කර ගෙන මෙච්චර දේශනා රාශියක් වෙනත් කිසිවෙකුටත් දේශනා කරල නැති තරම්. රජතුමා කොච්චර ධර්මය ඇහුවත්, සෝවාන් මාර්ග අනුගාමිකත්වයටවත් පත් වෙච්ච බවක් සඳහන් වෙලා නෑ. මරණින් පසු සුගතියකට ගිය බවක්වත් සඳහන් වෙන්නෙ නෑ.

මල්ලිකා දේවියගෙ උපදෙස් පරිදි කොසොල් රජතුමා, වෙන කිසිවෙකුටත් කරන්න බැරි අසදෘෂ මහා දානයක් පූජා කළා. එක බුද්ධ සාසනයක ඒ වගේ දානයක් දෙන්නෙ එක පුද්ගලයෙක්ම පමණක් බවත් දහමේ සඳහන් වෙනවා. ඒ වගේ මහා දන් පවත්වන්න මූලිකව ක්‍රියා කරපු මල්ලිකා දේවිය පවා ධර්මය වටහා ගත් බවක් සඳහන් වෙන්නෙ නෑ. මරණින් මතු දින 7 කට නමුත් දුගතියක උපන්න බව සඳහන් වෙනවා. ඒ නිසා ජීවමාන බුදුන් වහන්සේ මුණ ගැහුනත්, තමන්ට ධර්මාවබෝධය කරන්න තරම් ප්‍රඥාවක් නැත්නම් මග ඵල සාක්ෂාත් කරන්න බෑ.

ලෝකයේ ජීවත් වෙලා ඉන්න අයගෙන් මේ ජීවිතයෙදිම ධර්මය අවබෝධ කරන පුද්ගලයින් තුන් දෙනෙක් ඉන්නවා. ඒ තමයි උග්ඝටිතඥ, විපචිතඥ, නෙය්‍ය කියන තුන් දෙනා. (අංගුත්තර නිකාය - <u>නෙය්‍ය පුග්ගල සූත්‍රය</u>) ඉතා කෙටියෙන් ධර්මයක් ශ්‍රවණය කරල දාරුචීරිය, සන්තති ඇමති වගේ වහ වහා මග ඵල නිවන් අවබෝධ කරන අය උග්ඝටිතඥ වෙනවා. විපචිතඥ පුද්ගලයට ධර්මය විස්තර සහිතව දේශනා කරන කොට අවබෝධය ලැබෙනවා. ධර්මය නැවත නැවත අසමින් ධර්මානුධර්ම ප්‍රතිපදාව කාලයක් තිස්සේ පුරුදු පුහුණු කරල නිවන් සාක්ෂාත් කරන කෙනා නෙය්‍ය කියල හඳුන්වනවා. මේ ජීවිතයෙදි කොච්චර උත්සාහ කළත් මග ඵල අවබෝධ කරන්න බැරි කෙනා පද පරම කියල හඳුන්වනවා. අදහස වටහ ගන්නෙ නැතිව දහම් පද පාඩම් කර ගෙන ඒවා පරම කර ගෙන සිටීම තමයි ඔවුන්ගේ ස්වභාවය.

නෙළුම් විලක තියෙන නෙළුම් පොහොට්ටු එක එක මට්ටමට මෝරල තියෙනවා. සමහර පොහොට්ටු සූර්යාලෝකය වැටුනම ඒ මොහොතෙම විකසිත වෙනවා. උග්ඝටිතඥ පුද්ගලයත් ඒ වගෙයි. සමහර පොහොට්ටු දින කීපයක් ගිහින් සූර්යාලෝකය වැටුනම පිපෙනවා. විපචිතඥ පුද්ගලයගෙ ධර්මාවබෝධයත් ඒ වගෙයි. නෙළුම් විලක යට තියෙන කැකුළු මාස ගණනක් ගිහින් පිපෙනව වගේ, නෙය්‍ය පුද්ගලයා වැඩි කාලයක් මහන්සි වෙලා දහම් අවබෝධ කර ගන්නවා.

ධර්මාවබෝධය සඳහා යන ගමන් මග අනුපුබ්බ සික්ඛා, අනුපුබ්බ කිරියා, අනුපුබ්බ පටිපදා වශයෙන් ත්‍රිවිධාකාරයි. අනුපූර්වව හික්මවෙමින්, අනුපූර්වව ක්‍රියා කරමින්, අනු පූර්ව ප්‍රතිපදාව තුල ගමන් කරමින් සත්‍යය අවබෝධ කර ගන්න ඕන. ධර්ම මාර්ගයට පැමිණෙන පිළිවෙල බුදුන් වහන්සේ වදාරළ තියෙන්නෙ පහත ආකාරයට. ''පැහැදුනු සිත් ඇති සැදැහැවතුන් සත්පුරුෂයන් කරා

පැමිණ ඒ උතුමන්ගේ ඇසුර ලබමින්, කන් යොමු කර ශ්‍රී සද්ධර්මය අසා දරා ගෙන එය විමර්ශනය කිරීම තුළින් සම්මා දිට්ඨියට පත් වේ.''

ඒ වගේම සුතා, ධතා, වචසා, පරිචිතා, මනසානු පෙක්ඛිණා කියන දේශනයෙන් ධර්මය මැනවින් අසා දරා ගෙන, වචනයෙන් පුරුදු කරමින්, මනසින් විමසා බලමින් ධර්මාවබෝධය ලබන බව සඳහන් වෙනවා. මේ විදිහට දෙව් මිනිසුන් අතරින් ඉතා ටික දෙනෙක් ධර්මාවබෝධය කරමින් සසර ගමන නිමා කරන නිසා, ඒ වගේ උතුමන්ගේ පහළ වීම ලෝකයේ දුලබ බව දේශනා කළා.

ධර්මානුධර්ම ප්‍රතිපත්තියේ යෙදෙන පුද්ගලයා ලෝකයට පහළ වීම තමයි ඊළඟ දුර්ලභ කාරණය. මීට පෙර විග්‍රහ කරපු ආකාරයට ආර්ය උත්තමයෙකුගෙන් ධර්මය අහල දරා ගෙන විමර්ශනය කරමින්, මූලික අවබෝධය හෙවත් ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වෙච්ච කෙනා, ඉතිරි සංයෝජන ප්‍රහීණ කිරීම සඳහා ඇලීම් ගැටීම් දුරු කරමින් රාගක්ඛය, දෝසක්ඛය, මෝහක්ඛය පිණිස අරි අටගි මග වැඩීම තමයි ධර්මානුධර්ම ප්‍රතිපදාව. සංයුක්ත නිකායේ අභිසමය සංයුක්තයේ ධම්ම කථික සූත්‍රය තුළ ධර්මානුධර්ම ප්‍රතිපදාව විස්තර කරල තියෙන්නෙ මේ විදිහට. ''ජාතිය, භවය, උපාදානය, තණ්හාව, වේදනාව, ඵස්සය, සළායතන, නාම රූප, විඤ්ඤාණ, සංඛාර, අවිද්‍යා යන පටිච්ච සමුප්පාදයෙහි නොබැඳීම, නොඇලීම, මිදීම පිණිස විමුක්ති මාර්ගය වඩන තැනැත්තා ධර්මානුධර්ම ප්‍රතිපදාව අනුගමනය කරන්නෙක් වේ.

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංචස්කන්ධයේ නොබැඳීම, නොඇලීම, මිදීම පිණිස පිළිපන් තැනැත්තා ධර්මානුධර්ම ප්‍රතිපදාවට බැස ගත් කෙනෙක් බව සංයුක්ත නිකායේ ඛන්ධ සංයුක්තයේ පඨම ධම්ම කථික සූත්‍රයේ සඳහන් වෙනවා. ඒ වගේම මේ කාරණයත් ධර්මයේ සඳහන් වෙනවා. ''පටන් ගන්නා ලද වීර්ය ඇතිව කෙලෙසුන්ගෙන් සිත මුදවා ගෙන ධර්මානුධර්ම ප්‍රතිපදාවෙහි යෙදෙන්නා, හරියට බට ලීවලින් හැදූ ගෙයක් හස්ති රාජයෙක් කඩා පොඩි කර සුනු විසුනු කර හරින්නා සේ...''.

සාරාන්දද සූත්‍ර දේශනාවේ 5 වෙනි දුර්ලභ කාරණය විදිහට දක්වෙන්නෙ කතඤ්ඤුතා හෙවත් කළ ගුණ දන්නා බව. කතඤ්ඤුතාව ලෞකික ලෝකෝත්තර අංශ දෙකෙන්ම පැහැදිලි කරන්න පුළුවන්. පළමුවෙන්ම මේ කාරණයේ ගැඹුරු අර්ථය මොකක්ද කියල විමසල බලන්න ඕන.

''පටිපත්ති මූලකං මහාරාජ ඉමං සත්ථුසාසනං - මහරජ මාගේ සාසනය ප්‍රතිපත්තිය මුල් කර ගත් මාර්ගයකි. තථාගතයන් වහන්සේ විසින් වදාළ ප්‍රතිපත්තියේ හෙවත් විමුක්ති මාර්ගයේ ගමන් කිරීම බුදුන් වහන්සේට කරන උසස්ම සැලකීම, ගරු කිරීම, වැඳීම පිදීම වේ.''

හතළිස් පස් වසරක් පුරා සත්වයා කෙරෙහි මහා කරුණාවෙන්, දුකට පත් සත්වයා සසරින් මුදවල බුද්ධ කෘත්‍යය අවසන් කරල පිරිනිවන් මංචකයේ වැඩ ඉඳෙද්දි දෙව්, බඹ, මිනිස් ආදී බොහෝ අය බුදුන් වහන්සේට මල්, සුවඳ, තූර්ය ආදියෙන් පූජා කළා. ඒ මොහොතේ උන් වහන්සේ ආනන්ද හිමියන් අමතල මේ විදිහට වදාරණවා. ''ආනන්දය, මේ මල් සුවඳ තූර්ය ආදියෙන් පමණක් තථාගතයන් වහන්සේට සත්කාර කිරීමක්, ගරු කිරීමක්, පිදීමක් නොවන්නේය. ආනන්ද යම් භික්ෂුවක් හෝ භික්ෂුණියක්, උපාසකයෙක් හෝ උපාසිකාවක් ධර්මානුධර්ම ප්‍රතිපත්තිය අනුව වාසය කරන්නේද සාමීචි ප්‍රතිපදාවට පිළිපන්නේද හෙතෙම තථාගතයන් වහන්සේට සත්කාර ගරුකාර වැඳීම පිදීම කියන පරම පූජාව කළා වේ. එහෙයින් ආනන්ද ධර්මානුධර්ම ප්‍රතිපත්තියේ වාසය කරන්නෙමුයි යනුවෙන් මෙසේ හික්මිය යුතුය.''

''ආනන්ද, කාරණා 8 කින් යුක්තව දීපංකර බුදුරදුන්ගේ පාමුල වැටී මා විසින් ලොව්තුරා බුද්ධත්වයට සිත නැඹුරු කළේ මල්, ගඳ, තූර්ය ආදියෙන් පිදුම් ලැබීමට නොවේ. එහෙයින් මල්, ගඳ, තූර්ය ආදියෙන් පිදීම මට කරන නියම පූජාව නොවේ.'' - පරිනිර්වාණ සූත්‍ර වර්ණනා

දවසක් ප්‍රජාපතී ගෝතමිය බුදුන් වහන්සේ වෙතට ඇවිත්, ''චිරං ජීව මහා වීර කප්පං තිට්ඨ මහාමුනී'' කියල, මහා වීරයන් වහන්ස බොහෝ කලක් ජීවත් වේවා, කපක් වැඩ සිටින සේක්වා කියල තථාගතයන් වහන්සේට නමස්කාර කළා. එතකොට උන් වහන්සේ, මෙසේ තථාගතයන් වහන්සේට නොවැන්ද යුතුයි කියල වදාළා. එසේ නම් තථාගතයන් වහන්සේ වැඳිය යුත්තේ කෙසේ දැයි අහපු ප්‍රජාපතී ගෝතමියට බුදුන් වහන්සේ නියම බුද්ධ වන්දනාව මේ විදිහට වදාළා. භාවනානුයෝගී භික්ෂූන් වහන්සේලා වෙත බුදුන් වහන්සේ ශ්‍රී හස්තය දිගු කර, කෙළෙස් තැවීමට පටන් ගත් වීර්ය ඇති, නිතර දැඩි පරාක්‍රමයෙන් යුතුව කෙළෙස් ප්‍රහීණ කරන සමගි වූ අර ශ්‍රාවකයන් දෙස බලන්නැයි වදාළා. ඒ තමයි නියම බුද්ධ වන්දනාව. (සංයුක්ත නිකාය - අට්ඨ කතා)

මහණෙනි, සියක් යොදුනක් එපිට යම් භික්ෂුවක් වාසය කරයි. ඒ භික්ෂුව උපාදානස්කන්ධයෙහි නොඇලී, දමනය වූ ඉඳුරන් ඇතිව කාලය ගෙවයි. බොහෝ දුර සිටියත් ඒ භික්ෂුව මා ළඟයි. මමද ඒ භික්ෂුව ළඟයි. ඊට හේතුව කුමක්ද? ඒ භික්ෂුව ධර්මය දකී. ධර්මය දකින්නා මා දකින්නෙකි. (යෝ ධම්මං පස්සති, සෝ මං පස්සති)

යම් භික්ෂුවක් මාගේ සිවුරු කොණක් අල්ලා ගෙන, මාගේ පියවර අනුව මා පසු පස පැමිණියත් ඒ භික්ෂුව ධර්මය නොදකී නම්, මට බොහෝ දුරින් වසන කෙනෙකි. මාද ඔහුට දුරින් වාසය කරයි. ඊට හේතුව ඒ භික්ෂුව ධර්මය නොදැකීමයි. (සූත්‍ර නිපාත අට්ඨ කතා)

ඉහතින් සඳහන් කළ සියලු දේශනා අනුව බුදුන් වහන්සේට නියමාකාරයෙන් වැඳීම, පිදීම, ගරු කිරීම සිදු කළා වෙන්නෙ, උන් වහන්සේ පෙන්වා වදාළ විමුක්ති මාර්ගයේ ගමන් කිරීමෙන් විතරයි. හැබැයි මේ කාරණයෙන් තථාගතයන් වහන්සේට කරන වන්දනා මාන, පූජා සත්කාර, ගෞරව ඇප උපස්ථාන අනවශ්‍යයි කියල අදහස් වෙන්නෙ නෑ. කරුණා සාසනයට අයිති ඒ සියල්ලම කරන්න ඕන. කරුණා සාසනය නැතිව ප්‍රඥා සාසනය දියුණු කරන්න බෑ. ප්‍රතිපත්තියේ තියෙන වටිනාකම වටහ ගන්නයි ඉහත බුද්ධ දේශනා අටුවා විවරණ ඉදිරිපත් කළේ. කතඤ්ඤුතා හෙවත් නියම කළ ගුණ සැලකීම වෙන්නෙ උන් වහන්සේ දේශනා කරපු ප්‍රතිපත්තියේ යෙදීමෙන්.

ඊළඟට කතඤ්ඤුතා ගුණයේ ලෞකික අර්ථයත් සමාජයට ඉතා ප්‍රයෝජනවත්. සම්මත ලෝකයේ කෙළෙහි ගුණ දන්නා බව උතුම් සත් පුරිස ගුණයක්. ''ද්වේ මේ භික්ඛවේ පුග්ගලා දුල්ලභෝ ලෝකස්මිං කථමානි ද්වේ, යෝච පුබ්බකාරී, කථඤ්ඤු කථවේදි'' අංගුත්තර නිකාය - දුක නිපාතය

ඉහත බුදු වදන අනුව ලෝකයේ දුර්ලභ පුද්ගලයන් දෙන්නෙක් ඉන්නවා. ඒ කියන්නෙ තමන්ට කිසි උපකාරයක් නොකළ කෙනෙකුට පළමුව උපකාර කරන සහ කළ උපකාරවලට පෙරළා උපකාර කරන පුද්ගලයන්. සමාජයේ නැති බැරි අසරණයන් වෙනුවෙන් ඒ අයට අවශ්‍ය දේවල්, අන්‍යයන් ඉල්ලා සිටීමටත් පෙර සොයා බලා ඉටු කර දීම මහා පිනක්. ඉහත දේශනාවෙ පුබ්බකාරී කියල සඳහන් කරල තියෙන්නෙ ඒ කාරණය. ඒ විදිහට පිං දහම් කර ගත් අය මරණින් මතු පරනිම්මිත වසවර්ති කියන දෙව් ලොව ඉපදිලා උසස්ම දෙව් සැප භුක්ති විඳිනවා. ඒ දෙවිවරුන්ට අවශ්‍ය සියලු දේවල්, හිතන්නත් පෙර සම්පූර්ණ වෙනවා. මනුස්ස ලෝකයේදි යම් පිනක් සිද්ධ කරපු ආකාරයක් වේද, ඒ පිනේ

ප්‍රතිඵල ලැබෙන්නෙත් ඒ ආකාරයටමයි. (යාදිසං වපතේ බීජං - තාදිසං හරතේ ඵලං)

''ගාරවෝච නිවාතෝච සංතුට්ඨීච කතඤ්ඤුතා'' කියන මහා මංගල සූත්‍රයේ ගාථා පාඨයේ, කතඤ්ඤුතා කියල සඳහන් වෙන්නෙ, කළ ගුණ දන්නා බව මංගල කාරණයක් කියල. අපට යමෙක් සුළු උපකාරයක් කළත් ඒක කිසි ලෙසකින්වත් අමතක කරන්න හොඳ නෑ. ඊට ප්‍රති උපකාර කරන්න හැම අවස්ථාවෙම බලාපොරොත්තු වෙන්න ඕන. අවස්ථාවක් ආවම අමාරුකම් නොබලා ඊට උපකාරත් කරන්න ඕන. කෙළෙහි ගුණ අමතක කිරීම අසත්පුරුෂ පාප කාරී පුද්ගලයාගේ ස්වභාවයක්. තමන්ට කරපු පොඩි ගුණයක් වුනත් අමතක නොකර ඊට කෙළෙහි ගුණ සැලකීම උත්තමයන්ගෙ ස්වභාවයක්. මෙතනදි අගසවු සැරියුත් හිමියන්ගේ චරිතය හොඳ උදාහරණයක්.

රජගහ නුවර රාධ කියන මහළු බමුණෙක්, අඹු දරුවන්ගෙන් ලැබෙන අවමන් ඉවසන්න බැරිව පැවිදි වෙන බලාපොරොත්තුවෙන් වේළුවනාරාමයට ගිහින් ඒ භික්ෂූන්ට ඒ බව සැළ කළා. බමුණා හොඳටම මහළු නිසා කිසිම කෙනෙක් ඔහු මහණ කරන්න කැමති වුනේ නෑ. බමුණා ඒ ගැන ළතැවෙමින් ඉන්න කොට තථාගතයන් වහන්සේ ඒ බව දැන ගෙන භික්ෂූන් අමතල, මේ බමුණාගෙන් ලබපු යම් කිසි සංග්‍රහයක් මතක තියෙන කෙනෙක් ඉන්නවද කියල විමසුවා. එතකොට සැරියුත් මහ රහතන් වහන්සේ, ස්වාමීනි භාග්‍යවතුන් වහන්ස, දිනක් මම රජගහ නුවර පිඩුසිඟා වඩින කොට මේ බමුණා මට බත් හැන්දක් පූජ කළ බව මතක තියෙනව කියල සැළ කළා. එතකොට භාග්‍යවතුන් වහන්සේ, සාදු සාදු සාරිපුත්‍රයිනි, සත් පුරුෂයෝ කෙළෙහි ගුණ සලකන්නෝය, සාරිපුත්තය එසේ නම් මේ බ්‍රාහ්මණයා මහණ කොට උපසම්පදා කරන්නැයි වදාළා.

සැරියුත් හාමුදුරුවො මේ මහළු බමුණා පැවිදි කරල ඔහුත් එක්ක එක් ගමකට වැඩියා. අලුත මහණ වෙච්ච, කිසිවක් නොදන්නා ඒ මහළු පැවිද්දාට සලකන කෙනෙක් නෑ. සැරියුත් හාමුදුරුවො තමන් වහන්සේට ලැබුන වාසස්ථානය ඒ රාධ කියන තෙරුණ්ට දුන්නා. තමන්ට ලැබිච්ච දානයත් ඒ තෙරුණ්ට දීල, උන් වහන්සේ පිඩුසිඟා වැඩල දන් වැළඳුවා. රාධ තෙරුණුවොත් යහපත් සේනාසන සහ භෝජන ලැබිල ටික දවසකින් සුවපත් වෙලා, ඇදුරු සැරියුත් තෙරුණ් වෙතින්ම කමටහන් ලබල නොබෝ කලකින් සියලු කෙළෙසුන් නසල අරිහත්වයට පත් වුණා.

මේ විදිහට උත්තමයෝ තමන්ට කරපු ගුණ ස්වල්පයක්, උපකාරයක් සලකල, උපකාර කරපු අයට කෘතෝපකාර කරනවා. ඒ නිසා සත්පුරුෂයන්ට කළ උපකාරය වැපිරූ බීජයක් වගේ තමන්ටත් වැඩ පිණිසම පවතිනවා. අසත්පුරුෂයන් කෙරෙහි කරපු උපකාරය ගින්නකට දැමූ බීජයක් වගේ නැසිල යනවා.

කෙළෙහි ගුණ දන්නා වූ සිල්වත් වූ පිරිසිදු පැවතුම් ඇති සත් පුරුෂයා කෙරෙහි කළ උපකාරය, යහපත් කුඹුරක වැපිරූ බීජයක් මෙන් විනාස නොවන්නේය. ඵල සහිත වන්නේය. යම් සේ ගින්නෙහි දැමූ බීජය නැසෙන්නේද, නොවැඩෙන්නේද එමෙන් අසත් පුරුෂයන් කෙරෙහි කළ ගුණය නසන්නේය, නොවැඩෙන්නේය, නිෂ්ඵල වන්නේය.

තමන්ට කිසිම කාලයක උපකාරයක් නොකළ කෙනෙකුට, යමෙක් පළමු කොටම ඉතා සුළු උපකාරයක් නමුත් කරනව නම් ඔහු සිද්ධ කරන්නෙ ඉතා දුෂ්කර දෙයක්. ඒ නිසා ඒක, කළ උපකාරයක් විදිහට සලකල පසුව කරන උපකාරයකට වඩා සිය දහස් ගුණයකින් වටිනවා. ඒ නිසා පළමු උපකාරය කළ තැනැත්තා, උපකාර ලැබූ අයගෙන් තමන් ලත් උපකාරයට වඩා සිය දහස් වාරයක් අධික කොට උපකාර ලැබිය යුතු බව මහා අස්සාරෝහ ජාතකයෙන් දැන ගන්න පුළුවන්. ඒ වගේම තමන්ට සුළු උපකාරයක් නමුත් කළ අයට කිසිම දිනක අනුපකාරයක් නොකළ යුතුයි. යමෙක් එහෙම කරනව නම් ඒ මිත්‍ර ද්‍රෝහියෙක්, පරම අසත්පුරුෂයෙක්.

යම් ගසක සෙවණ යට හිඳ ගත්තේ හෝ සයනය කළේ හෝ වේද, ඔහු විසින් ඒ ගසේ අතු කොළ නොකැඩිය යුතුය. යමෙක් අතු කොළ කඩයිද, ඔහු මිත්‍ර ද්‍රෝහියෙකි.

සෙවණ දුන් ගසට පවා මේ විදිහට නපුරක් නොසිතිය යුතු නම්, උපකාර කළ අයට නපුරක් සිතීම ගැන අමුතුවෙන් කියන්න දෙයක් නෑ. ඒ නිසා යමෙක් උපකාර කළ අයට අනුපකාර කළා නම් ඒ පුද්ගලයා බරපතල අපරාධකාරයෙක්. ඔහු තමන්ගෙ ඒ අපරාධය නිසා දෙලොවම විනාස කර ගන්නවා. සත්පුරුෂයන්ට ද්‍රෝහිකම් කරල ඒ ආත්මයේදීම විපාක දීපු ආකාරය මහා කපි ජාතකයෙන් ඔප්පු වෙනවා. වඳුරෙක් වෙලා උපන් බෝධි සත්වයින් වහන්සේ මහ වළක වැටිල හිටපු එක මනුස්සයෙක් ඉතා දුක සේ ඒ වළෙන් ගොඩට අර ගෙන ඔහුගේ ජීවිතය රැකල දුන්නා. ඒ අසත් පුරුෂයා තමන්ගෙ ජීවිතය රැක දුන්න බෝසත් වඳුරා මරා මස් කෑමේ අදහසින් ගලකින් හිසට පහර දුන්නා. බෝසත් වඳුරා පැනල ගිහින් දිවි රැක ගත්තා. ඒ අකෘතඥ පුරුෂයා කරපු අපරාධයෙන් ජීවිතයට හානියක් නොවුනත් බෝසත් වඳුරාගේ හිස තුවාල වුණා. මරන්න කරපු උත්සාහය නිසා ඒ දුෂ්ට ක්‍රියාවේ ප්‍රතිඵලයක් වශයෙන්, දරුණු කුෂ්ඨ රෝගයක් වැළඳිලා පිපාසයෙන් පීඩිත වෙලා ඒ අත්බැවේදීම මනුස්ස ප්‍රේතයෙක් වෙලා, දීර්ඝ කාලයක් බොහෝ දුක් විඳල නිරයේ උපන්න බව සඳහන් වෙනවා.

සුළු ද්‍රෝහී කර්මයට ඒ පුද්ගලයට එච්චර විසාල දරුණු විපාක ලැබුනෙ, තිරිසනෙක් වුනත් බෝධිසත්වරුන්ගේ තියෙන ගුණ මහත්වය නිසා. ඔහු ඒ විදිහට මැරීමට තැත් කිරීමෙන් පසුවත්, හිසින් ගලන ලේ අතින් පිස දමමින් ඒ මිත්‍ර ද්‍රෝහී පුරුෂයාට අනුකම්පා කරල, ඔහුට මනුස්ස පථයට යන්න ගසින් ගසට යමින් මග පෙන්වා දුන්නා. බෝසත් වඳුරගෙ තිබිච්ච කරුණා ගුණය ඒකෙන් මැන ගන්න පුළුවන්.

මේ වගේ කරුණා ගුණ තියෙන මව්පිය ගුරුවර ආදීන්ට ද්‍රෝහිකම් කරන අයටත්, මෙලොවදීම දරුණු විපාක ලැබෙන බව ලෝකයේ සිද්ධ වෙන ප්‍රවෘත්තිවලින් ඔප්පු වෙනවා. ලෝකයේ කළ ගුණ දත් ඉතාම ස්වල්ප දෙනෙක් පමණක් ගුණ සලකල මව්පිය ආදීන්ට සංග්‍රහ කරනවා. ඔවුන් ලෝකයාගේ ප්‍රසංසාවට භාජනය වෙලා මරණින් මතු ස්වර්ගයටත් යනවා.

යෝ මාතරං වා පිතරං වා
ජිණ්ණකං ගත යොබ්බනං
පහු සන්තෝන හරතී තං
පරාභවතෝ මුඛං

<u>අග්ගික්ක භාරද්වාජ (වසල) සූත්‍රයේ</u> එන ඉහත ගාථාවෙන්, මහළු දෙමව්පියන්ට නොසලකන දරුවන් පරිහාණියට පත් වෙන බවත්, දෙමව්පියන්ට නොසලකන දරුවන් වසලයන් වන බවත් දේශනා කළා. නොකළ යුතු දේ කිරීමත්, කළ යුතු දේ නොකිරීමත් කියන දෙකම, තමන්ට උපකාර කළා වූ මව්පිය ආදීන්ට නොකළ යුතු දේ සිදු කිරීම, සිදු කළ යුතු දේ නොකිරීම නම් වූ පාපයට අයිතියි. ඔවුන්ට ද්‍රෝහිකම් කළොත්, නොකළ යුත්ත කිරීම නම් පාපයට අයිති වෙනවා. ඒ නිසා යහපත කරල දුන් අයට යුතුකම් ඉටු කිරීම දෙලොව වැඩ සලසා ගැනීමට උත්සාහ කිරීමක් වෙනවා.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

# වාස්තු විද්‍යාවේ හේතු ඵල සම්බන්ධය දහම් ඇසින් ....

**7 වන කොටස**

මනුස්සයින්ට විතරක් නෙවෙයි, ගස්වැල්වලට පවා දිසාවන් බලපාන බවත්, ඒ අනුව ගහකොළ හට ගත් පරිසරය අනුව පවතින චුම්භක ශක්තීන්ට අනුරූපව ඒ ඒ ගස්කොළන්වල වැඩීම සිදුවන බවත් පසුගිය කලාපයෙන් පැහැදිලි කළා. දැන් ගහකට කාන්දම් ශක්තිය බලපානවයි කිව්වම, සමහර මූලික භෞතික විද්‍යාව පමණක් දන්න අයට ගැටළුවක් එන්න පුළුවන්, කොහොමද එහෙම වෙන්නෙ කියල. ඒ වගේ අවස්ථාවක අත්හදා බලන්න පුළුවන් සරල ප්‍රායෝගික පරීක්ෂණයක් තියෙනවා. මේ පරීක්ෂණය දැනටමත් අත්හදා බලපු එකක්.

සමානව වැඩුණු එක වගේ මිරිස් පැළ 4 ක් අරගෙන, එකම ජාතියේ එකම ප්‍රමාණයේ පස් නියැදි 2 ක්, එක වගේ පොඩි භාජන 2 කට දමල, ඒ එක භාජනයක මිරිස් පැළ 2 බැගින් හිටවනවා. දැන් මේ භාජන 2 සාමාන්‍යයෙන් අඩි 4 ක් විතර පරතරය ඇතිව එකම පරිසර සාධක යටතේ තියෙන්න හරිනවා. ඒ කියන්නෙ වාතාශ්‍රය, හිරු එළිය, ජලය ආදිය සමානව ලැබෙන්න ඕන. මේ භාජන 2 ට හැමදාම උදේට ප්‍රමාණවත් තරම් එකම ජල ප්‍රමාණයක් දානවා. ඊට අමතරව වෙන මුකුත් පොහොර ආදිය දාන්නෙ නෑ. මේ එක භාජනයක් පාලක පරීක්ෂණයක් විදියට තියා ගෙන, අනෙක් භාජනයට විතරක් ආර්ය මෛත්‍රී භාවනාව හෝ තමන් දන්න ලෞකික මෛත්‍රී භාවනාවක් වඩනවා. ඒ කියන්නෙ තමන්ගෙ දකුණු අත ඒ එක නියැදියක් (භාජනයක්) දිහාවට දික් කරල, ඇස් දෙක පියාගෙන, මේ ගස් නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, සුවපත් වෙත්වා, දුකින් මිදෙත්වා, නිවන් දකිත්වා කියල විනාඩි 2 - 3 ක් විතර වඩන්න ඕන. ඒ විදියට හැමදාම උදේට මාසයක් විතර යනකල් මේ පරීක්ෂණය කරන්න ඕන.

දැන් කෙනෙකුට තවත් ගැටළුවක් එන්න පුළුවන්, ගහක් කොහොමද නිවන් දක්වන්නෙ, ගහකට මොකටද මෛත්‍රී කරන්නෙ, මේ මොන විකාර වැඩක්ද කියල. නමුත් මේ, ගහ නිවන් දක්වන්න හදනව නෙවෙයි, ගහකට විද්‍යුත් චුම්භක කිරණ, එහෙම නැත්නම් කාන්දම් ශක්තිය බලපාන බව පෙන්වන්නයි ඒ විදියට කියන්නෙ. එතකොට නිකම්ම වැඩකට නැති වචන ටිකක් කිව්වට වෙනසක් පෙන්වන්න බැරි නිසා තමයි, මහ ප්‍රබල ශක්තියක් නිකුත් වන මෛත්‍රී භාවනාව වඩල, මේ ගස්වලට චුම්භක ශක්තිය බලපාන බව පෙන්වන්න හදන්නෙ. ඒ කියන්නෙ වීතරාගී, වීතදෝසී, වීතමෝහී ගුණවලින් නැගෙන ප්‍රභාෂ්වර කිරණ හෝ ලෞකිකව පහළ වන අලෝභ, අදෝස, අමෝහ ගුණවලින් නැගෙන සුදු කිරණ ශක්තිය. ඒ පිටවන විද්‍යුත් චුම්භක කිරණ මනුස්සයගෙ ඕරා වළල්ලත් එක්ක සම්බන්ධයි. ඒ නිසා පරීක්ෂණයේ අරමුණ මොකක්ද කියල දැන ගන්න ඕන.



දැන් මේ විදියට මාසයක් විතර කළාට පස්සෙ, මේ නියැදි දෙකේ ඉතා පැහැදිලි වෙනසක් දැක බලා ගන්න පුළුවන්. අර මෛත්‍රී භාවනාව වඩපු නියැදියේ තියෙන පැළ 2 හොඳට කොළ පාටට සශ්‍රීකව හැදිල, සමහර විට කාලය සම්පූර්ණ නම් ඵල දරලත් තියෙන්න පුළුවන්. පුළුවන් උපරිමයෙන්ම ඒ පැළ 2 වැඩෙනවා. ඒ වගේම අනික් නියැදියේ පැළ 2 නිකන් කේඩෑරි ගැහිල කුරු වෙලා සත්තු ගහල තියෙනව දකින්න පුළුවන්. ඒකට කෘමි උවදුරුත් බහුලයි. ඒ ගස් දෙක අර වගේ සරුවට වැඩිල නෑ. දැන් එතකොට මේ නියැදි 2 ටම කිසිම පොහොරක් දැම්මෙ නෑ. ජලය විතරක් සමානව දැම්මා. අනික් සාමාන්‍ය පරිසර සාධක සමානව ලැබෙන්න සැලැස්සුවා. එකම වෙනස, අර එක නියැදියකට අත දික් කරල මෛත්‍රී භාවනාව වැඩුවා. එතකොට මොකක්ද ඒකෙන් ආපු වෙනස?

**මනුස්සයෙක්ගෙ ශරීරය වටේට තියෙන ඕරා වළල්ල හරහා යන්ත්‍රයකින් වගේ කිරණ නිකුත් වෙනවා. අර විදියට මෛත්‍රී භාවනාව වඩනකොට ඕරා වළල්ලෙන් පිටවෙන්නෙ සුදු පාට සුද්ධ කිරණ. ඒ සුද්ධ කිරණ හරි ප්‍රබලයි. ඒවත් විද්‍යුත් චුම්භක තරංග වර්ගයක්.** එතකොට ඒ කිරණ අත දිගේ ඇවිත් අර නියැදියේ තියෙන පැළ 2 කටත් ලැබෙනවා. ඒ විදිහට අමතරව දීපු ඒ සුද්ධ කිරණ ශක්තිය නිසා තමයි, ඒ පැළ දෙක හොඳින් වැඩෙන්නෙ. අනෙක් පැළ දෙක සාපේක්ෂව හොඳට වැඩෙන්නෙ නෑ. මේක ඕනෑම කෙනෙකුට ප්‍රායෝගිකව කරල බලන්න පුළුවන් පරීක්ෂණයක්.

හැබැයි මෙතනදි එක නියැදියකට පැළ 2 බැගින්ම ගන්න ඕන කියල නියමයක් නෑ. නමුත් එක පැළයක් ගත්තොත් සමහර විට මොනව හරි හානියක් වෙලා ඒක මැරිල යන්න පුළුවන්. එතකොට පරීක්ෂණය ඔප්පු කරන්න බැරිව යනවා. එකකට වැඩිය ගත්තොත් මේ වගේ විද්‍යා පරීක්ෂණයකදි ඒකට අවශ්‍ය උපරිම සහයෝගයක් ලැබෙනවා. එතකොට පාලක පරීක්ෂණය ප්‍රබලයි. ඒ වගේම ඒ පැළ දෙකම එක වගේ වැඩීමෙන් පරීක්ෂණය ඔප්පු කරන්නත් පහසුවක් වෙනවා. මොකද යම් කිසි විදිහකින් පැළ දෙකෙන් එකක් විතරක් වැඩිල අනික අසාර්ථක වුනොත් එතන මොනව හරි ගැටළුවක් තියෙනවා. සමාන තත්ත්වයන් පැළ දෙකටම තිබුන නම්, මේ කියන කාරණය නිවැරදි නම් එහෙම වෙන්නත් බෑ. ඒ නිසා එක නියැදියකට පැළ දෙකක් නෙවෙයි, ඊට වඩා වැඩි ගණනක් ගත්තත් ගැටළුවක් නෑ. පැළ සංඛ්‍යාව වැඩි වන තරමට නියැදි දෙකේ වෙනස හොඳට දැක බලාගන්න පුළුවන්. ඒ කියන්නෙ අර පිටතින් දීපු ප්‍රත්‍යය නිසා ඒ වෙනස ☞

සිදු වෙච්ච බව පැහැදිලිවම පේනවා.

මෙතනදි බාහිරින් ප්‍රත්‍යය දීපු නියැදියේ පැළවල ප්‍රභාසංස්ලේෂක ක්‍රියාවලිය උපරිමයෙන් සිද්ධ වෙනවා. ඒකට අවශ්‍ය ප්‍රත්‍යය තමයි අර විදිහට මෛත්‍රී භාවනාවෙන් දෙන්නෙ. ප්‍රභාසංස්ලේෂණයට විශේෂයෙන් හිරු එළිය අවශ්‍යයි. හිරු එළිය නැත්නම් කළුවරේ තිව්වොත් ඒක සිද්ධ වෙන්නෙ නෑ. ඒ හිරු එළිය නිසා ශාකය ඇතුලෙ යම් කිසි රසායනික ක්‍රියාවලියක් සිද්ධ වෙනවා. නමුත් මේ මෛත්‍රී භාවනාවෙන් දෙන සුදු කිරණ ශක්තිය සාමාන්‍ය හිරු එළියෙන් එන ශක්තියටත් වඩා ප්‍රබලයි. වීතරාගී, වීතදෝසී, වීතමෝහී ගුණ නිසා, එහෙම නැත්නම් අලෝභ, අදෝස, අමෝහ සහිත ගුණ නිසා ඒ සුද්ධත්වය තවත් ඉහළ යනවා. ඒ නිසා අධ්‍යාත්මික ශක්තිය හොඳින් වැඩිච්ච, ධර්මාවබෝධයට පත් වෙච්ච කෙනෙක් මේ පරීක්ෂණය කළොත් ඒ ප්‍රතිඵල තවත් වැඩි වෙනවා. එතකොට පැහැදිලිවම මෙතන තියෙන්නෙ සුද්ධ භාවය නිසා ලැබෙන ශක්තියක්.

උදාහරණ විදිහට අපි වතුර බොන කොට අපිරිසිදු වතුර බිව්වොත් ශරීරය ලෙඩ වෙනවා, ශරීර ක්‍රියාකාරීත්වයට බාධා එනවා. නමුත් සාමාන්‍යයෙන් පිරිසිදු වතුර බිව්වොත් ඒ ගැටළුව එන්නෙ නෑ. ඒ පිරිසිදු වතුර තවත් පෙරල අරගෙන සුද්ධ විදිහටම බිව්වොත් හොඳටම හොඳයි. අන්න ඒ වගේ අර සුද්ධ කිරණ දුන්නම අභ්‍යන්තරයේ නිෂ්පාදනය වන ඒවත් සුද්ධයි. **විශේෂයෙන් දැන් මනුස්සයින්ට තියෙන හුඟක් ලෙඩ රෝගවලටත් මුල, ආහාරපානවල තියෙන අධික වස විස නිසා ඇති වන අසුද්ධතාවය.** එහෙම නැත්නම් ආහාර පාන ගත්තයි කියල වස විස වීමක් වෙන්නෙ නෑ. එතකොට ආහාර වුනත් මේ විදිහට සුද්ධ ඇතිව හදා ගන්න පුළුවන් නම් ඒකෙන් ලැබෙන ප්‍රත්‍යය ඉතා ප්‍රබලයි.

ඊළඟට දිසාව ගැන කතා කරනකොට තවත් වැදගත් කාරණයක් තමයි, ගෙයක් හදනකොට ඒ නිවසේ දිශානතිය / හැඩ ගැසීම / පිහිටීම (Orientation) ප්‍රධාන දිසාවන්වලට මුහුණ දාල ඉදි කිරීම. ගේ පිහිටීම අනු දිසාවකට මුහුණ දාල හැදුවොත් විනාසයන්ට, කරදර බාධකවලට ගොදුරු වෙන්න සිද්ධ වෙනවා. එහෙම වුනොත් පරම්පරාවම වැනසෙන්න හේතු වෙන බව පැරණි පොත්පත්වලත් විශේෂයෙන් සඳහන් කරල තියෙනවා. ඒ කියන්නෙ ගෙදර ප්‍රධාන අතක් අනු දිසාවකට, වැටුනොත් ඒක ලොකු දෝසයක්. මොකද, ලැබෙන්න තියෙන ප්‍රධාන ශක්තීන්ගෙන් 50% ක්ම අඩු වෙනවා.

මෙතනදි අනු දිසාවන් නරකයි කියන එක නෙවෙයි කියන්නෙ. මොකද දිසාවන් ගත්තම සුද්ධම දිසාව වෙන්නෙත් අනු දිසාවක් වන ඊසාන දිසාව. නමුත් ප්‍රධාන ශක්තිය එන්නෙ ප්‍රධාන දිසාවල් හතරින්. අනු දිසාවකට හිටින්න ගේ හැදුවම උතුර, නැගෙනහිර වගේ ප්‍රධාන දිසාවල්වලින් එන ශක්තිය නොලැබී යනවා. ඒ නිසා විශේෂයෙන්ම ප්‍රධාන දොරවල් දාන කොටත්, ප්‍රධාන දිසාවල් හතරට හිටින්න දානව නම් තමයි අත්‍යවශ්‍ය ශක්ති ප්‍රභේද ඇදිල එන්නෙ. උතුරට දොරක් දැම්මොත් කාන්දම් ශක්තිය ඕනෑ තරම් ඇදල එනවා. නැගෙනහිරට දැම්මොත් කොස්මික් ශක්තිය ඕනෑ තරම් ඇදල එනවා.

මේ විවිධාකාර ශක්ති නිර්මාණය වීමත් පටිච්ච සමුප්පන්නව සිද්ධ වෙන දෙයක්. උදාහරණ විදිහට උතුරෙන් එන කාන්දම් ශක්තියේ නිර්මාණය වීම මේ විදිහට කෙටියෙන් පහදන්න පුළුවන්. **මුලින්ම ආභස්සර බ්‍රහ්ම ලෝකයේ ඉඳන් ආපු ආදි බ්‍රහ්ම කල්පික මනුස්සයින්ගෙ ගුණ බය වෙච්ච අන්දම (පහත් බවට පත් වෙච්ච ආකාරය) තමයි කාන්දම කියන්නෙ.** ඒ කියන්නෙ මුලින්ම මේ විදිහට ඝන පෘථිවියක් තිබුනෙ නෑ. ඒ ආදි බ්‍රහ්ම කල්පික මනුස්සය ක්‍රමයෙන් දස අකුසලයට බර වීම නිසා, තිබිච්ච ගුණවලට අදාල ශක්තිය පිට වෙලා ගියා. අන්න ඒ බය වෙච්ච අන්දමින් තමයි කාන්දම හැදුනෙ. බය වුනේ ඇලීම සහ ගැටීම නිසා. ඒ නිසා තමයි කාන්දම්වල උත්තර ධ්‍රැවය, දක්ෂිණ ධ්‍රැවය කියල දෙකක් හැදිල තියෙන්නෙ. මනුස්සයින්ගෙ බය වෙච්ච අන්දම අනුව හැදිල තියෙන ගතිය තමයි ඒ ධ්‍රැව දෙකෙන් පෙන්වන්නෙ.

ඒ කියන්නෙ මේ ලෝක සත්වයො සතර මහා භූතවලින් හැදිච්ච ද්‍රව්‍ය වස්තුවලට මූලිකවම ඇලෙන්නෙ ගැටෙන්නෙ රාගයයි, ද්වේශයයි මුල් කර ගෙන. ඇලීමයි ගැටීමයි මූලික ආරම්භය කර ගෙන ආදි බ්‍රහ්ම කල්පික මනුස්සයින්ගෙ තිබිච්ච නොඇලෙන, නොගැටෙන ගතිය පිට වෙන්න පටන් ගත්තා. ඊට පස්සෙ ඒ ඇලීමයි ගැටීමයි දෙක මූලික කර ගෙන උතුරු දකුණු ධ්‍රැව කියල දෙකක් හැදුණා. කාන්දම්වල ඇලෙන්නෙ, ගැටෙන්නෙ මේ ධ්‍රැව දෙක. උතුර - උතුර, දකුණ - දකුණ ගැටෙනවා, විකර්ශණය කරනවා. උතුර - දකුණ ඇලෙනවා. හැබැයි මේ හිතේ තිබිච්ච ඇලීම සහ ගැටීම කියන ගති දෙක තමයි මේ පසුව හටගත් සියලු වස්තුවල මුල. ඒ කාරණය විභංගප්පකරණයේ පටිච්ච සමුප්පාද විභංගයේ එන විඤ්ඤාණ පච්චයා නාම රූපං කියන තැන, නාම රූප කියන්නෙ සතර මහා භූත සහ උපාදාය රූප කියන කාරණයෙන් පැහැදිලි වෙනවා. සතර මහා භූත තව තවත් ඔප් නැංවුනාම හැදෙන රූප තමයි උපාදාය රූප කියන්නෙ. එහෙනම් සතර මහා භූත සහ උපාදාය රූප කියන්නෙ පදාර්ථ නිර්මාණය වන විඤ්ඤාණ පච්චයා නාම රූපං කියන කාරණය.




**අනු දිසාවලට හදපු ගෙයක්**

එතනදි විශේෂයෙන් රාග විඤ්ඤාණය සහ ද්වේශ විඤ්ඤාණය කියල කොටස් 2 ක් තියෙනවා. රාගයෙන් සහ ද්වේශයෙන් තමයි මේ සසර පැවැත්ම ගෙනියන්නෙ. එතකොට රාගයටයි, ද්වේශයටයි බය වෙච්ච අන්දම් (ආකාර) 2 ක් එනවා. ඒක බාහිර ලෝකයට පදාර්ථ ආකාර 2 කට විහිදෙනවා. ලෝක සම්මත විද්‍යාඥයො ඒ දෙක උත්තර ධ්‍රැවය සහ දක්ෂිණ ධ්‍රැවය කියල නම් 2 කින් හඳුන්වනවා. නමුත් ඒ දෙකේ තියෙන්නෙත් ඇලීමේ ගැටීමේ ස්වභාවය. ඇලීමයි ගැටීමයි මුල් කර ගෙන තමයි ඒ ශක්ති 2 බාහිරට නිකුත් වුණේ. විඤ්ඤාණ පච්චයා නාම රූපං කිව්වම විඤ්ඤාණය තමයි මේ කාන්දම් ශක්තියේ නිර්මාතෘ. ඒ

විඤ්ඤාණයට අනුකූල නාම රූප තමයි සතර මහා භූත සහ උපාදාය රූප කියන්නෙ. පදාර්ථ නිර්මාණය වෙන්නෙ ඒවාට අනුකූලව. ඒ පිට වෙච්ච ඒවා ගති ආකර්ශන නියමය අනුව එකතු වෙලා ගුලි ගැහෙනවා. ඒවායින් තමයි පඨවි ආදී ධාතු සියල්ලම නිර්මාණය වෙන්නෙ. ඒ නිසා මුළු විශ්වයේම තියෙන කාන්දම් ශක්තිය හැදෙන්න හේතුව තමයි බය වෙච්ච අන්දම. ඒ කියන්නෙ ආදි බ්‍රහ්ම කල්පික මනුස්සයා පල්ලම් බහින කොට රාගයෙන් ද්වේශයෙන් බය වෙච්ච අන්දම.

එතකොට මනුස්සයින්ගෙ තිබ්බ්ච ශක්තිය පිට වුනා නම්, ඒ පිට වෙච්ච ශක්තිය නැවත ලැබුනම තමයි පූර්ණ වෙන්නෙ. ඒක තමයි මූලධර්මය. ඒ ශක්තිය තමයි පෘථිවියේ උතුරු පැත්තෙන් ලැබෙන්නෙ.

නැගෙනහිර ගත්තම විශ්වයේ තියෙන කොස්මික් කිරණ තමයි එන්නෙ. ඒ කියන්නෙ පෘථිවිය භ්‍රමණය වීම නිසා හට ගන්නා දෙයක්. සුළඟේ තියෙන්නෙත් එක්තරා ශක්තියක්. පෘථිවිය වේගයෙන් කැරකෙන කොට සුළඟෙන් එන ශක්තිය ප්‍රතිවිරුද්ධ අතට ගලා යනවා. අන්න ඒ ශක්තියෙන් තමයි කොස්මික් කිරණ හැදෙන්නෙ. ඒ ශක්තිවලින් යම් කිසි ආකාරයකට පේන මට්ටමේ සනීභවන ඒවා වගේම, තවත් නොපෙනෙන සියුම් ඒවත් තියෙනවා. පෘථිවිය කැරකෙන කොට ඊට විරුද්ධ අතට එන ශක්ති ගලායාම තමයි කොස්මික් කිරණවලින් එන්නෙ. එතකොට සතර මහා භූතයන්ගෙන් වායෝ ධාතුව ගත්තම ඒකෙ ආපෝ, තේජෝ, පඨවි කියන ගති 3 ත් තියෙනවා. පෘථිවිය භ්‍රමණය වීම නිසා ඒ ශක්ති ප්‍රභේද ගමන් කරනවා.

උදාහරණ විදිහට වාහනයක් වේගයෙන් ගමන් කරන කොට වීදුරුව විවෘත කළොත්, ප්‍රතිවිරුද්ධ අතට විශාල වායු ගලනයක් සිද්ධ වෙනවා. ඒක ශරීරයටත් දැනෙනවා. එතකොට ඒ දැනෙන්නෙ වායුවේ තියෙන පඨවි ගතිය නිසා. ඒ වගේ පෘථිවිය භ්‍රමණය නිසා තමයි මේ කොස්මික් කිරණ නිර්මාණය වෙන්නෙ. ඉතින් පෘථිවිය භ්‍රමණය වෙන්නත් හේතුවක් තියෙනවා. මේ ලෝකයේ රාගයෙන් හට ගත්තු දේවල් නිසා තමයි රෝන්දෙ ගහනව කියල දෙයක් තියෙන්නෙ. රුං, රෝන්දෙ ආදී වශයෙන් කියන්නෙ රවුම් ගහනවා, කැරකෙනවා කියන එක. රවුම් ගහන්නෙ මොනව හරි රාග අරමුණක් ඉෂ්ට කර ගන්න. එතකොට රෝන්දෙ ගහන්නම තමයි ඒවා හදා ගන්නෙ. රෝන්දෙ ගහන්නෙ නැතිව ඒ සතර මහා භූතයන්ට පවතින්න විදිහක් නෑ. අන්න ඒ රෝන්ද ගැහීමේ ප්‍රතිඵලයක් තමයි පෘථිවියේ භ්‍රමණය. ඒ භ්‍රමණයෙන් තමයි මනුස්සයින්ට සංසාරයේ රෝන්ද ගහන්න අවශ්‍ය වෙන ශක්තිය නිර්මාණය කරන්නෙ.

ප්‍රාණික් හීලිං කියන ක්‍රමවේදයෙදි, දවල්ට හොඳට හුළං වදින නිදහස් තැනකට ගිහින් අත් දෙක දිග හැරල නිදහසේ හුස්ම ගන්න කියල උගන්වන්නෙත් මේ කියන ශක්ති විශේෂයන් ශරීරයට ලබා ගන්න. භික්ෂූන් වහන්සේලාට දිව උඩුතල්ලෙ තියාගෙන ධ්‍යාන වඩන්න කියල බුදුන් වහන්සේ දීපු උපදේශයක් ත්‍රිපිටකයෙත් තියෙනවා. (ම. නි. 1 - <u>විතක්ක සන්ඨාන සූත්‍රය</u>)

ඒකට හේතුවක් තියෙනවා. නිකං ඉන්න කොට සාමාන්‍යයෙන් මනුස්ස-යෙක්ගෙ ශරීරය වටා තියෙන ඕරා වළල්ල කඩා වැටිල තියෙන්නෙ. හරියට ගහක අතු කඩා වැටිල තියෙනව වගේ. හැබැයි දිව උඩු තල්ලෙ තියල සම්බන්ධ කරපු ගමන්ම අර කඩා වැටිල තියෙන ඕරා වළල්ල තනිකරම කෙළින් වෙනවා. ඒ කියන්නෙ ක්‍රියාත්මක වෙන්න පටන් ගන්නවා. හැබැයි මේ උඩු තල්ල කියන්නෙ, උඩු තල්ලේ මෘදු තල්ල (Soft palate) කියන කොටස. ඒ කියන්නෙ උගුර පැත්තට වෙන්න පිහිටපු මෘදු කොටස. ඒ විදිහට දිව උඩු තල්ලෙ තිව්වම සිද්ධ වෙන යාන්ත්‍රණයක් තියෙනවා. අපේ සහස්‍රා චක්‍රය හරහා විශ්වයත් එක්ක සම්බන්ධ වෙලා තියෙන ශක්ති විශේෂ ශරීරයට ගලා ඒමක් සිද්ධ වෙනවා. අන්න ඒ එන ශක්ති ප්‍රවාහය සුද්ධයි. ඒකෙන් ප්‍රබල චිත්ත ඒකාග්‍රතාවයක් ඇති වෙනවා. මේ ක්‍රමය අද වෙන කොට ප්‍රාණික් හීලිං කියන ක්‍රමවේදයෙනුත් ඔප්පු කරල තියෙනවා.

ඒ කියන්නෙ පුළුවන් තරම් ස්වභාවික ශක්තියට නිරාවරණය වෙලා ඉඳීමෙන් නිරෝගි ශරීරයකින් යුක්තව කාර්යක්ෂමව වැඩ කරන්න පුළුවන් හැකියාවක් ලැබෙනවා. ඒ නිසා වතුර නාන කොටත්, ගෙදර වට කරල කොටු කරල කෘතිමව හදල තියෙන ජල කරාමයකින් නානවට වඩා ළිඳෙන් වතුර ඇදල නෑමෙන් ශරීරයට ලැබෙන ශක්තිය වැඩියි. ගලා යන පිරිසිදු දොළ පාරකින්, ඇළ පාරකින් නෑමෙන් ලැබෙන ශක්තිය ඊටත් වඩා වැඩියි.

මුහුදෙ නෑමෙන් තවත් විශේෂ ශක්තියක් ශරීරයට ලැබෙනවා. මොකද මේ මුහුදු වතුර හැදිච්ච ක්‍රමයක් තියෙනවා. ආදි බ්‍රහ්ම කල්පික මනුස්සයො පල්ලම් බහින කොට, එදා තිබ්බ්ච සුද්ධ ගුණවලට අදාල ශක්තිය ක්‍රමයෙන් පිට වුනාට පස්සෙ ළය වණ වෙන්න ගත්තා. එහෙම නැත්නම් ලූ වුනා කියන්නෙ ඉවතට ලැවා කියන එක. ඒ ශක්තියෙන් තමයි ලවණ හෙවත් ලුණු හට ගත්තෙ. අඳ බව මුසු කරල, කෲර බව දියත් කරල කටයුතු කරන කොට පිට වෙච්ච ඒ සුද්ධ ශක්තිය තමයි මුහුදේ / කරදියේ, ලුණු / ලවණ විදිහට තැන්පත් වෙලා තියෙන්නෙ. ඒ නිසා තමයි කන බොන හැම ආහාරයකටම වගේ ලුණු දාන්නෙ. ලුණු දැම්මෙ නැත්නම් කන්න බෑ, රස නෑ. මොකද එදා තිබ්බ්ච ශක්තිය ඉවත් වුනාම ඒ ප්‍රණීතය නැවතත් ගන්න නම් පිටින් මොනව හරි එකතු කර ගන්න වෙනවා. ඒක තමයි ලුණුවලින් කරන්නෙ. මුහුදු වතුරෙන් නැවමත් ශරීරයට ඒ ශක්තිය ලැබෙනවා. ඒ නිසා තමයි **දැඩි මානසික ආබාධ තියෙන අයට නිතර නිතර මුහුදෙ නාන්න කියල මනෝ විද්‍යාවෙත් උපදෙස් දෙන්නෙ. ඒක වෙනම ප්‍රතිකාරයක්.** මුහුදෙ නාන කොට අමුතු ජවයක් ශක්තියක් ලැබෙනවා. මුහුදු වතුරෙන් ඒ ශක්තිය ශරීරයට උරා ගෙන, අඩු වෙච්ච ශක්තිය පිරෙනවා. ළය වණ වෙච්ච ගතියෙදි පිට වෙච්ච හොඳ ශක්තිය නැවත ලබා ගැනීමක් තමයි ඒකෙන් සිද්ධ කරන්නෙ. ඒක එක්තරා ප්‍රයෝග සම්පත්තියක්.

මෙතනදි ගලා යන ජල පහරකත් විශේෂත්වයක් තියෙනවා. එක තැනක තියෙන ජල කඳට හරියට ඔක්සිජන් ආදිය උරා ගන්නෙ නෑ. ගලා ගෙන යන කොට විචලනය වීමක් සිද්ධ වෙනවා, වාතනයක් (Aeration) වෙනවා. එතකොට විශ්වයේ තියෙන සුද්ධ ශක්තිය හොඳින් උරා ගන්නවා. ඔක්සිජන් වායුව වගේ අත්‍යවශ්‍ය දේවල් උරා ගෙන, සත්ත්වයින් නිසා අපවිත්‍ර වෙච්ච දේවල්, කාබනේට් සල්ෆේට් වගේ අනවශ්‍ය අපද්‍රව්‍ය ඉවත් කිරීමක් සිද්ධ වෙනවා. ඇල දොළ ආදියේ ජලය ගල් උඩින් වැටි වැටී ගලා යන කොට විශේෂයෙන් ඒ කාරණය හොඳින් සිද්ධ වෙනවා. එතකොට අපේ ශරීර, පදාර්ථ කියල ගත්තට ඇත්ත වශයෙන්ම නිතරම කම්පනය වන පොදියක්. ඒ මස් ලේ කයේ කිරණ කයක් වෙනම තියෙනවා. ඒක නිතරම කම්පනය වෙනවා. එහෙම නැතිව ස්ථිරවම නිශ්චලව පවතින එකක් නෙවෙයි. කම්පනය වෙවී මොහොතක් මොහොතක් පාසා වැය වෙච්ච ශක්තිය නැවත ලබා ගන්නවා. ඉතින් අර වගේ මුහුදෙ නාන කොට, මුහුදු වතුරේ තියෙන ශක්තිය ශරීර කම්පනය ඔස්සේ ශරීරයට උරා ගැනීමක් සිද්ධ වෙනවා. ඒ නිසා

මේ ජලය තියෙන ස්ථානය අනුවත් ඒවායේ පිහිටි ශක්තිවල වෙනස්කම් තියෙනවා.

දැන් අනු දිසාවකට හිටින්න ගේ හැදුවම ප්‍රධාන දිසාවට අංශක 45 ක කෝණයකින් හිටින නිසා, අර ලැබෙන්න තියෙන ශක්තිවලින් භාගයක්ම නොලැබී යනවා. ඒ නිසා වාස්තු විද්‍යාව ගැන දන්න කෙනෙක් අනු දිසාවලට හිටින්න ගෙවල් හදන්නෙම නෑ. දැන් මේ කාරණය හොඳට පැහැදිලිව දැක බලාගන්න පුළුවන් අවස්ථාවක් තමයි අනුරාධපුර, පොළොන්නරුව වගේ ප්‍රදේශවල තියෙන අපේ පැරණි බෞද්ධ සිද්ධස්ථාන සියල්ලම ප්‍රධාන දිසාවන්වලට හිටින්න තමයි හදල තියෙන්නෙ. අන්තර් ජාලයේ Google Earth වලට ඇතුල් වෙලා බැලුව නම් ඒ කාරණය පැහැදිලිව දැක බලාගන්න පුළුවන්. ඒ ප්‍රදේශවලට ගියපු අවස්ථාවක මාලිමාවක් තියල බැලුවත් ඒ කාරණය තහවුරු කර ගන්න පුළුවන්.

වාස්තු විද්‍යාවෙදි අනික් සියලු දෝස හදන්න පුළුවන් වුනත්, ප්‍රධාන දිසාවලට නොදා අනු දිසාවලට හිටින්න ගෙයක් හැදුවොත් එන දෝසය එහෙම හදන්න බෑ. මොකද අංශක 45ට හැදුවම ගේ කරකවන්න බෑ. එතකොට ගේ මුල ඉඳලම කඩල හදන්න වෙනවා. වෙන විකල්පයක් නෑ. හැබැයි ඒකටත් ගේ කඩන්නෙ නැතිව පුංචි උපක්‍රමයක් යොදන්න පුළුවන් වුනත්, ඒක හැම තිස්සෙම හැම එකකටම සාර්ථක වෙන්නෙ නෑ. සාර්ථක වුනත් එක්තරා ප්‍රමාණයක් විතරයි.

එතනදි ගේ වටේට තියෙන ප්‍රධාන දොරවල්, ප්‍රධාන දිසාවලට එන්න කෙලින් කරන ක්‍රමයක් තියෙනවා. ඒ කියන්නෙ බිත්තියෙන් පිටට අංශක 45 ක් විතර කරකවල, ගැලපෙන්න පෙනුම එන විදිහට දොර කෑලි 2 ක් දානවා. හැබැයි ඒකත් ගේ ඇතුලට එන විදිහට වෙනස් කරන්න පුළුවන් නම් වඩා පහසුයි. මොකද ගේ පිටින් දැම්මම, අමතරව අත්තිවාරමක් දමල නැවතත් ගෘහ මූලිකයගෙ අත් රියනට ගැලපෙන විදිහට වර්ගඵලය ගන්න වෙන නිසා කරදරයි.

දැන් බිත්තිය ප්‍රධාන දිසාවට අංශක 45 ක් ආනත වුනාම දොර අංශක 90 ක් ආනතයි. ඒ කියන්නෙ ප්‍රධාන දිසාවකට මුහුණ හිටිනවා. මොකද කැරකිච්ච අංශක 45, තවත් අංශක 45 ක් කරකවන කොට කෝණය අංශක 90 ක් වෙනවා. ගේ වටේටම තියෙන දොරවල් සියල්ලම මේ විදිහට දාන්න පුළුවන් නම් ඒ දෝසය තරමක් දුරට මග හැර ගන්න පුළුවන්. එතකොට ප්‍රධාන දොරවල්වලින් තමයි ඒ දෝසය වෙනස් කරන්නෙ. මොකද දොරවල් දාල තියෙන දොර කවුළුවලින් තමයි ගෙදරට ශක්තිය අදින්නෙ. නමුත් ගේ තියෙන සියලු දොරවල් ඒ විදිහට වෙනස් කරන්න ඕන නෑ. ගේ පිටින් තියෙන ඒවා විතරයි වෙනස් කරන්න ඕන. මොකද පිට දොරවල්වලින් ගේ ඇතුලට ශක්තිය ඇදිල ආවට පස්සෙ ඒ ශක්තිය ගේ ඇතුලෙ කොහොමත් කැරකි කැරකි තියෙනවා. ඒ නිසා පිටින් ශක්තිය අදින්න තියෙන දොරටු, හරියට ප්‍රධාන දිසාවන්වලට මුහුණ දාල තියෙන්න ඕන. හැබැයි මේක පුංචි පැලැස්තරයක් මිසක් 100% ක්ම හරි යන ක්‍රමයක් නෙවෙයි.

**අනුදිසා දෝසය මගහරවා ගන්නා උපක්‍රමයක්**




දිසාව ගැන කතා කරන කොට තවත් වැදගත් කාරණයක් තමයි කුස්සිය සහ වැසිකිලි වළේ පිහිටීම. යම් කිසි විදිහකින් ගෙදර ඊසාන දිගින් කුස්සිය හෝ වැසිකිලි වළ පිහිටියොත් ඒකත් බොහොම නරකට හිටිනවා. මොකද ඊසාන කියන්නෙ සුද්ධම දිසාව. කුස්සිය හෝ වැසිකිලි වළ ඒ දිසාවට හිටියම සුද්ධ දිසාවෙන් එන සුද්ධ කිරණවලට බාධා වෙනවා. අත්තිවාරමේ පටන් වඩු රියන් 60 ක් ඇතුලත පිහිටියොත් ඒ බලපෑම තියෙනවා.

හැබැයි ළිඳක් කපන්න සුදුසුම දිසාව තමයි ඊසාන දිග. නැගෙනහිර සහ උතුරත් හොඳයි. නමුත් ඊසාන විශේෂයි. හැබැයි එතනදි ගේ අත්තිවාරමේ පටන් අඩු ගානෙ වඩු රියන් 7 ක්වත් දුරින් තමයි ළිඳක් කපන්න ඕන. ඒ කියන්නෙ ළිඳේ ඇතුල් පැත්තෙ ගැට්ට තියෙන්න ඕන ඒ දුරින්. එහෙම නැත්නම් ඒකත් දෝසයක් වෙනවා. එතකොට ගේ සහ ළිඳේ අත්තිවාරම එකට අහු වෙන්නත් හොඳම නෑ. අර වගේ වඩු රියන් 7 ක් වත් ඉඩ අරින්න ඕන. පුළුවන් තරම් ඈතින් තිබ්බොත් තරමට හොඳයි. තමන්ගෙ ඉඩමේ වඩු රියන් 60 ක් ඇතුලෙ මේ දෝසවල බලපෑම තියෙන නිසා ගේ අත්තිවාරමින් වඩු රියන් 60 ක් එහා මොන පැත්තෙ ළිඳ පිහිටියත් ගැටළුවක් නෑ. මොකද ඉඩමෙන් ඇතුලෙ තමයි මගේ කියල අල්ල ගෙන ඉන්නෙ. ඒකෙන් පිට අල්ල ගෙන නෑ. මා + ඉම - මා කරපු ඉම. ඒ නිසා මා ඉමෙන් පිට අනිත් ඉඩම්වල ළිඳක්, වැසිකිලියක් තිබුනට තමන්ට මේ ගැටළුව එන්නෙ නෑ. ඉතින් විසාල ඉඩ ප්‍රමාණයක් තියෙන ඉඩම්වල නම් ඒ විදිහට වඩු රියන් 60 ක් ඉඩ අරින්න පුළුවන්. නමුත් අද විශේෂයෙන් නගරබදව තියෙන පුංචි ඉඩම්වල එහෙම කරන්න බෑ. එතකොට වඩු රියන් 7 කට ඉඩ ප්‍රමාණවත් නැත්නම්, අඩු ගානෙ ළිඳ හෝ වැසිකිළි වළ, ගේ අත්තිවාරමට හේත්තු වෙන්නෙ නැති වෙන්න හදන්න වග බලා ගන්න ඕන. ඒ නිසා ඒ දෝස පුළුවන් තරම් අවම වෙන විදිහට හදන්න ඕන.

ඒ කියන්නෙ ළිඳේ තියෙන ආපෝ ධාතුවෙන් එන කිරණ වඩු රියන් 60 ක් ඇතුලත නිවසට ඇදෙනවා. ජල ධාතුව හෙවත් ආපෝ ධාතුවෙන්, ගෙදරට ආපෝ ශක්තිය ඇදල ගන්නවා. එතකොට නිවස ඇතුලෙ ආපෝ හෙවත් ජල ධාතුව වැඩි වෙලා සතර මහා භූතයන්ගෙ අසමතුලිතතාවයක් ඇති වෙනවා. මේ කියන්නෙ විශ්වයෙන් ජලයට ඇද ගන්න ශක්තිය නෙවෙයි. ඒක වෙනම එකක්. පෘථිවියෙන් / පඨවියෙන් වෙනම ශක්තියක් ඇදෙනවා. ජලය කියන්නෙ එක තැනක තියන රවුම් ස්වභාවයක්, ජල කඳක්. වටේට සුළියක් වගේ කැරකිලා ඒකට ශක්තිය ඇදල ගන්නවා. අරීයව තමයි ඒ කිරණ විහිදිලා යන්නෙ. ඒක කිරණ පද්ධතියක්. නිවසේ අත්තිවාරමේ පටන් දුරට යන්න යන්න අරීයව විහිදෙන ඒ කිරණ ශක්තියෙන් එන බලපෑම ක්‍රමයෙන් අඩු වෙනවා.

පොළවෙ තියෙන කම්පනයන් ඔස්සේ තමයි මේ කිරණ අදින්නෙ. කම්පනයක් නොවී කිරණ අදින්න විදිහක් නෑ. හැබැයි මස් ලේ කයට ජේන කම්පනයක් නෙවෙයි මේ කියන්නෙ. එහෙම නැත්නම් ක්‍රියාත්මක වන උපකරණයක් අතින් ඇල්ලුවම දැනෙන ආකාරයේ කම්පනයක් නෙවෙයි. ස්වභාවික සංඛ්‍යාතයට අනුව පොළව කම්පනය වෙනවා. අධික ටෙරා හර්ට්ස්වලින් තමයි ඒ කම්පනය සිද්ධ වෙන්නෙ. ඒ අධික කම්පනය නිසාම ඒක අපිට දැනෙන්නෙ නෑ. අන්න ඒ වගේ

කම්පනය වන ස්ථානයකට, සාපේක්ෂව වැඩි කිරණ ප්‍රමාණයක් ඇදිල එනවා. (Kirchhoff Plate Vibration සිද්ධාන්තය)

ඉතින් වැසිකිළි වළක් හෝ ළිඳක් හෝ ගෙදර කොහේ හරි තැනක හදන්නත් වෙනවා. ඒත් අර වගේ කම්පනය වන අතකට ඒක වැටුනොත් ඒ කිරණ ඉතා වේගවත්ව වැඩි ප්‍රමාණයකින් නිවසට ඇදිල එනවා. අන්න ඒ නිසා තමයි විශේෂයෙන් ඒ කම්පනය වන තැන් මග හැරල පොඩ්ඩක් එහාට මෙහාට කරල ළිඳක් හෝ වැසිකිළි වළක් හාරන්න කියන්නෙ. ඉතින් හරියටම ගෙදර අත්තිවාරමේ ඉඳන් වඩු රියන් 60 ක් දුරින් දානව නම් කොයි පැත්තෙන් කොයි විදිහට දැම්මත් ගැටළුවක් නෑ. මොකද එතකොට ඒ බලපෑම නැති නිසා. නමුත් අද තියෙන පර්චස් 5 - 10 ඉඩම් කෑලිවල ඒ වැඩේ කරන්න බෑ, ඉඩ මදි. ඒ නිසා මේ එන දෝස මග හැරල ළිඳක් හෝ වැසිකිළි වළක් කපා ගන්න ඕන. එහෙම නැත්නම් කොළඹ නාගරික බල ප්‍රදේශවල වගේ, සියලු ගෙවල්වල අපද්‍රව්‍ය බට හරහා ගෙනත් එක පොදු වැසිකිළි වළකට එකතු කරල ඉවත් කරන ක්‍රමයක් සකස් කර ගන්න ඕන.

මේ පින්තූරයේ ඊතලවලින් දක්වල තියෙන්නෙ නිවසකට ශක්තිය ඇදෙන අතවල්. තමන්ගෙ ඉඩමෙ වඩු රියන් 60 ක් ඇතුලත, අන්න ඒ ස්ථාන නොකැපෙන්න, ඒ තැන් මග හැරල තමයි ළිඳක් හෝ වැසිකිලි වළක් කපන්න ඕන. ✓ ලකුණින් දක්වා තියෙන්නෙ ළිඳක් හෝ වැසිකිලි වළක් කැපුවට ගැටළුවක් නොවන ස්ථාන. × ලකුණින් දක්වල තියෙන තැනකට වැටුනොත් දෝස හිටිනවා. මොකද ඒ වගේ තැනකට ළිඳක් හෝ වැසිකිලි වළක් අහු වුනොත් ජලයේ තියෙන ආපෝ ධාතුව ඒ හරහා නිවසට ඇදෙනවා. වැසිකිළි වළක් නම් විශේෂයෙන් අපද්‍රව්‍යත් එක්ක තියෙන කළු කිරණ ඇදෙනවා. එතකොට නිවස ඇතුලෙ සතර මහා ධාතුන්ගෙ අසමතුලිතතාවක් ඇති වෙනවා. වැසිකිලි වළක් අහු වුනාමත් ඒකෙ තියෙන අපිරිසිදු ධාතුව හරහා තමයි කිරණ ගෙදරට අදින්නෙ. එතකොට ඒ අපද්‍රව්‍යත් එක්ක තමයි කිරණ ශක්තියත් ඇදෙන්නෙ.

ඒ නිසා ගෙදර අත්තිවාරම ළිඳේ ආපෝ ධාතුවට අහු වුන ගමන් ඒ හරහා තමයි ඒ නිවසට ශක්තිය අදින්න වෙන්නෙ. ඒකෙන් ඒ කිරණ නිවසට ඇදිල ඇවිත් ගොඩනැගිල්ලේ ආපෝ ධාතු ශක්තිය වැඩි වෙලා ධාතු හතර අසමතුලිත වෙනවා. වැසිකිලි වළක් අහු වුනාමත් ඒ වගේ දෙයක් තමයි සිද්ධ වෙන්නෙ. එතකොට ගෙදරට වදින්නෙම ආපෝ ධාතුව සහ කිරණමය අපද්‍රව්‍ය. හැබැයි මෙතනදි මේ ආපෝ ධාතුව කියන්නෙ ජලය නෙවෙයි. ගෙදර දිය කරල හරින වර්ගයේ ස්වභාවයක් තමයි ඒකෙන් එන්නෙ.

පදාර්ථ ලෝකය ගැන කතා කරන කොට සාමාන්‍ය ලෝක සම්මත මූලික විද්‍යාවෙදි උගන්වන්නෙ ඝන, ද්‍රව, වායු කියල. නමුත් ඒක එච්චර නිවැරදි විග්‍රහයක් නෙවෙයි. දහමට අනුව ගත්තම මේ ලෝකයේ පදාර්ථවලට තියෙන්නෙ ඝන, ද්‍රව, වායු ස්වභාවයට වඩා එහා ගිය පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන ප්‍රධාන ගති හතර. ඒ කාරණය දැන් නවීන විද්‍යාවත් පිළිගන්නවා. දැන් මේ කාරණය ඔප්පු කරන්නත් පුළුවන්. සුළඟ ඇඟේ වදින කොට දැනෙන්නෙ පඨවි ස්වභාවය නිසා. ඒ වගේම අයිස් කියන්නෙ ඝන. වතුර කියන්නෙ ද්‍රව. වාෂ්ප වුනාම වායු. නමුත්



මේ තුනේම තියෙන්නෙ $H_2O$. ඒ වගේම යකඩ කෑල්ලක් අධික උෂ්ණත්වයෙන් රත් කළොත් දිය වෙනවා. තව තවත් රත් කරන කොට වාෂ්ප වෙලා යනවා. එතකොට ඝන, ද්‍රව, වායු කියනවට වඩා එහා ගිය කාරණයක් එතැන තියෙනවා.

ඒ කියන්නෙ උෂ්ණත්වයත් එක්ක තමයි මේ පදාර්ථවල ඒ ඒ ස්වභාවයන් මාරු වෙන්නෙ. ජලය සෙල්සියස් අංශක 0 දි අයිස්, සෙල්සියස් අංශක 100 ට එනකල් ද්‍රව. සෙල්සියස් අංශක 100 පැන්නම වාෂ්ප. එතකොට ඝන, ද්‍රව, වායු කියන අවස්ථා 3 වෙනස් වෙනවා. නමුත් මේ හැම අවස්ථාවකම ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන ගති 4 ම අඩංගුයි. උෂ්ණත්වයත් එක්ක ඒවායේ ස්වභාවයන් අඩු වැඩි වෙනවා. උදාහරණ විදිහට ජලයේ ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන ගති 4 ම තියෙනවා. නමුත් සාමාන්‍ය ද්‍රව මට්ටමේදි ජලයේ ආපෝ ධාතුව වැඩියි. ඒ නිසා ළිං, පොකුණු, ගංගා, ඇල දොළ ආදියේ තියෙන ජලයේ ආපෝ ගතිය වැඩියි. උතුරු ඇන්ටාක්ටිකාව වගේ ප්‍රදේශවලට යන කොට තියෙන මිදිච්ච ජලයේ පඨවි ධාතුව වැඩියි. නමුත් අනිත් ධාතු 3 ත් තියෙනවා. මෙතනදි ඇත්තටම පඨවි කියන්නෙ ඝනයක් කියන එක නෙවෙයි, පඨවි ගතියක්. ඒක තමයි ඇල්ලුවම දැනෙන ගතිය. නමුත් මේ ගතිය කියන කාරණය අද විස්තර කරල දෙන්නෙ නෑ. මොකද ඒ දැනීම නෑ.

ජලය නටන කොට තේජෝ ගතිය වැඩි වෙනවා. වාෂ්ප වෙන කොට වායෝ ගතිය වැඩි වෙනවා. හැබැයි ඒ හැම අවස්ථාවකම සතර මහා ධාතුවම තියෙනවා. ඒවායේ ප්‍රමාණයන් තමයි වෙනස් වෙන්නෙ. එතකොට ගෙදරක තියෙන ආපෝ ගතිය වැඩි වෙන කොට ඒ ගෙදර ඉන්න පුද්ගලයන්ට සෙම් රෝග වැඩි වෙනවා. ඒ ගති වෙනස්වීම නිසා ශරීරයේ නානාප්‍රකාර විසමතාවයන් එන්න පටන් ගන්නවා. ඒ වගේම සම්පත් ලැබීම් පැත්තටත් ඒ කාරණය බලපානවා. විශේෂයෙන් ගෙවල් මැද පොකුණු හදල මාළු ඇති කරන කොටත් ඒ කාරණය මහ විනාසයකට මුල පුරනවා. මොකද එක පැත්තකින් බ්‍රහ්ම කිරණ අදින බ්‍රහ්ම පාදයේ සතර අපාගත සත්තු ඉන්න කොට, ඒ සුද්ධ කිරණ අදින්න වෙන්නෙ ඒ සත්තුන්ගෙ ඕරා වළලු හරහා. අනෙක් පැත්තෙන් ආපෝ ධාතුවේ බලපෑම. එතකොට ඒ සුද්ධ ශක්තිය වෙනස් වෙනවා. ඒකෙ ප්‍රතිඵල විදිහට ප්‍රධාන වශයෙන් ගෘහ මූලිකයා මානසිකව නන්නත්තාර වෙන්න හේතු වෙනවා.

යම් කිසි විදිහකින් ළිඳකින් දෝසයක් ආවොත්, ඒ ළිඳ ඉවත් නොකර දෝස මග හරවන එක්තරා උපක්‍රමයකුත් තියෙනවා. ඒ කියන්නෙ පටි වගේ සුදු දිගටි හීන් කොළ තියෙන ''ලකී බැම්බූ'' කියල ගස් ජාතියක් තියෙනවා. තෘණ පඳුරු වගේ තමයි ඒවා හැදෙන්නෙ. ඒ පත්‍රවලින් විහිදෙන්නෙ සුදු කිරණ. අන්න ඒ ජාතියේ පඳුරු ගේ පැත්තයි, ළිඳ පැත්තයි ආවරණය වෙන විදිහට ඒ දෙක අතර හිට වන්න ඕන. එතකොට ළිඳෙන් එන දෝසයක් තියේ නම් කැපිල යනවා. අලුතින්ම ළිඳක් කපනව නම් ඒ දෝස නොඑන විදිහට කපා ගන්න ඕන.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 47 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය -**

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ ඩබ්.ඒ. තිලිණවතී මහත්මිය - කඩවත ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ ස්වර්ණා රණවක මහත්මිය - රත්මලාන - රු.50,000/- ♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ♦ පබසරා අමරසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - පොතුහැර - රු.20,000/ ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/-♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/-♦ එන්.ඒ. ආනන්ද මහතා, එච්.කේ. චාන්දනී, එච්.කේ. චන්ද්‍රානි සහ ඩී.ජී. පොඩිහාමිනේ යන මහත්මීන් - ගාල්ල - රු. 10,000/- ♦ ශීලා පොඩිමැණිකේ මහත්මිය - ආයුර්වේද රෝහල - මීරිගම- රු. 10,000/- ♦ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමගම- රු. 5,500/ ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ සුභාෂ් රණසිංහ මහතා - මගලෙගොඩ - රු. 5,000/-♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 5,000/- ♦ කැස්බෑව මාකන්දන සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,500/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු.3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/-♦ ඩබ්. ප්‍රේමවතී මහත්මිය සහ ඩබ්. නලිනසේකර මහතා - වලල්ලාවිට - රු. 2,500/- ♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම- හෝමාගම - රු. 2,300/- ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ රෝහිනී සුබසිංහ මහත්මිය - ගනේමුල්ල - රු.2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ♦ ඩබ්.ඒ. මහින්ද ජයතිලක මහතා - වෙල්පල්ල - රු.2,000/- ♦ පසන්, දිලීප පුතුන් සමග එම්.ඒ. චම්පා එරන්දතී මහත්මිය - හැටන් - රු. 2,000/- ♦ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු.2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු.1,500/- ♦ වසන්තා කුමාරි මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු.1,500/- ♦ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු.1,500/- ♦ ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ විගණන අංශය - කොළඹ - රු. 1,400/- ♦ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විසාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/-♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/-♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/-♦ රත්න පෙරේරා මහතා ඇතුළු පවුලේ සැම - කැස්බෑව - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/-♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව- රු. 1,000/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ♦ ෂෙහානි බස්නායක මහත්මිය - මත්තෙගොඩ - රු. 1,000/-♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ අසංග සෙනරත් අඹගල මහතා - රදාවාන - රු. 1,000/- ♦ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - දොරණාගොඩ - රු. 1,000/- ♦ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ♦ ලයනල් ප්‍රනාන්දු මහතා ඇතුළු පවුලේ සැම - දාම්පෙ - රු.1,000/- ♦ තිලකසිරි ජයරත්න මහතා - පස්යාල - රු.1,000/- ♦ කේ.ඒ. උදිත පෙරේරා මහතා - කොළොන්නාව - රු. 1,000/- ♦ මහේෂ් ජීවන් කුමාර මදනසිංහ මහතා - මීගමුව - රු.1,000/- ♦ ඩී.එස්. සුමනසිරි මහතා - නෙළුව - රු.1,000/- ♦ අමිල බාලසූරිය මහතා - ඉහළ උඩුගම්පල - රු.1,000/- ♦ ඒ.ඒ. ගීතානි මහත්මිය - මහරගම - රු.1,000/- ♦ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක රු.1,000/- ♦ චමරි රසාංගිකා ප්‍රනාන්දු, චතුරිකා ශානිකා ප්‍රනාන්දු යන මහත්මීන් - මොරටුව - රු.1,000/- ♦ එච්. අචිර කවේශර විජේසූරිය මහතා සහ සීතා ගුණරත්න මහත්මිය - මොරටුව - රු. 1,000/- ♦ කසුන් තාරක වික්‍රමසූරිය මහතා, සිතුමිනි ප්‍රබෝධා මහත්මිය - පානදුර - රු.1,000/- ♦ චන්ද්‍රා පෙරේරා මහත්මිය, ඉසුරු උදාන වික්‍රමසූරිය මහතා - පානදුර - රු.1,000/- ♦ ඒ. විල්සන් පෙරේරා මහතාට සහ එන්. කල්‍යානි පෙරේරා මහත්මියට පිං පිණිස - ජයරානි නිරංජලා අමරතුංග මහත්මිය - රු.1,000/- ♦ සිසිර කුමාර සමරදිවාකර මහතා - එල්ලක්කල, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, පී.එම්. ගමගේ මහත්මිය, ඩබ්.ආර්. ගුණතිලක මහතා - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම,චතුර මල්වාන මහතා - කෑගල්ල, ශ්‍රී රංජිත්සිංහ මහතා - කැලණිය, අජිත් ප්‍රියන්ත මහතා - කෑගල්ල, තිස්ස බී අතාවුද මහතා -

ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා - වැලිපැන්න -කපිල සෝමකුමාර මහතා - වේරගොඩ මුල්ල, පී.ඩී. නයනි නිරෝශිකා මහත්මිය - මීගොඩ, රොෂිකා ප්‍රේමතිලක මහත්මිය - කඩවත, ප්‍රියංකා ඕපාත මහත්මිය - පන්නිපිටිය, කොල්ලුපිටිය හේමාස් ආයතනයේ ගයාන්, ප්‍රියන්ත, මැණික් යන මහත්ම මහත්මීන්, ශ්‍යාමා සංජීවනී ගම්ලත් මහත්මිය - නාරංගස්පිටිය - රු. 10,850/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 255,550/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦ අනෙකුත් වියදම් - 11,120/- ♦ සම්පූර්ණ වියදම - රු. 243,620/- ඉතිරිවන මුදල් පරිත්‍යාග සහ සඟරා අලෙවියෙන් ලැබෙන සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net
www.aaryadharma.org විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථානඃ

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. පෝල්ර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369
10. සමනල පොත්හල - නෙළුව.
11. සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081
12. සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776
13. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
14. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
15. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
16. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023)
17. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# මළාට පසු නැති ලොකුකම්



මම මට මගෙයි කියමින් ඇල්ලුව තරම
අම රස ලෙසින් හිතමින් සිටියද පරම
නොම දී රිසි ලෙසට යම් දින එක වරම
කමකට නැතිව හැර යයි දී ජර මරම



හත් මුතු පරපුරේ වග තුග මෙහෙම වෙතී
අත් කර ගත් ධනය දේපළ එමට ඇතී
පත් වූ නිලතලද කිසි විට දෙවැනි නැතී
මත් වූ තරම සැණකට මේ උඩ පනිතී





මුළු දිවයිනෙන් පළවැනියා වූ පහසින්
තළු මර මරා දෙඩු බස් නිම නෑ දහසින්
සළු පිළි ගන්වලා දෙවියන් සේ අහසින්
පුළුවන් කලදී ගිය මුත් අද නෑ එලෙසින්




කුල මළ ජාති දැන ඉගෙනුම් සිතින් පුරා
අල මුල ගිය තැනද හාරා මතින් සරා
බල බල ගෙවී ගිය කම් ලොකු කමින් දරා
මළ ගිය විටදී ඒවිද යළි තමන් කරා





මෙලෙසින් ලැබුව අත්බැව් අනතෙහි සසර
විලසින් තමන් රිසි විද කොපමණ වසර
වයසින් ගෙවී මළගිය විට නැත හසර
කෙලෙසින් උදා විද දුක් කඳුළැලි විසර



රැක්කත් තමන්ගේ ලොකුකම් ලැබුව හවේ
ගත්තත් ආස්වාදය රිසි ලෙසට නොවේ
ඇත්තත් නොදැක දිවියම හර නැතිව ගෙවේ
සිත් ගත් සියල්ලම හැර තවෙකකට දිවේ



තිරිසන් වුනොත් පෙර ලොකුකම් කෙලෙස දැනේ
පිරිසත් සමග හිමිකම් කියනවද අනේ
බැරි වෙත් එදා මතකය උන් හිටිය තැනේ
හැරියත් මෙකය ගති අනුවය උපත වුනේ




කප් කෙළ කලක අසුරක සැණ ලැගපු සත
හැප්පෙන තරම රැක ගන්නට සැණෙක අත
පුප්පන විගස ගති සැකසී අනුව හිත
ලොප් වෙත සියලු ලොකුකම් හැර දුගති වෙත

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# දහම් දැක වඩන

# කසිනය...





නිවන් දකින කසිනය පෙර - වඩා නිවන් දුටු අය වෙත
එවන් දහම යටපත් කර - හවේ දුවන පිළිවෙත ඇත
නුවන් තියෙන අය අද වුව - නිවේ එදම සිහි කර හිත
මවන් කසිනවල සොබ ගුණ - තමාගෙ ගුණ එ අනුව යත

ජලයෙහි සොබ කෙබඳුද කුණු - කොපමණ වෙද කිළිටිය හැර
එළඹෙයි පෙර තිබු ලෙසටම - නොරැඳෙයි කුණු පිරිසිදු කර
ඇලවෙන හිත එහි සොබ දැක - නොඇලෙයි කෙළෙසුන් මර මර
මුල වෙයි ආපෝ කසිනය - එලෙසින් නිවනට නැත දුර

ගින්නෙහි සොබ කෙලෙසක වෙද - දවා අළු කරයි රොඩු බොඩු
සුන් බුන් පමණක දෙයකද - පවා ඉතිරි නොම වෙත රොඩු
ඉන් එන තේජෝ ගුණ දැක - පමා නොවී හිත ගෙන වැඩු
තුන් දොස සමනය කර ගෙන - නිවා දමනු කඳුළැලි හැඬු

සුළඟට හසු වූ දුගඳක් - මොහොතින් ඈතට විසි කර
පළවා ලැබ සුළු මොහොතක් - වනසයි මුසු වීමට පෙර
මළ කෙලෙසුන් ඇති මනසක් - සුළඟෙහි ගුණ ගෙන දොස මර
එළවා ගනු සිල් සුවඳක් - දුසිලය ගඳ ඉවතට හැර



පටවියෙ සොබ සිහි කළ විට - දැඩි ගතියයි පෙනුමට ඇති
වට පිට මොන දේ දැමුවද - පස වෙයි සරු නිසරුව නැති
පිටතින් කෙළෙසුන් ආවද - මනසට ගෙන පටවියෙ ගති
සටනින් ජය ලැබ ගනු දැන - සසරෙහි බිය සිහි කර නිති

සැනසෙන මග නොව සදහට - සුගතිය මිස නිවනට වන
පින වන ලොව කසිනය වෙද - බඳවයි සසරෙහි තැන තැන
මනසයි මේ සැමටම මුල - කසිනයෙ සොබ මනසට ගෙන
දිනවන සසරෙහි කසිනය - අර ගනු පද අරුතය දැන

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.